




# පෙරදිග පහන

ශ්‍රීමත් එඩ්වින් ආනෝල්ඩ්

චිත්‍ර සහිත නව සංස්කරණය
**පූජ්‍ය වේරගොඩ සාරද මහාස්ථවිර**

පරිවර්තනය
**හඳුපී මහින්ද ජයතිලක**

නිර්මාණ හා සැළසුම්
පියරත්න හේවාබටගේ



**සිංගපූර් බෞද්ධ භාවනා මධ්‍යස්ථානය**
අංක 1, ජලන් මාස් පුටේ
සිංගපූර් 128607
දුරකතන: 7783330, පැක්ස්: 7730150








# පෙරදිග පහන

(චිත්‍ර සහිත ප්‍රථම සිංහල පරිවර්තනය පළමු මුද්‍රණය 01 මැයි 1996)


**ප්‍රකාශක හා සම්පාදක**

පූජ්‍ය වේරගොඩ සාරද මහා ස්ථවිර

(සිංගප්පූරු බෞද්ධ භාවනා මධ්‍යස්ථානාධිපති)

**චිත්‍ර**

සමන් සිරිවර්ධන

ආර්.පී. අබේරත්න

එස්. නිලන්ති චන්ද්‍රිකා වීරසේකර

ටී.ජ්. සෙනාලි වාසනා ගුණරත්න

එස්.පී. කල්‍යාණි ස්වර්ණලතා

එම්. වෝල්ටර් ලාල් බණ්ඩාර

කමනි චම්පිකා ධර්මසේන

බී. කේ. සරෝජනී බෙලිගම්මන

**සැලසුම් සහාය**

සමන් සිරිවර්ධන

ජී. ජ්. අසෝක කමල්සිරි

ලලිත් රෝහන ලියනගේ

චන්ද්‍රා දසනායක

**පරිගණක සැලසුම්**

ට්. සූරවංශ

සුමිත් මීගම

එස්. ජේ. ජයසූරිය

සමන් කුමාරි දොඩංගොඩ

**සහාය**

සැන්ටින් ගුණවර්ධන

නන්දන හේවාබටගේ

බී. දයා සමරසිංහ

**කවරය**

වේරගොඩ ජයන්ති විහාරයේ බුද්ධ ප්‍රතිමා වහන්සේ

**ඡායාරූපය**

බර්ටි ගුණසේකර








# පටුන











*වේරගොඩ ජයන්ති විහාරාධිපති  පණ්ඩිත යටලමත්තේ සිරි වාචිස්සර*
*ජිනරතන වජිරඥාණාභිධාන ගාලු කෝරළයේ ප්‍රධාන සංඝනායක හිමිපාණෝ*

**යො මාං ප්‍රව්‍රජයිත්වා ජනක ඉවමුද මෙහිවෘද්ධිං ව්‍යධත්ත**
**ශ්‍රී වජ්‍රාඥානනාමා යටලමතුරිති ග්‍රාමජාතො යතීන්ද්‍ර:**
**ග්‍රන්ථං තස්මා ඉදං මෙ භවතු ච ගුරවෙ දක්ෂිණාවත් ප්‍රශස්තං**
**පුණ්‍යෙනෙතෙන භූයාත් පරම මමෘතදං ශ්‍රෙයසඤ්චාපිතසෙම**

"මා පැවිදි කරවා පියකු මෙන් සතුටින් මගේ දියුණුව සිදුකළ යටලමත්තේ ශ්‍රී වජිරඥාණ
මාගේ ගුරුදේව ස්වාමීන්ද්‍රයන් වහන්සේට මේ මහගු ග්‍රන්ථය පූජාවක් වේවා. මේ පිනෙන්
උන්වහන්සේට අමා මහ නිවන් සැප ලැබේවා"

රචනය පණ්ඩිත දවුල්දෙන ඤාණිස්සර නායක ස්වාමීන්ද්‍රයන් වහන්සේ







## Kālāma Sutta

*Do not believe in anything (simply)*
*because you have heard it.*
*Do not believe in traditions because they*
*have been handed down for many generations.*
*Do not believe in anything because it is*
*spoken and rumoured by many.*
*Do not believe in anything (simply) because*
*it is found written in your religious books.*
*Do not believe in anything merely on the authority*
*of your teachers and elders.*
*But after observation and analysis,*
*when you find that anything agrees with reason*
*and is conducive to the good and benefit of one and all*
*then accept it and live up to it.*

*BUDDHA*
*(Anguttara Nikaya, Vol. I, 188-193 P.T.S. Ed.)*







# කතෘගේ සංඥපනය



මේ කාව්‍ය ග්‍රන්ථයේදී මා ප්‍රයත්න දැරුවේ, බෞද්ධ ශාසනයේ සමාරම්භකයාණන් වහන්සේ වන, දඹදිව උපන් ගෞතම කුමරුන්ගේ චරිතාපදන ලක්ෂණ සහ ජීවන ප්‍රවෘත්තිය මනඃකල්පිත බෞද්ධ උපාසකයෙකු විසින් පැවසෙන ආකාරයෙන් ඉදිරිපත් කරන්නටය. එසේම, ඒ උත්තරීතර වීරයාණන්ගේ සහ මහා ප්‍රතිසංස්කාරකයාණන්ගේ දහම ප්‍රකාශකොට සිටීමද මගේ ප්‍රයත්නයයි.

මෙයට එක් පරම්පාරවකට පෙර, මේ ශ්‍රේෂ්ඨ සමයවාදය ගැන යුරෝපයෙහි කිසිදු අවබෝධයක් නොතිබිණි. තිබිණි නම් ඒ අල්පමාත්‍ර අවබෝධයකි. එසේ වුවද, මේ මහා ධර්මය, ශතවර්ෂ විසිහතරක් කල් පැවැත්තේය. අද, අනුගාමිකයන්ගේ සංඛ්‍යාවෙනුත්, එය විහිද විසිර පවත්නා ප්‍රදේශයන්ගේ සංඛ්‍යා වෙනුවත් මේ මහා සමයවාදය අන් ආගම් පරදවා ලන්නේය. අපගේ මානව සංහතියෙන් විසිහතර කෝටියක් දෙනා ජීවත්වන්නේත් මැරෙන්නේත් ගෞතම හිමියන්ගේ උගැන්වීම අනුසාරයෙනි. මේ පෞරාණික ආචාර්‍යවරයාණන්ගේ ආධ්‍යාත්මික ආධිපත්‍යය අද, නේපාලයේ සිට ලංකාව දක්වාත්, මුළු නැගෙනහිර අර්ධමහාද්වීපය පුරාත්, චීනය, ජපානය, ටිබැට් දේශය, මධ්‍යම ආසියාව, සයිබීරියාව පමණක් නොව ස්වීඩනයේ ලැප්ලන්තය දක්වාත් විහිදෙන්නේය. මේ විශිෂ්ඨ ආධ්‍යාත්මික අධිරාජ්‍යයෙහි, ඉන්දියාවද ඇතුළු කළ හැකිවෙයි. මක්නිසාදයත් බුදුහිමියන් උපන් බිමෙහි බුදුසමය බොහෝ සේ අප්‍රභව ගොස් තිබෙන නමුත්, වර්තමාන බ්‍රාහ්මණවාදයෙහිද ගෞතම බුදුහිමියන්ගේ ගැඹුරු දහම නොමැකෙන පරිදි සටහන්ව  තිබෙන්නේය. එසේම, හින්දු භක්තිකයන්ගේ විශේෂ ගති පැවතුම් සහ විශ්වාසයන්ද ඉතාම පැහැදිළි ලෙසට බුදුහිමියන්ගේ උගැන්වීම්වල නිර්මල බලපෑම නිසා උද්ගත වුයේවේ. මේ නයින් සළකා බලන කල්හි මානව සංහතියෙන් තුනෙන් පංගුවටත් අධික සංඛ්‍යාවක්, ඔවුන්ගේ ආධ්‍යාත්මික හා සාමයික අදහස් - උදහස් ගැන මේ ශ්‍රේෂ්ඨ කුමරුන්ට ණයගැතිය. එතුමාණන්ගේ චරිතාපදනය අද ලදහැකි මූලාශ්‍රයයන් මගින් අනාවරණය වන්නේ සර්ව සම්පූර්ණාකාරයෙන් නොවුවද, ඒ ශ්‍රේෂ්ඨ චරිතය මානව සංහතියේ දර්ශනවාද පිළිබඳ ඉතිහාසයෙහිදී තව එක් අයකු හැරුනු විට මෙතෙක් පහළ වූ ඉතාම ශ්‍රේෂ්ඨ ඉතාම මෘදු, ඉතාම පූජනීය එමෙන්ම ඉතාම වැඩදයි චරිතාපදනය වශයෙන් පෙනීයෑම සහතිකය. බෞද්ධ ග්‍රන්ථාන්තරයන්හි බොහෝවිට කියැවෙන ඇතැම් දේවල් තරමක් අවිධිමත් වුවද, ඒවා දූෂිත දෙයින් මවාගත් දෙයින් හා වැරදි මත බලින් සිත්පාරන සේ ගහණ වුවද, ඒ ග්‍රන්ථාන්තරයන්හි, දඹදිව පහළ වූ මේ ශාස්තෘවරයාණන්ගේ සර්වසම්පූර්ණ නිර්මල බව සහ මෘදු බව කෙළෙසන කිසිම ක්‍රියාවක් හෝ වචනයක් වාර්තා නොකිරීමේදී මේ ග්‍රන්ථ සියල්ලට ඒකමතික වේ. එතුමාණෝ සිය චරිතයෙහිදී, නියම කුමාර ගති ලීලාවනුත් ඍෂිවරයෙකු සතු ප්‍රඥමහිමයත් ආත්මාර්ථයෙන් තොර වීරයෙකු සතු ගැඹුරු කැපවීමක් එකිනෙක හා සංකලනය කළහ.

බුදුසමයෙහි ආගත බොහෝ තැන් සම්පූර්ණයෙන්ම වැරදි ලෙස තේරුම් ගත් බාතලම් සෙන්ට් හිලෙයාර් මහතා පවා, මහාචාර්‍ය මැක්ස් මුලර් විසින් උපුටා දැක්වෙන පරිදි සිදුහත් කුමරුන්ගේ චරිතාපදානය අගය කරමින් මෙසේ ප්‍රකාශ කරනනේය.








එතුමාණන්ගේ දිවිපෙවෙත අක්ලිෂ්ටය. එතුමන්ගේ අචල වීරත්වය, එතුමන්ගේ විශ්වාසය හා සමග ගැළපේ. එතුමන් විසින් ඉදිරිපත් කෙරෙන න්‍යාය හා සිද්ධාන්ත වැරදි, වුවද එතුමන්ගේ පෞද්ගලික ආදර්ශය සර්වප්‍රකාරයෙන්ම නිර්මලය. එතුමාණෝ තමන් විසින් දේශිත ධර්මයන්ගේ සජීවී මූර්තියයි. එතුමන්ගේ ආත්මාර්ථයෙන් තොරබව එතුමන්ගේ ක්ෂමාශීලීත්වය, එතුමන්ගේ අචල මෘදු බව, මොහොතකට හෝ වෙනස් නොවන්නේය. එතුමාණෝ, සයාවුරුද්දක් මුලුල්ලේ තපෝව්‍රත පුරමින්, බැවුම් වඩමින් නිහඬව නිසලව සිය ධර්මය සකස්කොට ගත්හ. එතුමාණෝ හුදෙක්ම සිය වචනයෙහි බලයෙන් හා අනුන් නැඹුරුකොට ගැනීමේ බලයෙන් ඒ දහම අඩසිය වසරකටත් වැඩි කලක් පතුරුවා ලූහ.

එතුමාණන් සිය ශ්‍රාවකයන් මැද පිරිනිවන් පෑයේ සිය මුළු ජීවිත කාලය පුරාම හොඳක්ම පුරුදු පුහුණු කළ, තමන් සත්‍යය සොයාගත් බව ස්ථිර ලෙසට දන්නා සෘෂිවරයෙකු සතු ශාන්ත බැවිනි.

මේ හේතුකොටගෙන, මානව සංහතිය ජයගැනීමේ වර ප්‍රසාද හිමිවූයේ ගෞතම හිමියන්ටය. එතුමාණෝ වතාවත් යාතුකම් නොතැකූහ. එතුමාණන් නිවන්දොරටුව වෙත සිටියදීත් කියා සිටියේ තමා පත්වූයේ අනික් ඕනෑම මිනිසෙකුට පත්විය හැකි ස්ථානයකට බවයි. එසේවුවද, එතුමාණන්ට මුළුමහත් ආසියාවේම භක්තියත් කෘතඥතාවත් පිරිනැමුනේය. එතුමාණන්ගේ නියමයන් නොතකා මිනිස්සු එතුමාණන්ට වන්දනා මාන කළහ. එතුමාණන්ගේ නිර්මල පූජාසන මත දිනපතාම වන ගහණයක් තරම් වූ මල් පිදෙයි. කිව නොහෙනෙ තරම් වූ තොල් දශලක්ෂ සංඛ්‍යාවයකින් දිනපතා "බුද්ධං සරණං ගච්ඡාමි" යි මතුරනු ලබන්නේය.

මේ කාව්‍යයෙහි එන බුදුහිමියාණන්, සත්‍ය වශයෙන්ම ලෝකයෙහි විසූ බව සැකකළ යුතු නොවේ. එතුමාණෝ ක්‍රිස්තු පූර්ව 620 දී පමණ නේපාල දේශ සීමා ප්‍රදේශයෙහි උපත ලැබ අවුද්හි කුසිනාරාවේදී ක්‍රිස්තු පූර්ව 543 පමණ පිරිනිවන් පෑහ. ඒ නිසා මේ පූජනීය සමයවාදය හා සමග සසඳන විට අන් ආගම් බොහොමයක්ම ලාබාලය. විශ්ව ප්‍රාර්ථනයක සනාතන බවත්, අසීමිත මෛත්‍රියක සදාකාලිකත්වයත්, අග්‍රමෝක්ෂය කෙරෙහි කළ අනභිභවනීය විශ්වාසයක ලක්ෂණත් එමෙන්ම මානව විමුක්තිය පිළිබඳව මේතාක්ම කෙරුණු ප්‍රෞඪතම ප්‍රකාශයත් එහි අඩංගුය. බුදුසමයෙහි ඉතිහාසය සහ ඇදහීම් විකෘති කරන අන්තගාමී දේ, තේරුම් ගත යුත්තේ, තමන්ට භාර කරන ලද උදාර චින්තාවනට පූජක පක්ෂය විසින් හැමවිටම ආරෝපණය කෙරෙන අනිවාර්ය දූෂණයන් වශයෙනි. ගෞතම බුදු හිමියන්ගේ මුල් උගැන්වීම් සතු බලය සහ උදාරත්වය ඇගයීය යුත්තේ ඒවායේ බලපෑමෙන් මිස, බෞද්ධ සංඝ සංවිධාන මත ගොඩනැගුනු අහිංසක එහෙත් උදාසීන, එසේම චාරිත්‍ර - වාරිත්‍ර පුද පූජාවන්ට නැඹුරු වූ සංවිධානාත්මක ආගමෙන් නොවේ.

මගේ මේ මහා කාව්‍යය මා බෞද්ධ උපාසකයෙකුගේ මුවට නැංවූයේ ආසියානු චින්තනයෙහි ස්වරූපය නිසිසේ අගය කරනු පිණිස එය දෙස පෙරදිග ඇසකින් බැලිය යුතුවන හෙයිනි. එසේ නොවීනම් මේ වෘත්තාන්තයට පූජනීයත්වයක් ආරෝපනය කරන, ප්‍රාතිහාර්ය පක්ෂය හෝ වේවා එහි අන්තර්ගත දර්ශනවාදය හෝ වේවා මෙතරම් ස්වාභාවික ලෙස ඉදිරිපත් කළ නොහෙන්නේය. නිදර්ශනයක්










වශයෙන් ගතහොත්, නවීන මනස විස්මයපත් කරන පුනරුත්පත්තිය පිළිබඳ ධර්මය ස්ථාවර ලෙස පිහිටා තිබුණා පමණක් නොව එය බුද්ධකාලීන ලෝකයේ හින්දු භක්තිකයන් විසින් පිළිගන්නා ලද්දේ වේ. ඒ කාලයේදී, ජෙරුසලම, නෙබුකඩ්නසාර් විසින් අල්ලා ගනු ලැබ තිබුණේය. නිනවේ නගරය මීඩ්ස්වරුන් අතට පත්වෙමින් තිබිණ. ෆෝසියානුන් විසින් මාසේල්ස් පිහිටුවනු ලැබ තිබුනේය. ඒ සා පැරණි සම්ප්‍රදායයක් පිළිබඳව මෙහි කෙරෙන විවරණය අසම්පූර්ණ වීම අනිවාර්යයි.

එසේම, මෙහිදී කවිසමයේ නීති රීතිවලට කීකරුවෙමින් මේ ග්‍රන්ථය, දර්ශනවාද පක්ෂයෙන් ඉතා වටිනා ඇතැම් කරුණුත්, ගෞතම බුදුහිමියන්ගේ ශාස්තෘ ජීවිතයේ ඇතැම් ප්‍රධාන දේත්, වේගයෙන් පසුකොට ගෙන යන්නේය. එසේ වුවද මේ උදර කුමරුන්ගේ විශිෂ්ට චරිතාපදාන පිළිබඳවත් එතුමන්ගේ උගැන්වීමේ සාමාන්‍ය ස්වරූපය පිළිබඳවත් මේ ග්‍රන්ථයෙන් යම්කිසි සත්‍ය හැඟීමක් ලද හැකිවේ නම් ඉන් මගේ අරමුණ ඉෂ්ටවූයේ වෙයි. මේ කරුණු ගැන උගතුන් අතර දැඩි වාද විවාද හටගෙන ඇත්තේය. මවිසින් මේ අසම්පූර්ණ බෞද්ධ ප්‍රකාශයන් ලබාගන්නා ලද්දේ ස්පෙන්සර් හාඩිගේ කෘතිවල ඒවා එන ආකාරයෙන් බව මේඋගත්තු දනිති. එමෙන්ම මට ලැබුනු ප්‍රවාදයන්හි එන පාඨ එකකට වැඩි සංඛ්‍යාවක් මවිසින් වෙනස්කොට හැඩගස්සා ගන්නා ලද බවද ඔවුහු දනිති. "නිර්වාණ", "ධර්ම", "කර්ම" සහ සෙසු ප්‍රධාන බෞද්ධ ලක්ෂණ පිළිබඳව මෙහි දක්වා තිබෙන අදහස් නම්, සැළකිය යුතු අධ්‍යනයනයක ප්‍රතිඵලය වේ. එසේම ඒ අදහස්වලට මා එළැඹියේ මානව සංහතියෙන් තුනෙන් පංගුවක්ම, ජීවිතයේ උච්චතම අවස්ථාව වූ කලී හිස් බව හෝ ශූණ්‍යතාවයයි  පිළිගන්නට කිසිසේත් පොළඹවා ගත නොහෙන හෙයිනි. අවසාන වශයෙන් කිවයුත්තේ ආසියාවේ පහන දැල්වූ විශිෂ්ඨයාණන්ට සම්මාන පූර්වකවත්, එතුමාණන්ගේ නාමය උදෙසා විශිෂ්ඨ මෙහෙයක් ඉටුකරන මහා උගතුන් සමූහයාට සම්මාන පූර්වකවත් මා ඉල්ලා සිටින්නේ මවිසින් මේ ඉතා කඩිනමින් කළ අධ්‍යයනයෙහි අඩුපාඩු ඇතොත් ක්ෂමාව භජනය කරන ලෙසයි. මේසා භාරදූර කාර්යයක් සඳහා අවශ්‍ය විවේකය සහ ප්‍රවීනත්වය මාවෙත නොමැත. මේ ග්‍රන්ථය රචනා කෙරුණේ, විවේකයෙන් තොර සමයයෙකදී ලැබුණු කෙටි විරාමයන්හිදීය. එසේ වුවද, මේ ග්‍රන්ථයට ආභාසය සැපයූයේ පෙර අපර දෙදිග අතර වඩාත් හොඳ අන්‍යෝන්‍ය අවබෝධයක් ඇතිකිරීම සඳහා උපකාරී වීමේ දැඩි ආශාව විසිනි. මේ ග්‍රන්ථය විසින් හා "ඉන්දියානු ගීතයෙන් ගීතයත්", "ඉන්දීය චින්තනයත්" යන ග්‍රන්ථ විසිනුත් ඉන්දියාවටත් ඉන්දියාවේ ජනතාවටත් ආදරය කළ තැනැත්තෙකු පිළිබඳ මතකය තහවුරු කරනු ඇතැයි මගේ පැතුමයි.

එඩ්වින් ආර්නෝල්ඩ්









# ශ්‍රීමත් එඩ්වින් ආනෝල්ඩ්



ලොව එලබරවු බෞද්ධ සාහිත්‍යයෙහි. ශ්‍රීමත් එඩ්වින් ආනෝල්ඩ් විසින් රචිත "පෙරදිග පහන" නිසැකයෙන්ම, සුවිශේෂ කෘතියකි. මුල් කව, එසේ වන්නේ ඉතා දීර්ඝකාලීන වූ බෞද්ධ ඉතිහාසයෙහි බුදුන් වහන්සේ ගැන ඉංග්‍රීසියෙන් ලියවුණු එකම ස්වතන්ත්‍ර කාව්‍යය එය හෙයිනි. මෙම විශේෂත්වය සඳහන් කළ යුත්තේ මුලින් පාලියෙන් නිර්මාණය වූ කෘතීන් ඉංග්‍රීසි හා වෙනත් භාෂාවන්ට පරිවර්තනය වී ඇති බැවිනි. මෙයින් ඇතැම්වා අධ්‍යාත්මීය කාව්‍යයන් ලෙසින් කැපී පෙනෙන ඒවාය.

මෙම මහා කාව්‍යයේ කතෘ, ශ්‍රීමත් එඩ්වින් ආනෝල්ඩ් මුලින්ම මෙම උතුම් කෘතිය නිර්මාණයට පෙළැඹුණේ පෙර අපර දෙදිග අතර වඩාත් හොඳ සුහද අවබෝධයක් ඇති කිරීමට ඔහු තුල ඇතිවූ ගැඹුරු දැඩි ආශාව නිසාය.

ඔහු තුල පොරණ ඉන්දියාවේ සනාතන දර්ශන වෙත වූ සැබෑ පැහැදීමද අවබෝධයද, සෑහෙන පර්යේෂණ පත්‍රයකට විෂයය විය හැකිය.

එංගලන්තයේ තුරුණු අවදිය ගත කරද්දීම එඩ්වින් ආනෝල්ඩ් තුල නිර්මාණශීලි හැගුම් පහල විණි. ඔහු වෙත වූ කාව්‍යමය අදහස් ප්‍රකාශ කිරීමේ දස්කම නිසා 1852 ඔක්ස්ෆර්ඩ් විශ්වවිද්‍යාලයෙන් පිරිනමන නිව්ගේට් ත්‍යාගය හෙතෙම තම "බෙලහසාර්ගේ උළෙල" නම් කාව්‍යය වෙනුවෙන් දිනා ගත්තේය.

එඩ්වින් ආනෝල්ඩ් එංගලන්තයේ සසෙක්ස්හි උපන්නේ 1832 ජුලි 10 වෙනිදාය. ඔහු සිය ප්‍රාථමික අධ්‍යාපනය ලදුයේ රොචෙස්ටර්හි රාජකීය විද්‍යාලයේය. පසුව ඔහු ලන්ඩන්හි අධිරජ විද්‍යාලයේ උගැනීම ලැබුවේය. මෙහිදී ඔහුට ඔක්ස්පර්ඩ් විශ්ව විද්‍යාලයට යාමට ශිෂ්‍යත්වයක් හිමිවිය.

පුනාහි, ඩෙකන් විද්‍යාලයේ මුල්ගුරු පදවිය ලැබ ඔහු ඉන්දියාවට පැමිණෙද්දී ඔහුගේ වයස අවුරුදු විසිහතරකි. ඒ ආදා පටන් ඒ සංග්‍රාහී සංස්කෘතියේ, ආරින් වූ විවිධතාවයෙන් ඔහු පිනා ගියේය. එය තමාගේම ජීවන රටාවෙන් වෙනස් වූ ජීවිතයක් අමුතු වූ සංස්කෘතියක් මුල් වතාවට දැකීමෙන් ඇතිවෙන විදියේ සරල විශ්මපත්වීමක් පමණක්ම නොවීය. ඔහුගේ මෙම විශ්මයපත්වීම අවසානයේ අසිරියකට ප්‍රගතිව නොනිමෙන අගැයීමයක් දක්වා නැංවිණි.

මෙම පෞරාණිකවුත් විසිතුරු වුත් සංස්කෘතියේ ගැඹුරටම කිඳා බැසීමට, එඩ්වින් ආනෝල්ඩ් නම්වූ ඉන්දියානු සිවිල් නිලධාරියා භාරතීය පැරණි භාෂාවන්වූ පාලි හා සංස්කෘත වඩ වඩාත් හදාරන්නට වූයේ, තමාගේ මේ නව සංස්කෘතිය ඇතුලතින්ම අත්විඳීමටය. අභිරහසික වූ මෙම වදන් තුල සැගවුණු සදාතනික වූ









බුද්ධියද වූ දැනුමද වටහා ගැනීමට ඔහුට එරට පඬිවරුන්ගේ උදව් අවැසි විය. සාමාන්‍ය නිළදරුවන් සඳහා වැසී තිබූ දොරටු විශ්මාකාරව එඩ්වින් ආනෝල්ඩ් වෙනුවෙන් ඇරුණී. එයටම සරිලන අසිරියකින් හා බැතියකින් හෙතෙම ඉන්දීය මහා කාව්‍යයන් වූ රාමායණයට හා මහා භාරතයට එළැඹිණී.

කෙනෙක් වඩාත් ගැඹුරට ඉන්දීය දර්ශනයේ පතුලට කිමිදෙද්දී කෙනෙකුට භාරතීය අධ්‍යාත්මික පද්ධතියේ අත්‍යවශ්‍ය කොටසක් වූ අභිනික්මණ හා තපස්වත වැනි ආගමිකායතන හමුවෙන් වැලැකිය නොහැක.

එතැන් පටන් අති උතුම් වූ තවුසාණන් වූද, අභිනික්මනෙහි අග තැන්පත් වූද ගෞතම බුදුන් වහන්සේ හඳුනා ගැනීම කාලයාගේ ඇවෑමෙන් අනිවාර්‍යයෙන් සිදුවන්නකි.

ඔහුගේ අගැයීම ඉක්මනින්ම, තමාම භාරගත් රාජකාරියක් බවට පත්විය. තමා වෑයමෙන් සොයාගත් මෙම ඉන්දීය දර්ශන චාරිත්‍රයන්ගේ ගතයුත්ත තමාගේම මිනිසුන්ට ඔවුන්ගේම බසින් පහදා දීම තම යුතුකමකැයි ඔහුට හැඟිණී.

මේ සඳහා ඔහු නිබඳව වැඩ කටයුතු කළේය. ඔහුම සඳහන් කරනා පරිදි ඔහුගේ ආසියාවේ ආලෝකය (පෙරදිග පහන) නිර්මාණය වූයේ "විවේකයෙන් තොරවූ රාජකාරි දිනයන්හි ලද සුළු විරාමයන්හිදීය"

එඩ්වින් ආනෝල්ඩ්ගේ "ආසියාවේ ආලෝකය" මුලින්ම එළිදුටුවේ 1879 දීය. මෙවිට ඔහුගේ වයස අවුරුදු 47කි. මෙතැන් පටන් මෙම කෘතිය බොහෝ මුද්‍රණ වාර වලින් නිකුත් විය. ලොව පුරා කෝටි සංඛ්‍යාත පාඨකයින් විසින් එඩ්වින් ආනෝල්ඩ්ගේ මෙම කාව්‍යමය වූ බුදු වදන හා ජීවිතය රසවිඳිමින් ආධ්‍යාත්මික වූ අත්විඳීමකින් තෘප්තියකින් උකහා ගන්නට ඇත.

එහි වදනින් හා රිද්මයෙන් එඩ්වින් ආනෝල්ඩ්ගේ "ආසියාවේ ආලෝකය" මිල්ටන් නම් කිවිඳුගේ ගී අනුභූතියේ ගැඹුරු ස්වරයක දෝංකාරය රැව්දෙමින් නින්නාද වන්නේය. ජෝන් මිල්ටන්ගේ ආගමික මහා කාව්‍යයන්ගේ පැදි මිහිරෙන් එඩ්වින් ආනෝල්ඩ් අති පැහැදීමක් ලද බව මොනවට පැහැදිලි වේ.

එඩ්වින් ආනෝල්ඩ්ගේ "ආසියාවේ ආලෝකය" කියැවීම මහා කාව්‍යයක් රසවිඳීමේ පුණ්‍ය අත්දැකීමකි. සිදුහත් කුමරුන්ගේත් පසුව අතිඋතුම් නිවණ ලද බුදුන්ගේත් චරිතය ඔහුගේ පද්‍යයෙන් දැවටෙන්නේ ආධ්‍යාත්මික වියජීයේ දිදුලණ කඩතුරාවකිනි.

"ආසියාවේ ආලෝකයේ" සවිස්තරාත්මක වදන්, වෙසෙසින්ම සිදුහත් කුමරුන්ගේ අධ්‍යාපනය පිළිබඳ විස්තර එළිදක්වන්නේ විශ්මිතවූත් දැඩි පරිශ්‍රමසහගත වූත් සෙවීමක ප්‍රතිඵලයකි.

බුදුසිරිත, උපෙක්ෂා සහගත වූ මනසකින් කවියකින් කිව නොහැකි බව හොඳින්ම දත් නිසා එඩ්වින් ආනෝල්ඩ් තම මහා කාව්‍යය ඉදිරිපත් කරන්නේ බොදු බැතියකුගේ දසුනෙනි.

ආසියාවේ ආලෝකය රචිත කවියා ලෙසින් ප්‍රචලිත වූ හෙයින් ඔහුගේ අනෙක් නිර්මාණ රැඳෙන්නේ ඒ සෙවනැල්ලේය. ඔහුගේ අනිකුත් කෘති අතර.

* හිතෝපදේශය (සංස්කෘත කෘතියෙන්)
* භාරත ගීතාවලියේ ගීතය (ජයදේවයන්ගේ ගීත ගෝවින්දයෙන්) (1875)
* භගවත් ගීතා 1885









* මහා භාරතයෙන් ඉන්දීය පද්‍ය 1883
* භක්ති මුතුහර

තවද ඔහු ක්‍රිස්තුස් වහන්සේ පිළිබඳ "ලෝකයේ ආලෝකය" නම් කාව්‍යයක්ද පබැඳීය. එඩ්වින් ආනෝල්ඩ් "ඩල්හවුසියේ ආදිපාදිවරයා යටතේ ඉන්දියාවේ පරිපාලන ඉතිහාසය" නම් ග්‍රන්ථයක කතුවරයාය.

පසු කලෙක එංගලන්තයට පෙරලා පැමිණි එඩ්වින් ආනෝල්ඩ් "ඩේලි ටෙලිග්‍රාෆ්" පුවත්පතෙහි කතුවැකි ලේඛකයා විය. ඔහු "ආසියාවේ ආලෝකය" ලියුවේ තමාගේ "ඩේලි ටෙලිග්‍රාෆ්" අවදියේදීය.

ජීවිතයේ අවසාන භාගය ඔහු ගත කළේ ජපානයේය. ඔහුගේ තෙවැනි බිරිඳ ජපන් කාන්තාවක් වූවාය.

"මුහුද සහ ගොඩබිම" (1891) හා "ජපොනිකා" (1892) යන ග්‍රන්ථද්වය, ජපන් දිවිය පිළිබඳ ඔහුගේ සටහන්ය.

1888 දී බ්‍රිතාන්‍ය රජය ඔහුට K.C.I.E නම් නම්බුනාමයෙන් සම්මාන පිදීය. ශ්‍රී ලංකාවේ පුවත්පතක් වන "බුදුසරණ" නම් සිංහල සතිපතා පත්‍රය, 1996 පෙබරවාරි 12 වෙනි දින පලකළ ලිපියක සඳහන් කරන්නේ එඩ්වින් ආනෝල්ඩ් බුදුදහම උගෙන ගැනීමට ලංකාවට පැමිණි බවයි. ඔහු සිංහල භාෂාව උගත් බවද එහි සඳහන් වෙයි. ඒ ලිපියේ රචකයාගේ මතය නම්, ශ්‍රීමත් එඩ්වින් ආනෝල්ඩ් බෞද්ධයෙකු වූ බවයි.

කෙසේ වුවද, ශ්‍රීමත් එඩ්වින් ආනෝල්ඩ් ශ්‍රී ලංකාවේ සහ ජපානයේ බුදුදහම පිළිබඳ පුනර්ජීවනයකට උත්සුක කරවීමෙහිලා වෑයම් දැරූ බව නම් පැහැදිලිය.

ශ්‍රීමත් එඩ්වින් ආනෝල්ඩ් 1904 මාර්තු 14 වෙනි දින, වයස 71 දී මිය ගියේය.

පරපුරෙන් පරපුරට පිරිසක් ඔහුගේ "ආසියාවේ ආලෝකය" සඳහා ඔහුව මතකයේ රඳවා ඔහුට පුද දෙනු ඇත.

**එඩ්වින් ආරියදාස**
(පරිවර්තනය - හද්‍රජී මහින්ද ජයතිලක)






ගෞරවාර්හ අතිපූජ්‍ය මහාචාර්ය බලන්ගොඩ ආනන්ද මෛත්‍රය මහානායක හිමිපාණෝ
ජයවර්ධනපුර විශ්ව විද්‍යාලයේ හිටපු උපකුලපති

# හැඳින්වීම



ශ්‍රීමත් එඩ්වින් ආනෝල්ඩ් මහත්මා විසින් රචිත "ආසියාවේ ආලෝකය" නම් වූ මහා කාව්‍යය, අද මෙසේ හෙළ බසින්ද පලවීම අපගේ ප්‍රීතියට කාරණාවකි.

චිරත්තන බෞද්ධ සාහිත්‍යයට සදාතනිකව එක්වූ ග්‍රන්ථයක් සේ "ආසියාවේ ආලෝකය" සැලකිය හැකිය. එහි රඳන සම්භාවනීයත්වය පරපුරෙන් පරපුරට මෙසේ පිළිගැන්වීම අද සිදුවන්නේ සිංගප්පූරුවේ බෞද්ධ භාවනා මධ්‍යස්ථානයේ අධිපති ගරු වේරගොඩ සාරද මහා ස්ථවිරයන්ගේ උනන්දුව, ධෛර්ය්‍ය හා වීර්‍ය්‍ය හේතුවෙනි.

පෙරදිග පහන නමින් ආසියාවේ ආලෝකය සිංහලට පරිවර්තනය කිරීමේ අගනා කාර්‍ය්‍ය සිදුවී ඇත්තේ හදපී මහින්ද ජයතිලක මහත්මාගේ නිර්මාණ ශීලීත්වයෙනි. එම සාර්ථක නිර්මාණය ලොව හැම දෙනාගේ හිත සුව පිණිස වේවා!

මෙවැනි මහා කෘතියකින් බෞද්ධ සාහිත්‍යය පෝෂණය කළ ගරු වේරගොඩ සාරද මහා ස්ථවිරයන් විසින් නව පාඨක පරම්පරාවේ සිතැඟි හා ආකල්ප ඉතා හොඳින් අවබෝධකොටගෙන ඇත්තේය. නවීන පරපුර, දෘශ්‍ය මාධ්‍ය මගින් අත්දැකීම් ලබන්නට නැඹුරුවී සිටින පිරිසකි. ඒ නිසාම, මේ සම්භාව්‍ය බෞද්ධ මහා කාව්‍යය විචිත්‍ර සිතුවම් රුසකින් අලංකෘතව ඉදිරිපත් කොට ඇත. ඒ චිත්‍ර සඳහා ආභාසය ලබාගෙන ඇත්තේ ශ්‍රී ලංකාවේ බෞද්ධ බිතුසිතුවම් සම්ප්‍රදායෙනි.

ගරු සාරද මහා ස්ථවිරයන්ට මගේ හෘදයාංගම ආශිර්වාදය පිරිනමන ගමන්ම, මවිසින් වෙසෙසින්ම පැවසිය යුත්තේ මේ වේරගොඩ සාරද ස්ථවිරයන් වහන්සේ ඒක පුද්ගල සංස්ථාවකැයි නම්කළ හැකි බවයි. මේ ග්‍රන්ථ ප්‍රකාශක ව්‍යාපාරය ජයෙන් ජයටම පත්වේවායි මගේ ඉත පැතුමයි.

B. Ananda maitreya

**අතිගරු බලංගොඩ ආනන්ද මෛත්‍රෙය මහා නායක හිමි**



ගෞරවාර්හ ආචාර්ය කිරින්දේ ධම්මානන්ද
මැලේසියාවේ මහානායක හිමිපාණෝ

# පෙරවදන



වේරගොඩ සාරද සථවිරයන්ගේ නවතම ප්‍රකාශනය දකිද්දී මට උන්වහන්සේව විස්තර කළ හැක්කේ ආශ්චර්යක් ලෙසිනි. උන්වහන්සේ විසින් ගොනු කොට නිර්මිත "ධම් භාණ්ඩාගාරය - ධම්මපදයේ ඉංග්‍රීසි පරිවර්තනය) දකින කෙනෙකුට හැඟෙන්නේ එය විස්කමකට නොඅඩු කාර්යයක් ලෙසිනි. එනමුදු එයට පසුවද උන්වහන්සේ එකක් හඹා එකක් නොපරදන කෘති එළිදක්වන්නේ, හාස්කම්වලට සමීප ආකාරයෙනි.

මේ නවතම කෘතිය සිතුවම් සහිතව ප්‍රකාශයට පත් කෙරෙන, ශ්‍රීමත් එඩ්වින් ආනෝල්ඩ්ගේ බෞද්ධ මහා කාව්‍යය වන (Light of Asia) **පෙරදිග පහන** රචකයාගේ සනාතන පදවැල් යළිත් උපතකට ගෙන ආවා සේය. සාරද සථවිරයන්ගේ මෙම "ආසියාවේ ආලෝකය" නම්, කෘතියේ අගය ඉස්මතු කරන්නට අගනා රූ සිතුවම්ද සම්බන්ධ කරගෙන තිබීම ඉතා වැදගත්වේ.

මේ කෘතිය උදෙසා සාරද හිමියන් තරුණ ශ්‍රී ලාංකික සිත්තරුන් සිය කුසලතා උද්දීපනයට ඉවහල් කරගන්නේ ශ්‍රී ලංකාවේම බෞද්ධ පන්සල් විහාරවල ඇති චිත්‍ර ශෛලියකි.

හදුජි මහින්ද ජයතිලක විසින් කරන ලද සිංහල පරිවර්ථනයේද රැඳෙන්නේ නැවුම් කාව්‍යමය ස්වභාවයකි.

වේරගොඩ සාරද සථවිරයන් බෞද්ධ සාහිත්‍යයට කරන සේවාව වෙනුවෙන් උන්වහන්සේට සුභාශිංසනය කරන අතරම උන්වහන්සේගේ ප්‍රකාශන වැඩ සටහන දිගින් දිගටම සාර්ථක වේවායි ප්‍රාර්ථනා කරන්නෙමි.

**ගරු ආචාර්ය කිරින්දේ ධම්මානන්ද මහානායක හිමි**




# කෘතඥතාවය



ශ්‍රීමත් එඩ්වින් ආර්නෝල්ඩ් විසින් රචිත පෙරදිග පහන (Light of Asia) ග්‍රන්ථයේ මෙම සිතුවම් සහිත මුද්‍රණය, සිංගප්පූරුවේ බෞද්ධ භාවනා මධ්‍යස්ථානයේ ප්‍රකාශන වැඩසටහනෙහි නවතම පියවරයි. ලොව පුරා වෙසෙන, පාඨක රසිකයන්ගේ දෝතට, බුදුරජාණන් වහන්සේගේ දර්ශනය හා ජීවිතය පිළිබඳ වූ මෙම මහා කාව්‍යය පිළිගැන්වීමට ලැබීම අපගේ භාග්‍යයක් ලෙස සළකමි.

1879 දී මෙයට වසර 117 කට පෙර මුලින්ම මුද්‍රණය වූ තැන් පටන් ශ්‍රීමත් එඩ්වින් ආනෝල්ඩ්ගේ "ආසියාවේ ආලෝකය" (පෙරදිග පහන) නොයෙකුත් වාර ගණනක් මුද්‍රණයෙන් බිහි වී ඇත.

මෙම (Light of Asia) නූතන මුද්‍රණය සතුව ඇත්තේ වෙනස්ම මුහුණුවරකින් යුතු නවමු විචිත්‍ර ගතියකි. එහි විශේෂත්වය නම් ශ්‍රීමත් එඩ්වින් ආනෝල්ඩ්ගේ කාව්‍යමය වදන් සරසන්නට ලතාමය වූ සිතුවම් පෙලක් ඇතිවීමයි.

මෙම "ආසියාවේ ආලෝකය" නමැති මහා කාව්‍යය සිංහලයට පරිවර්තනය කිරීමේ භාරදූර කාර්යය ඉටුකරන ලද්දේ අප හිතවත් හද්‍රජී මහින්ද ජයතිලක මහතාගේ කරුණික උපකාරය හේතුවෙනි. දෙසතියකටත් නොඅඩු කෙටි කාලයක් තුළ මෙවැනි මහා කාව්‍යයක් සිංහලයට නගාදුන් හද්‍රජී මහතාට මාගේ කෘතඥතාවය පළකරමි. එසේම අපගේ සෑම ප්‍රකාශනයකදීම සංස්කරණ කටයුතු කරදෙන අප හිතවත් එඩ්වින් ආරියදාස මහතාට මෙහිදී විශේෂයෙන් කෘතඥතාවය පළකරමි. තවද මාගේ හැම ප්‍රකාශනයකදීම නිර්මාණය සහ සැළසුම් කටයුතු ඉතා උනන්දුවෙන් කරදෙන සුප්‍රකට චිත්‍ර ශිල්පී පියරත්න හේවාබටගේ මහතා සහ එම මැතිණිය ඇතුළු කාර්යය මණ්ඩලයෙහි සමන් සිරිවර්ධන, අශෝක කමල්සිරි, ලලිත් රෝහණ ලියනගේ, නන්දන හේවාබටගේ යන සෑම කෘතඥතාපූර්වකව සමරමි. සෝදුපත් බැලීමෙන් උපකාරී වූ නන්දසිරි සිරිවර්ධන, පී. කලුආරච්චි, චන්ද්‍රසෝම කංකානම්ගේ, සැන්ටින් ගුණවර්ධන, චන්ද්‍රා දසනායක යන පිරිස ද පරිගණක මෙහෙයුමෙන් උපකාරීවූ ඊ. සූරවංශ, සුමිත් මීගම, සමන් කුමාරි දොඩංගොඩ යන සැමද මාගේ කෘතඥතාවය හිමිවිය යුත්තෝ වෙති.

සිංගප්පූරු බෞද්ධ භාවනා මධ්‍යස්ථානයේ හැම කටයුත්තකදීම ක්‍රියාශීලිව නිරතවන උපුල් රැද්‍රිගු මහතාටත් දයා සමරසිංහ මහතාටත් මගේ ස්තුති පූර්වක කෘතඥතාව හිමිවේ. මගේ හැම ග්‍රන්ථයකදීම මට කවදත් උපදෙස් දීමෙන් සහයෝගය දෙන කුරුණෑගොඩ පියතිස්ස ස්වාමීන්ද්‍රයන් වහන්සේ, ගරු හැව්ඕවිට දීපානන්ද මහා සථවිරයන් වහන්සේ, ගරු ආචාර්‍ය පාතේගම ඥණාරාම මහා සථවිරයන් වහන්සේ, සහ විතාරන්දෙනියේ නන්ද ස්ථවිරයන් වහන්සේ කෘතඥතා පූර්වකව සමරමු. මේ ග්‍රන්ථය ප්‍රකාශ කිරීමට අනුග්‍රහය දැක්වූ සිංගප්පූරුවේ පීටර් තියෙන් සැං කිං යිං මහතාට අපගේ විශේෂ ස්තුතිය පිරිනමන්නෙමු.

**පූජ්‍ය වේරගොඩ සාරද මහාස්ථවිර** (සම්පාදක/ප්‍රකාශක)
සිංගපූර් බෞද්ධ භාවනා මධ්‍යස්ථානය
අංක 1, ජලන් මාස් පුටේ, සිංගප්පූර් - 128607
දුරකථන: 7783330, පැක්ස්: 7730150
1996.05.01 දින සිංගපූර්හිදීය









# පරිවර්තකගෙන්



බෞද්ධයන්ගේ ඉතා වටිනා කෘතියක් වන ධම්මපදය යම්තාක් බටහිර බුදුදහම ප්‍රචලිත කිරීමට උපකාරී වීනම්, එයටත් වඩා සේවයක් මෙම "**පෙරදිග පහන**" (ආසියාවේ ආලෝකය) නම් වූ මේ මහා කාව්‍යයෙන් සිදුවිය. ශ්‍රීමත් එඩ්වින් ආනෝල්ඩ් විසින් රචනා කරන ලද ආසියාවේ ආලෝකය නම් වූ මෙම මහාකාව්‍යය මා දුටුවේ කුඩා කලදීමය. එය දුටු දා පටන් එය පරිවර්තනය කරන්නට ඇත්නම් යැයි යන සිතුවිල්ලක් මා තුල උපණ.

අද ඒ සිහින සිතුවිල්ල සැබෑවන්නේ ගරු වේරගොඩ සාරද හිමියන්ගේ දැඩි උනන්දුවත් උත්සාහයත් නිසාය. උන්වහන්සේ විසින් බෞද්ධ දර්ශනයද සාහිත්‍යයද ලොව පුරා ප්‍රචලිත කිරීම උදෙසා කරන සේවාව ඉමහත්ව අගය කළ යුත්තකි. මෙම පෙරදිග පහන පරිවර්තනය ඉතා ඉක්මනින් හැකි හොඳින් කිරීමට මා උත්සුක වූයේ සාරද හිමියන්ගේ එම උත්සාහයට ගරුකිරීමක් වශයෙනි. එතුමාටද, මෙම ග්‍රන්ථය ඉතාම සුන්දරව සිත් අදනා ආකාරයෙන් දොරට වැඩුමට උපකාරී වූ පියරත්න හේවාබටගේ මහතා ඇතුළු අනෙකුත් චිත්‍ර ශිල්පීන්ටද මගේ ස්තුතිය පිරිනමමි.

**හඳුජී මහින්ද ජයතිලක**






ලකුණු හඳුනාගත් දෙව්වරු මෙසේ කීහ. "බුදුන් යලි යන්නේය ලෝවැඩ සඳහා." "එසේය" එතුමෝ තෙපලූහ. "මම දැන් යන්නෙමි උදව් කිරීමට ලෝකයාට"




# පළමු පොත

ලොව මුදාගත් ශාන්තිනායකයානන් පිළිබඳ ලේඛනයයි.
බුදුරජාණන්වහන්සේ - සිද්ධාර්ථ කුමරු - මිහිබට වගයි -
පොළවෙහිද, අනුපම වූ සුර ලෝකයන් හිද නිරයන් හිද
සැමගෙන් පිදුම් ලද, නැණයෙන් අගතැන්පත්,
අති උතුම් දයා කරුණාබර
ඇදුරුතුමෝ නිර්වාණයෙහි සහ ධර්මයෙහි -
එතුමා මෙසේ මිනිසුන් වෙනුවෙන් නැවතත් උපන් සේක්හ.

 දුන්හි වූ අහස්ගෝලයට පහතින් වැඩ හිඳිති
සතරමහ රජවරුන් අනුරජ සතරදෙන
ඔවුන්ය අපගේ ලෝ පාලකයින්.
ඔවුන්ට පහතින් වෙයි ලෝ කලාපයන්
නුදුරෙන්, නමුත් ඉහලින් මියගිය ධර්මිෂ්ඨ වූ ජීවීන්
බලාසිටිති, තුන්දස දහස් වරක්, යළිත් ජීවත් වෙති;
බුදුරදුන් පහළවෙන තුරු බලා සිටිති එම අහස් කුස,
අපවෙනුවෙන් උදා විය උපතේ පස් මහා බැලුම්,
දෙව්වරු ඒ හඳුනා මෙසේ කීහ.
"බුදුවරයින් යලිත් ලොවට සෙත පිණිස යනු ඇත."
"එසේ යැ"යි ඔහු තෙපළාහ. "මම දැන් ලොවට සෙත පිණිස යන්නෙමි.
මේ මගේ අවසන් වතාවය, ඉපැදීමටත් මරණයටත්
මටද මාගේ දහම උගන්නා අයටද අවසන් උපතයි.
ශාක්‍යයන් අතරට යන්නෙමි මම
හිමාලයේ දකුණු කර හිම පියස යට
පින්වත් වූ මිනිසුන්ද ධාර්මික රජ කෙනෙකුන්ද වෙසෙන දෙස.
ඒ නිශාවේ ශුද්ධෝදන රජුන්ගේ බිරිඳ
මායා දේවිය, තම සැමියා අසල නිදද්දී
අරුම සිහනයක් දුටුවාය.
දෙව්ලොවින් ආ තාරකාවක්
අත්‍යාලංකාර, ෂඩ්ධාරා, වර්ණයෙන් ලා රක්ත මුතුවූ,







පැන නැඟිනි එයින් නිමිත්තක් සේ හස්තියෙක්
දල සයකින් යුතුව, රිසි දෙය දෙන කිරිසේ සුදෝ සුදු
අවකුස තුලින් වේගයෙන් චුත්, දිලිසෙමින් ඇතුළට
වැදුණී දකුණු දෙසින් ඇගේ ගැබට. අවදිවූ
මත්‍ස මෑණියන්ගේ ලැම පුරා ගති උසුලාගත නොහැකි තරම් ප්‍රමෝදය
ලොව අඩක් පුරා, සුන්දර ආලෝකයක්
පැතිරිණී උදාවට පෙරාතුව. ප්‍රබල කඳුද සෙලැව්ණි;
රළපෙළ ගිලී නිසලව, හැම කුසුමකම උදයේ සැලෙන, පිණී
මධ්‍යාහ්නයේ සේ; ගැඹුරුම වූ නිරය දක්වා
පැතිරිණී දේවියගේ ප්‍රීතිය, උණුසුම් හිරුකිරණ පිනායන්නාසේ
වනකරය - අඳුර රත්තරනට, සැම ගැඹුරටම
සියුමැලි මැතිරිල්ලක් විනිවිද විනි. "එසේමය" එය කීය.
"මරණයට පත් වූවන් ජීවත් වන්නටත්, ජීවත් වන මියන්නොත්
අවදිවෙනු, අසනු,
"අපේක්‍ෂාකරනු! බුදුවරයෝ පැමිණියාහ"
මෙසඳ, අසංකෙය්‍ය ලෝකයන්හි වඩාත් සාමය
පැතිරිණී, ලොව හෘද ස්ඵන්දනය විය. පවනක් හැමීය.
නොවූ විරූ නැවුම් ගතියෙන් දේශයන්ද සයුරුද ඉහළින්
උදෑසන උදාවූ කල්හි මෙය හෙලි කෙරුණී.
ධූ සර සිහින කියවන්නෝ තෙපළාහ, "මෙය සුභ සිහිනයෙකි!"
කටක රාශිය සූයජා හා සංයෝගයෙනි,
දේවිය පුතෙකු වදන්නීය, ශුද්ධවූ දරුවෙක්
අසිරිමත් නැණයෙන් යුතු, සැම සතට සෙත ගෙනෙමින්
අවිද්‍යාවෙන් මිනිසුන් මුදා ගනු ඇත ඔහු
නැතොත්, සක්විති රජ වෙති, ඔහු පාලනයට නතුවේ නම්"

මෙබඳු නැණ මධ්‍යයේය ශුද්ධ වූ බුද්ධ උපන්නේ.
මායා දේවිය නැගී සිටියා මධ්‍යාහ්නයේ, පිරිපුන් ගැබින්
මාළිගා භූමියෙහි සෙවනේ සල් ගසක
ප්‍රතාපවත් කඳ, ඍජු විය කොත් කැරැල්ලක් සේ,
දිලිසෙන පත්‍ර සහ සුවඳැති මල් කිරීටයකින් යුතුව;
නිසි මොහොත පැමිණී බව දැන - සැම දෙයම දැන සිටියෝ.






ඒ නිසාවේ සුදොවුන් රජුන්ගේ බිරිඳ මහා මායා දේවිය, දුටුවාය අරුම සිහිනයක්, සැතපෙද්දී
තම හිමියන් අසල. සිහින අරුත් කියවන්නෝ මෙසේ කීහ. 'සිහිනය යහපති! දේවිය බිහි




සිහිලද වෘක්ෂය සිය අත්තක් නැමී සදන්නට
පන්දලමක් විරාජමාන වූ මායා දේවියට ඉහළින්
මිහිකත පුබුදුවාලිය සැනෙකින් දහසක් පුෂ්පයන්
අතුරන්නට සයනයක්, ඒ අතර, ස්නානයට සැරසෙමින්
දැඩි ගල් කුළක් මුදු හැලිය විමල දිය දහරක්
පළිඟු සේ ගලනා. මෙසේ ඈ වැදුවා ඇගේ බිළිඳ
ප්‍රසව වේදනා තොරව - ඔහුගෙ පරිපූර්ණ සිරුර මත
විය සලකුණු දෙතිසක්, ඒ උතුම් උපතේ;
එම පුවත සැලවිය මාළිගයට.
නමුත් ඔවුන් රසඳජිත දෝලාව ගෙන ආ කල්හි
ඔහුව නිවහනට ගෙන යන්නට දෝලාව ඔසවන්නට ආවෝ
මිහිකතගේ අනුරජුන් සතර දෙනාය, පහතට පැමිණියේ
සුමේරු කන්දෙන්, - ඔවුන්ය මිනිසුන්ගේ දෛවය ලියන්නෝ
තඹ පත්‍රයන්හි - පෙරදිග දේවදූත තෙම,
ඔහුගේ සමූහය රජත පිළිහැඳ, ඔසවා එති
මුතු පළිහ: දකුනේ දේව දූත තෙම,
ඔහුගේ අසරුවෝ, කුම්භාණ්ඩයෝ, නීල අජානේයයන් මත
නාගයන් පිරිවරා, රුධිර රක්ත ආජානේයයන් මත,
පබළු පළිහ ගෙන; උතුරේ දේව දූත තෙම,
තම යක්ෂයන් පිරිවර කොට සියල්ල රනින් සැරසී
කසා අසුන මත, රන් පළිහ ඔසවා
මොවුන් සැම, තම ඓශ්වර්යයීමත් අදෘශ්‍යමාන බවින් පැමිණියා
පොලොවට
පැමිණ ඔසවාගති දෝලා දඬු,
හැඩයෙන්ද, පිටත වේශයෙන්ද, දෝලා ඔසවන්නන් සේ,
නමුත් ඉතා බලගතු දෙවියෝය ඔවුහු
දෙවිවරු නිදහසේ ඇවිදිති මිනිසුන් අතර මෙදින මිනිසුන්ට නොදැනී.
මිහිකත වෙනුවෙන් දෙව්ලොව පිරුණි ප්‍රමෝදයෙන්,
බුදුන් වහන්සේ යළිත් වැඩිය බව දැන.

නමුත් සුද්ධෝදන රජ නොදැන සිටියේ මේ ගැන;
පෙර නිමිති වලින් සංවේගව, ඔහුගේ සිහින තොරන්නෝ
නිමිති කීහ ධරණීතලයට අධිපති කුමරෙකු බව







චක්‍රවර්තියෙකු ලොවට පහළ වන්නාසේ
අවුරුදු දහසකට වතාවක්; සප්ත දායාදයන් වෙයි ඔහුවෙත-
චක්‍ර රත්නය, දේවමය මණ්ඩලය; මාණික්‍යය;
අශ්ව රත්නය, ඒ ප්‍රෞඪ අජානේයයා
වලාකුළු මතින් යන; හිම - සුදු හස්තියෙකි
හස්තිරත්නය, තම රජුන් ඔසවායන්නට උපන්;
උපායෙහි දක්ෂ ඇමති, සේනාධිපති
අපරාජිත, අනුපම ශ්‍රියාවෙන් යුතු බිරිඳ
සත්‍රී රත්නය හිමිදිරියටත් වඩා සොඳුරු වූ,
මේ දායාදයන් සොයමින් මෙම අපූර්ව පුතු වෙනුවෙන්
රජු අණක් දුනි තම පුරවරය නැබිය යුතු බව
මහා උත්සව; මේ හෙයින් මාවත් ඇමදිනී,
සෙව්වන්දි සුවඳ පැන් ඉසිනී මං පෙත, වෘක්ෂයන් වෙත
එල්ලිණි පහන් සහ ධජ, ප්‍රීතිමත් ජනී ජනයා
දැස් දල්වා බලද්දී අසි තරඟ කරුවන් සහ කවටයන්
ඉන්ද්‍ර ජාලිකයන්. මන්ත්‍රකාරයන්, ආන්දෝලකයන් හා
කඹ මත ඇවිදින්නන් දෙස.
නෘත්‍ය දැරියෝ ඔවුනගේ ලොවිරිච්චි අඳනයන් හැඳ, මිණිකිකිණි
සිහින් සිනා සලනා නිබඳ චංචල දෙපා වෙත

වෙස්වලා ගත්තෝ වලස් සම්, මුව සම් පොරවා ගෙන
ව්‍යාඝ්‍ර දමනය කරන්නෝ, මල්ලව පොර කරුවෝ, ඇටි කුකුළු පොර වද්දන්නෝ
බෙර වයන්නන් සහ කස පුපුරන්නෝ
මිනිසුන් සතුටු කළාහ අණ දුන් සැනින්.
තවද ඈත සිට පැමිණියහ වෙළෙන්දෝ
රැගෙන මෙම උපතේ ආරංචි අසා, අනගි ත්‍යාග
රන් බඳුන් තුළ; එළු සමින් කළ උතුරු සළු,
ජටා මාංශ සහ පච්ච පාෂාණ
තුර්කිස, "සැඳෑ අහසේ" පැහැයගත්. වියූ දැල්-
කොතරම් සුමුදුද යත් දොළොස් පටක් නැමුවත් නොසඟවයි විනීත මුව මඬලක්
හිණ සළු මහත්ව වියූ මුතුපටින්, සඳුන් දැව;






මහා මහා දේවිය ගමන් ගත්තාය පෙරහරින් දෙව්දහ නුවරට - තම දෙමාපියන් වෙසෙනා.




සුංගම් නගරයන්ගෙන් සම්මානයැයි, ඔවුහු කීහ
ඔවුනගේ කුමරුන් ස්වාර්ථ සිද්ධි; "සියල්ල සඵල කරන්නාවූ"
කෙටියෙන්, සිද්ධාර්ථ

අමුත්තන් අතර පැමිණියෝ
කෙස් පැසුණ අසිත, සෘෂි හෙතෙම, වැසූ සවන් ඇත්තේ
දිගු කලක් තිස්සේ ලෞකික වූ දෙයට, දිව්‍යමය හඬ ග්‍රහණව,
ඇසුවා, යදිද්දී තම ඇසටු ගස යටදී
දෙවියන් ගී ගයනු බුදුන්ගේ උපත උදෙසා.
අරුමැති නුවණින් වැඩුනෙකි හෙතෙම. වයසින්ද උපවාසයෙන්ද

රජතුමා නමස්කාර කළා, මායා දේවිය පිළියෙළවී
තම බිලින්දා එම ශුද්ධවූ දෙපා ඉදිරියේ තබන්නට;
නමුත් කුමරු දුටු සඳ මහල්ලා හඬ ගෑය
"අනේ දේවිය, එසේ එපා!" අනතුරුව ඔහු අතගෑය
අට වරක් බිම දූලි, රුඳවිය තම කෂය වූ වක්ත්‍රය එතැන,
කියමින්, "අහෝ, බිලින්දේ! මම ඔබ නමදිමි! ඔබ ඔහුය!
මම දකිමි ලා රත් ආලෝකය, දෙපතුල සලකුණු,
සුමුදු වක්‍ර වූ ලතාපසුර ස්වස්තිකයේ
ශුද්ධ වූ දෙතිස් ලකුණුවල පූර්විය
අසුවක් වූ මඳ නිමිති. ඔබ වේය බුදුන්, ධර්මය දෙසමින් මුදා ගනු ඇතිය
සියලු සත්හු
ඒ උගත් ඔබෙ දහම, නමුදු කිසි දිනෙක නොඇසෙයි මට,
නුදුරේම මියෙන, මැතදී මැරෙන්නට පුල පුලා සිටි;
මා ඔබ මෙසේ දුටුවේ කිමද. දැන ගනුව අහෝ නරේන්ද්‍රයානෙණි!,
මෙයයි ඒ කුසුම අප මිනිස් වෘක්ෂයෙහි
එක වතාවකි පිපෙන්නේ එය වසර කල්පයකට-
නමුදු පිපී කල, පුරවාලයි ලොවම බුද්ධියේ සුවඳින්
සහ ආදර කරුණාවේ හැලෙන මධුවෙන්; රාජකීය මුලකින්
දිව්‍යමය නෙලුමක් ඉපදී! අහෝ ප්‍රීතිමත් නිවහන!
නමුත් සියල්ල සතුටු සහගත නොවේ, මන්ද අසිපතක් පසාකරාවී
ඔබගේ අතුණු මේ පුතුට - මේ අතර, ඔබ, සොඳුරු දේවිය!
දයාබර වූ සැම දෙවියන්ට සහ මිනිසුන්ට මේ උතුම් උපතින්,







එනිසාම ඔබ පූජනීයයි තවත් දුක් නොලබන්නට,
ජීවිතය දුකය, එනිසාම සත් දිනකින්
වේදනාවෙන් තොරව ඔබ එළඹේය වේදනාවේ කෙළවරට."

එය එසේ සිදුවිය. සත් වෙනි දින සන්ධ්‍යාවෙහි
මායා දේවිය සිනා මඩලින් සැතපුනාය, යලිත් අවදි නොවන්නට,
සැනසිල්ලේ ගියාය ඈ තව්තිසා දෙව්ලොවට,
නිම්නැති දෙවියන් ඇයට නමදිමින්,
සත්කාර කළෝ ප්‍රභාමත් වූ මාතෘ ශීර්ෂයට,
නමුත් ඇගේ බිළිඳුන්ට ඔවුහු කිරිමවක සෙවූහ,
මහා ප්‍රජාපතී කුමරිය - ඇගේ ලැම
උතුම්වූ මව් කිරෙන් පොෂණය කළාය ඔහුගේ දෙතොල
නේක ලෝකයන් සනසන දෙතොල

අටවැනි වසර ගෙවී ගිය සඳ
නිරිඳු සිතූ තම පුතුට උගන්වන්නට
සැම දෙයක්ම කුමරෙකු විසින් උගත යුතු,
මන්දයත් තවම ඔහු නොපිළිගති, එම ප්‍රාතිහාර්යයන්ගේ ඉමහත් පෙර නිමිති,
බුදුවරයෙකුගේ ශ්‍රී විභූතිය හා වේදනා.
ඉතින්, තම මුළු මහත් ඇමති මඬුල්ල අමතා,
"ශ්‍රීමතුනි, කවුද නැණවත්ම මිනිසා?" යි ඔහු විමසී,
" මා කුමරුන්ට උගන්වන්නට කුමරුකු විසින් දත යුතුදේ?"
හැම දෙන එක් හඬින් පිළිතුරු දුන්හ-
"නිරිඳුනි! විශ්ව මිත්‍රය නැණවත්ම,
දේව ධර්මය වඩා දුරට දත්,
ඉගෙනීමෙහිද, සිප් සතර, තරග ඈ සියල්ලෙහිද අති දක්ෂ."
මේ හෙයින් විශ්වා මිත්‍ර පැමිණ අසා අණ;
සොයා සුභ දිනයක්, කුමරු
අතට ගත්තා තම ශිලාපෝරුව ගව - රත් සඳුන් ලියෙන් නිමැවූ,
සුන්දරව මිණියෙන් රාමුකළ,
ලෝහ කුඩකින් ඉස මදින ලද
මෙයද, ලියනා කටුවද, අතින් ගෙන නැගී සිටියා ඔහු






මධ්‍යාහ්නයේ මහා දේවිය පිරිපුන් ගැබින් සිටියාය, නොවක්වූ කඳින් යුතු රුක් සෙවනක.
වෘක්ෂය නැමී සිය අතු මවන්නට මඬුල්ලක් මායා දේවියට ඉහලින්. මිහිකත පුබුදුවා ලිය




දැස බිම හයා අභියස ඍෂිවරයන්. මෙසේ කී,
"දරුව. ලියන්න මෙම ලියවිල්ල" සෙමින් දෙඩුවා
පදවැල
"ගාය ත්‍රී" නම් වූ, කුලවතුන් පමණක් ඇසූ:-
"ඕම්, තත් සවිතුර් වරේන්‍යම්
භාගෝ දේවස්‍ය ධීමහී
ධියෝ යොන ප්‍රචොදයාත්."

"ආචාරිනි, මම ලියම්" යටහත් පිළිතුරු දුන්
කුමරු, කඩිනමින් වැලි පිළේ ඇන්දා
එක් අකුරු පෙලකින් නොව, නොයෙකුත් අක්‍ෂරයෙන්
එම උතුම් කාව්‍යය: නාග්රී සහ දක්‍ෂින, නී,
මංගල, පරුශ, යව, තිර්ථි, උක්
දරද්, ශික්‍යානි. මාන, මධ්‍යචාර,
රූ සටහන් අක්‍ෂරද සලකුණු සහ භාෂණයද,
ලෙන් වාසී මිනිසුන්ගේ සලකුණුද, සාගර ජනයාගේ සලකුණුද
දෙරණ යට නාගයන් පුදනා වුන්ගේද,
ගිණී පුදනා, හිරු මඩල පුදනා වුන්ගේ ද,
පුවී දිග ශාස්තෲවරයන්ගේද, හුඹස් ගොඩැලි මත වෙසෙන්නන්ගේද
හැම ජාතියකගේම අපූර්ව වූ සැම ලේඛණයන්ම ඔහු ලියුයේ
එකින් එක තම ලියන කටුවෙන්.
කියවමින් ඔහු ඇදුරන්ගෙ කාව්‍යය හැම බසින්ම
විශ්ව මිත්‍ර මෙසේ කීය, "ඒ ඇත,
අපි සංඛ්‍යා කරමු.

මා අනුව කියන්න
ඔබගේ ඉලක්කම්, අප ලක්‍ෂයට එන තුරු
එක, දෙක, තුන හතර, දහය දක්වා. අනතුරුව දශකයෙන් දශකයට
සිය ගණන්, දහස් ගණන්." ඔහු අනුව දරුවා
නම් කළා ඉලක්කම්, දස, සිය, ගණන්; නොනැවතී,
ලක්‍ෂයට පැමිණියා, නමුත් පහත් හඬින් මිමුනුවා දිගටම
"ඊ ලගට එන්නේ කෝටිය, නහුත, නින්නහුත,
කම්භ, විශ්කම්භ, අභබ, අත්තථ







කුමුද, ගන්ධික, උත්පල,
පුන්ඩරික, පදුම
අවසානයේ එසේය ගනින්නේ වාලුකා කැට
හස්තගිරියේ බිම සිහින්ම ධූලි දක්වා
නමුත් එයින් ඔබ්බේ සංඛ්‍යා වන්නේ,
කාථි. රාත්‍රියේ තරු ගනින්නට;
කෝටි කාථි, මුහුදු දිය බිඳු ගනින්නට;
ඉංග, කවාකාර දෙයෙහි ගිණුම්
සර්ව නික්ෂෙප වලිනි ගණින්නේ
ගංගා නම් ගග සියලු වැලි කැට, පැමිණෙනා තුරු අප
අන්ත කල්පයට, - මෙහිදී ඒකකය
ගංගා දස කෝටියක වැලිය. කෙනෙක් සෙවි නම්
තව දුරටත් මිනුම් සංඛ්‍යා ගොඩනැගේ
අසංකයට. මන්දයත් එය
වසර දස දහසක් තිස්සේ සෑම ලෝකයක්
මත්තේම දිනපතා වැටෙන වැස්සේ බිඳු සියල්ලම
මෙයින් පසු එයි මහා කල්ප, මෙයින්මයි
දෙවිවරු මනින්නේ තම අනාගතය සහ අතීතය."
"අති උතුම් කුමරුනි, එය අගේ" යැයි සෘෂිවරයා උදම් ඇනිය "අති
උතුම් කුමරුනි,
ඔබ මේ සියල්ල දන්නේ නම් මා ඔබට උගැන්විය යුතුද
මනිනා හැටි පරම්පරානුව?"
යටහත්ව පිළිතුරු දුන්නා කුමරු, "ආචාර්‍ය තුමනි!"
"කරුණාවෙන් අසන්න. පරමානුද දහසක්
මවයි පර සුක්ෂ්මයක්; මෙයින් දහයක් නගයි
ත්‍රසරිනයක්, ත්‍රසරින සතක්
වෙයි එක් අංශුවක් පාවෙන එක් කුඩු පොදක දිග.
කුඩු සතක් වෙයි මීයෙකුගේ ඉස් කෙඳියක අග, එයින් දහයක්
ලික්‍ෂ එකකි; ලික්‍ෂ දහයක් වෙයි එක් යුකයක්,
යුක දහයක් වෙයි යවයක හදවත, ඒ තුළ ඇත
බමර හිණී සේ හතක්; මෙසේ පෙළින් පෙළ ගියේ
මුං ඇටයකට, අබ ඇටයකට, යව ධාන්‍ය ඇටයකට,
මෙයින් දහයක් විය අතැඟිල්ලක පුරුක. පුරුක් දොලසක්






බිළිඳු සිදුහත් කුමරු අසිත නම් තව්සාට දක්වනු ලැබුවේය. එහිදී විශ්මයකට මෙන් බිළිඳු
සිදුහත් කුමරුගේ දෙපා අසිත තවුසාගේ හිස මත පිහිටියේය. සිදුහත් කුමරු පසුව බුදුවන බව




වියත, එයින් එළඹෙමු රියනට, යෂ්ටියට,
දුනු දිග, හෙල්ල - දිග, හෙල්ල දිග විස්සක් වෙයි
මිනුමක්" "සුසුම" නම් වූ
එක් වරක් පෙණහලු පුරවා මිනිසෙකුට යා හැකි දුර
මෙයින් හතළිහක් වෙයි ගව්ව, මෙයිනුත් සතරක්
වෙයි යොදුන; ඉතින් ඇදුරණි, ඔබ කැමති නම්
මම කියන්නම් සූයඝි පරමාණු
කීයක් වේ දැයි යොදුනක් දිගට"
මෙහිදී ක්ෂණික හැකියාවෙන්, කුඩා කුමරු
හෙලි කළේ මුළු පරමාණු ප්‍රමාණය.
තම මුවට ලංව ඇසුණ එම පිළිතුර ඇසූ
විශ්ව මිත්‍ර, දරුවා ඉදිරියේ දිගාවී වැඳ වැටී, හඬ ගෑය
ඔබ වහන්සේය ඇදුරන්ගේත් ඇදුරු - ඔබය, මා නොවේ,
ගුරු අහෝ, මම ඔබ නමදිමි, සොඳුරු කුමර!
මගේ ගුරු ගෙදරට ඔබ පැමිණෙන්නේ
පෙන්වන්නටය ඔබගේ දැනුම පතපොතක් රහිතව,
තවද දනිතිය ඔබ බුහුමන්හි පමණ."

එම බුහුමන්
බෝසත් දැක්වීය තම හැම ඇදුරෙකුටම
එසේ නමුත් ඔවුන් ඉගැන්වූ දෙයින් ඔබ්බේ කථිකත්වයෙන්
නිසිසේ මුදු, එනමුදු ඉතා නැණවත් පෙනීමෙන් සුකුමාර
නමුදු සුමඳු ගතියෙන්; විනීතව, යටහත්ව,
මොලොක් වූ හදවතින් එනමුත් අභීතව රුධිරයෙන් සැදි;
තුරුණු කංඩායමේ නොවී ඔහු තරම් නිර්භීත බුහුටි අසරුවෙක්
ප්‍රමෝදයෙන් අඹා ගියේ, කෝල වූ සාරඞ්ග මුව පොව්වන්
නොවූ ඔහු තරම් උනන්දු වූ රථවාහකයෙක්
සරදම් තරගයක මාලිගා අංගණයේ සැරෙන් දුවගිය
නමුත් ක්‍රීඩා අතරවාරයේ කුමරු බොහෝවිට නැවතී
ඉඩ දුන්නේ මුවන්ට නිදහසේ පලා යන්නට, බොහෝ විට ඉඩ දුන්නේ
අඬක් දිනූ තරගයක - මන්දයත් වෙහෙස වූ සෙන්ඩවයින්
වේදනාවෙන් හති ලෑ හෙයින්; ඒත් නැත්නම් තම කුමර සගයින්







පරාජයෙන් දුක් විනම්, ඒත් නැත්කම් යම්කිසි හැඟුම් බර සිහිනයක්
ඔහුගේ සිතුවිලි ඇමදුවා නම්, තවද වසරින් වසර
අප හිමියන්ගේ කරුණාව වැඩිණි.
මහා ගසක් වුව සුමුදු දළු දෙකකින් වැඩෙන්නාසේ
තම සෙවන ඈතට පතුරුවන්නට;
නමුත් නොදත්තේ කුඩා දරුවා ශෝකය, වේදනා හෝ කඳුළු,
නුහුරු වදන්ම විය ඒ දෑ රජුන් විසින් නොවිඳී
හෝ කිසිදිනෙක නොවිඳින්නාවූ. නමුත් එයම සිදුවිය
වල් හංසයින් රංචුවක් පියඹා ගියා, යන ගමනේ උතුරතට
තම කැදලි කරා හිමාලයේ ලැම.
හඬගාමින් ආදර ස්වරයන් තම හිමවන් රේබාව ඔස්සේ
දීප්තිමත් වූ කුරුළු කැල පියඹා ගියා, සෙනෙහෙබර ආදරයේ
නියමුවෙන්
මෙවිට දේවදත්ත - ඒ කුමරුන්ගේ ඥාති සොහොයුරු
තම දුන්න එලවා මුදා හලේ තෙදවත් හී සරයක්
එය සොයා ගියේ පුලුල් වූ පියාපත ඉදිරියෙන්ම ගිය හංසයාගේ
විහිදුවා පියාපත් නිදෙස් නිල් වියන් මග සජීණය වී
ඇද හැලුණි, කටුකවූ හීය ඇමිණී,
දීප්තිමත් තද රතු ලේ වැල් කැලැල් කරමින් අර නිමල පියපත්.
මෙදැක කුමරු සිදුහත් කුරුල්ලා ඔසවා
මෘදු ලෙස, රඳවා ඌ තම උකුල මත
පද්ම සනෙන් හිඳ බුදුවරයෙකුසේ
සනහමින් සිය අත්ල පහසින් ඒ වන සතුන්ගේ බිය,
සකසමින් පිරා උගේ අවුල්වූ පෙර පිහාටු, සන් සුන් කරමින් සැලෙන
හදවත,
පිරිමදිමින්, ගෙනෙමින් ශාන්තිය - සුමට කරුණා දෑත්තලසෙන්
රඹ පත් මෙන් සුමුදු වූ, පැයක් ගතවිණි.
වමතින් අල්ලා, සුරතින් ඇද්දේ
කුරිරු වානේ හීය තුවාලයෙන් පිටතට තැබී
සිහිල් පලා පත් සමග සුවදෙන මී බිඳු පුපුරුව මත
නමුත් අල්පයකි දරුවා දත්තේ වේදනාවන් ගැන
තෙරපුවේ තම මැණික් කටුවට






සුදොවුන් රජුන්ගේ මාලිගයේ එක්රැස්වූ තවුසෝ විමති වූහ. දකිමින් බිළිඳු කුමරුගේ සිරුරේ වූ ලකෂණ. නම් කළහ ඔවුහු ඔහු සිද්ධාර්ථ නමින්. සියලු අථ සිදුකළ ඇතැම් තවුසෝ කීහ කුමරුන් චක්‍රවර්ති රජු හෝ බුදුන් බව. එනමුදු එක් තවුසෙක් කියා සිටියේ ඔහු නිසැකයෙන්ම




හියේ තුඩ තිගැස්සෙමින් එහි දෂ්ටයට,
නැවත හැරුණ කඳුලින් යුතුව, සනසන්න තම පක්ෂියා යළි
මෙවිට කෙණෙක් පැමිණ පැවසී, "මා කුමරු හීයක් විදදේ
හංසයෙකුට, මෙතැන ඌ වැටුණේ සෙව්වන්දි අතර,
අණ කළේ මට ඇවිත් පවසන්න ඔබහට එය දෙන්න යැයි.
දෙනවාද ඔබ එය?"
"නැතැ" යි පැවසී සිද්ධාර්ථ, "මළා නම් කුරුල්ලා
දිය හැකිය එය විද මැරූ තැනැත්තා හට,
නමුත් හංසයා ජීවත්වෙයි; මා සොහොයුරා නැසුයේ
මේ ධවල තටුවෙහි ස්පන්දනය වූ දිව්‍යමය වේගය පමණී."
දෙවදත්ත පිළිතුරු දුනී. "මේ වන සත්වයා,
ජීවමානව හෝ මළා හෝ, අයත් එය හෙලූ ඇත්තාටය,
වළා පෙළ මත එය කිසිවෙකුට අයත් නොවී, නමුත් වැටුණ කල එය
මගේය,
දෙන්න මට මා දිනූ ප්‍රදානය, යහපත් සොයුර" මෙවිට අප මහසත්
හංසයාගේ ගෙළ තම සුමුදු කම්මුල මත රඳවා
සන්සුන් ලෙසින් පැවසීය, "නොහැකි යැයි පවසන්නේ!
පක්ෂියා මගේය,
මෙයයි මුල්ම දෙය මහා රාශියකින් මට අයත් විය යුතු
දයා කරුණාවෙන් හා ආදරයේ උත්කෘෂ්ටතාවයෙන්
දැන් මම දනිමි, මා තුළ කැළඹෙන හැගුමෙන්
මිනිසුන්ට උගන්වන බව කරුණාව
ලෝකයාට නිහඬව තෝරා දෙන්නෙක් වෙමි.
සංහිඳවමින් මෙම සාපකාරී ශෝකයේ ගංවතුර
මිනිසාටම පමණක් හිමි නොවූ; නමුත් එකුමරු අරෝව කරයිනම්
ඔහුට හැකි මෙකරුණ පඬිවරයන්ට ඉදිරිපත් කරන්නට
එවිට අපට ඉවසා ලද හැකිය ඔවුන්ගේ තීරණය"
මෙය මෙසේම සිදුවිය;
මුළු මන්ත්‍රණසභා මඩුල්ලම ඉදිරියේ වාද විය මෙකරුණ
බොහෝ දෙන සිතුවෝය මෙකරුණ, එකරුණ

එක් අප්‍රකට බමුණෙක් නැගී මෙසේ කියනා තුරු







"ජීවිතය යමක් වෙයිනම්, ජීවිතයක් බේරා ගන්නෙකු
හට අයිතිය එම දිවි ඇති දෙය,
එය වනසන්නට අර ඇදියෙකුට වඩා-
දිවි නසන්නෙකු ඌරල් කරයි, විනාශ කරයි
දිවි රකින්නා එය පවත්වාගෙන යයි. දිය යුතුය ඔහුට පක්ෂියා."
මෙම තීරණය හැම දෙනම සාධාරණයි සිතූ; නමුත් නරනිඳුන්
සොයද්දී මෙම සෘෂි ඔහුව බුහුමන් දෙන්නට, ආගිය අතක් නොවී
හෙතෙම
කෙනෙකු දුටුවේ පෙණය පුම්බාගත් නාගයෙකු ඇදියනු
දෙව්වරු මෙසේ පැමිණෙති ඇනැම්විට! මෙසේ අප මහසත්
ඇරඹිය තම කරුණාවේ කටයුතු
නමුදු තවමත් නොදත්තේය ඔහු ශෝක වේදනා පිළිබඳ
අර එක් කුරුල්ලාගේ හැරෙන්නට
ඌද සුවපත්ව පියාඹා ගියේ ප්‍රමෝදයෙන් තම කැලට
නමුත් තවත් දිනෙක රජතුමා මෙසේ කීය "එන්න,
මා සොඳුරු පුත! බලන්න වසන්තයේ ප්‍රසන්නතාව
පලබර මිහිකත පෙළැඹි අවනත වෙන හැඩ
පලදාව දෙමින් නෙලන්නාට;
සැය දර ගින්න මා කරා එද්දී බලන්න කෙලෙසද, ඔබට අයත් වෙන
මා රජ දහන තම සැම මුවකටම අහර සපයා රජුන්ගේ භාණ්ඩාගාර
පුරවන හැටි
ශෝභනය සෘතුව ලාදල්ලෙන්, ප්‍රභාවත් කුසුමෙන්
පච්ච තණනිල්ලෙන්, සීසානා කලෑ ගීතයෙන්"

මෙසේ ගමන් ගති ඔවුහු
ලිං පොකුණු සහ උයනින් සැදි මාවතකට,
එහි රත් පැහැ මුසු පස් ඔස්සේ ඉහළට පහළට
ගවයෝ කෙඳිරිගානා වියගසට අධික විරියෙන් තම සිය ශක්තිමත් උර
දුන්හ
ඇදයමින් නගුල්, සාර පස නැගී ඇඹරිණී, පෙරලිණී
සුමුදු අඳුරු රල සේ නගුලෙන් පහතට;
එලවා ගියවුන් දෙපයම රුදවී. පිම්මේ යන හීදත මත






සිදුහත් කුමරු ඉපදී සත් දිනකින් මහ මහා දේවිය අභාවයට පත්වූවාය. ඈ තව්තිසා දෙව්ලොවෙහි දෙව්යෙකුව උපන්නේය.




හී විට ගැඹුරට හාරන්නට; තාල තුරු අතර
කිකිණිය නාද විය රැළි නැංවූ දිය දහර
එය දිවූ තැන ප්‍රමෝදිතවූ මිහිකත සැදි ලියවැල් ගෙත්තම්
ගුග්ගුළි හා පැඟිරි මානා පඳුරෙන්
වෙනතක වුහ වපුරන්නවුන් පෙරටම යමින් වපුරමින්;
මුළු වනකරයම හිනැහුණි කැදලි - ගීතයෙන්
සියලු ලැහැබ් සරසර හඬ ගැය කුඩා ජීවයෙන්
කටුසු, මී මැසි, කුරුම්ණි සහ උරගුන්
වසන්ත සමයට ප්‍රමෝද වූ අඹ දළු අතරේ
සූරිය කුරුල්ලෝ දිලිසුණාහ; තනිව තම පච්ච කම්මල වෙත
වෙහෙසුණි ෂෝසාකාරී ආචාරියා, වී බිගු කන්නෝ කෑරුවෝ
අඹා යමින් දම් පැහැ සමනලුන්; සෙවන යට
තුන් ඉරි ලේනුන් දිව්වෝ තරගෙට, මයිනෝ හිස් ඔසවා සැලුවෝ
අහුලා කෑවෝ

දෙමලිච්චෝ - නව සොහොයුරියෝ කිච් බිච් ගෑවෝ කටු පඳුරේ,
විසිතුරු ලප ඇති බිලි දිවියා පොකුණ ඉහල කැරකුණි.
මාරලුන් ගැවසුණේ මිමුන් අතර
උකුස්සෝ වටරවුම් ගැසුවෝ රන්වන් වාගැබේ
සායමෙන් විචිත්‍රවූ දොවොල අවට මොණරු පියැඹූහ.
නීල පරෙවියෝ බුකු බුකු ගෑවෝ හැම රවුමක, ඈත
ගම්මානයේ බෙර හඬ ඇසිණි කාගේදෝ මගුලකට
හැම දෙයම කීවේ සාමයයි සමෘද්ධියයි,
කුමරුද ඒ දැක ප්‍රීති විය. නමුත් වඩාත් ගැඹුරට බලද්දි ඔහු දුටුවේ
මේ රෝස මල්දිවියේ වැඩෙන කටුමයි
පච් කැවුණ අඳුරු ගොවියන් තම චේතනයට දහදිය හෙලන අයුරු
වෙහෙසෙමින් ජීවත්විමේ හේතු උදෙසා, දක්කනා හැටි
ලොකු දැස් සහිත ගවයන් දැවෙන හෝරා තුළ
කෙවිටෙන් අනිමින් උන්ගේ ලේ රත් ඇලපතට; තවද දුටුවේය ඔහු
කටුස්සෝ බුදින හැටි කුහුඹුවන්, සර්පයෝ අනතුරුව ගිලින හැටි
කටුස්සන්
උකුස්සසෝ, ගොදුරු ගත් හැටි උන්දෙගොල්ලම, දුටුවේය බිලි උකුස්සා
සොරාගත් හැටි බිලි දිවියා සොයාගත් දේ.







වකුටු හොටා එලවා ගිය හැටි
මිණි එබ්බවු සමනලුන්, හැම තැනමත් පෙනුනේ
මරන්නෙකු මරණ හැටි, තවකෙකු මැරුවෙකු පිලිවෙලින්
ජීවිතය රැකුනේ මරණයෙන්. සුන්දරයැයි සිතූ දසුන
මෙසේ කඩතුරාවක සැගවුයේ විසල් රෞද්‍ර, ප්‍රචණ්ඩ, කුමන්ත්‍රණයක්
අන්‍යෝන්‍ය ඝාතනයන්, පණුවාගේ සිට මිනිසා දක්වා,
ඔහුද මරන්නේය තම සහගාමිකයන්. දකිමින් මෙසේ-
කෂුධාපත් සීසාන්නා සහ ඔහුගේ වෙහෙසෙන ගවරුල
ඔවුන්ගේ ගෙළකඩ දිය බුබුළු නගමින් කටුක වියගසෙන්
ජීවත්වීමේ අත්‍යාශාව සියලු ජීවය හෙළයි පොරයක
සිද්ධාර්ථ කුමරු හෙළීය සුසුම්. "මෙයද" ඔහු විමසී,
"ප්‍රීතිමත් මිහිකත මා කැඳවා ආයේ දකින්නට?.
දිලිඳු ගොවියන් ගෙ අහර කෙතරම් ලවණවිද දහදියෙන්!
කෙතරම් දුක්ඛිතද ගවයන්ගේ සේවාව!
අකුලෙහි කෙතරම් ප්‍රචණ්ඩද දුබලයන් හා ප්‍රබලයන් අතර ගැටුම!
ගුවනේද කෙතරම් උපායන්ද!
පිළිසරණක් නොවී දියෙහි පවා. පසෙකට යන්න
ඉඩක් දී මට මා දුටු දෙය ගැන මෙනෙහි කරන්නට"
මෙසේ කියමින් අපගේ සම්‍යක් මහසත් හිඳගෙන
දඹ ගසක් සෙවනේ, එරමිණිය ගොතමින්
ශුද්ධවූ ප්‍රතිමාවක සිදිනාසේ, පළමුව ඇරඹිය
මෙනෙහි කරන්නට මෙම ගම්භිර ව්‍යාධිය ජීවිතයේ
කොතැනකද එහි ඇතයේ ආරම්භය, කොතැනකද එවිට ප්‍රතිකර්මය,
කෙතරම් ඉමහත් දයානුකම්පාවක් පිරුනාද ඔහු තුළ
කෙතරම් පුලුල් වූ ආදර කරුණාවක් උපන්නේද සියලු ප්‍රාණීන් වෙත,
කෙතරම් චිත්ත වේගයක් ඇතිවී ද සනසන්න වේදනා
මේ සියල්ලෙහි බරින් ඔහුගේ කුමර විඥනය මිදී
එළඹියේ අභිනන්දනයට, පවිත්‍ර විය හෙතෙම පාරාජිකාවේ කැලැල් බඳු
ඉන්ද්‍රියයන් ගෙන් සහ ආත්මාර්ථයෙන් කුමරු අත්කර ගති
ප්‍රථම ධ්‍යානය, නිවන් මගට මුල් පියවර






*සිදුහත් කුමරුන්ගේ මෑණී - මහා මායා දේවිය කුමාරෝත්පත්තියෙන් නොබෝ දිනකට පසු මිය ගියාය. බිළිඳු කුමරුන් හදාවඩා ගත්තී මහා ප්‍රජාපතී ගෝතමී නම්වූ සුළු මවයි.*




## පියාසර කළේ

ඉහළ අහසේ මේ හෝරාවේ අති පවිත්‍රවූවන් පස් දෙනෙක්
ඔවුනගේ නිදැල් පියපත් පැකිලුණී මේ රුකට ඉහළින් යද්දී
"කවර නම් බලයක් අතිමහත්වූ අපව අදනේද අපේ ඉගිලයාමෙන්?"
ඔව්හු විමසුවෝ, මන්දයත් අශාරීරික ප්‍රාණයන්ට හැගෙයි සියලු
දිව්‍යමය ආවේගයන්
ඔව්හු දනිත් ශුද්ධවන්තයින්ගේ උතුම් ස්වභාවයක හමුවීම
බලමින් පහත දුටුවෝ ඔව්හු බුදුන්
රෝසවන් රැස්මාලාවකින් අභිෂික්තව
අරමුණෙන් යුතුව මුදවන්න ලෝසත, මේ අතර රුක් ගොමුවෙන්
නැගිනි කට හඬක්
ඍෂිවරුනි. "මොහුය ලොවමඋපකාරය
පහළට පැමිණ පුදදෙන්න නමස්කාරයෙන්"
මෙලෙසින් ප්‍රභාමත් වූවෝ පහතට පැමිණ
ගැයූ ගීතයක් පැසසුමින්, තම පියපත් හකුළුවා,
අනතුරුව ගියෝ තම ගමනේ සුභ පුවත දෙවියන්ට දෙන්නට

නිසැකයෙන්ම රජු පැමිණියේ කුමරුන් සොයා
දුටුවේය ඔහු තවමත් භාවනාවෙහි, මධ්‍යාහ්නය ගතවුවද
හිරු කඩිනමින් ඇදුණද අපරදිග කඳු වෙත:
අන් සියලු සෙවනැලි සැලුණද ඈත මෑත, දඹ ගසේහි
සෙවනැල්ල රැඳුණේය දිග්භාගයේ. සෙවන සදමින් කුමරුන්ට
ඇලවෙන හිරුකිරණ ඒ උතුම් හිසට නොවැදෙන්න
මෙම දසුන දුටු ඔහුට ඇසිණි කටහඬක්
දඹ ගසෙහි කුසුමන් අතර
"නරනිඳුන්ගේ පුතුට හිඳින්නට ඉඩ දෙනු! සේයා
ගෙවෙනා තුරු ඔහුගේ හදවතින් මගේ සෙවනැල්ල නොසෙල්වෙනු
ඇති."







## දෙවන පොත

ඉතින්, අප මහසත් දහ අට වයස් පිරුණු කල්හි,
පිය රජුන් අණ කළේ නිමකරන්නට
මන්දිර ත්‍රිත්වයක්, එකක විය සතරැස්ව සසින ලද පරාළයන්
දේවදාරුවෙන් පෙළගැසූ, ශීත දිනයන්හි උණුසුම ගෙනෙන සේ;
එකක් විය වණී රේඛා සහිත කිරිගරුඬයෙන්, ගිම්හාන උනුසුමට සිසිල
දෙවන්නට;

එකක් විය දැවූ ගඩොලින්, නීල උළුවෙන් වහල සරසා
ප්‍රසන්න විය අංකුර සමයේ, චම්පාවන් පීදෙද්දී
සුභ, සුරම්‍ය, රම්‍ය නම් වීය මේවා.
මනෝහර උයන්වතු ඒ අවට පුබුදු විය
දිය දහර ගැලුවා වනාතේ. කස්තුරි පුසුඹ ඇත ලැහැබ පැතුරුණි.
බොහෝ වණීවත් නේක මණ්ඩප හා පැහැදුල් තණ තලා සහිතව
මේ අතර සිද්ධාර්ථ හැසුරුනා රිසිසේ නිදැල්ලේ
යම් යම් අභිරම්‍ය දේ පුරවමින් හැම පැයම;
ප්‍රමුදිත හෝරාය ඔහු දත්තේ, මන්දයත් ජීවිතය සාර විය,
තුරුණු රුධිරය වේගවත් වී, නමුත් පැමිණියේ
සේයා ඔහුගේ භාවනාවේ
වැවක රිදි දිය පාවී යන වළාකුලක් මොට වෙන්නා සේ.

දකිමින් මෙය රජතුමා, කැඳවීය තම මැතිවරුන්
"සිතන්න ඔබ සැම උතුමෙනි, මහලු ඍෂිවරයා කී වදන්"
ඔහු පැවසී "මගේ සිහින තෝරන්නෝ පෙර නිමිති කීදේ.
මේ කුමරු, මගේ හදවත රුධිරයට වඩා මට අගනා,
මුළු ලොවම පාලනය කළ යුතු
සතුරු බල මුලුවෙහි සියලු ගෙළ මඩිමින්
චක්‍රවර්තී රජ පදවි ලබා - මගේ හදවතේ ඇත්තේ එයයි.
එහෙත් නැතිනම් යාය ඔහු දුක්ඛිත වූ පහත් මගක
ආත්ම අපලාපයෙන් හා සැදැහැති බේදයෙන්,
අත්කරගනීද කවර හොඳක්, මෙසේ සියල්ල නැතිවෙද්දී
තබා ගන්නට වටිනාදේ; මෙයටය ඔහුගේ ශෝකී දෑස්







තවමත් නැඹුරුවන්නේ මගේ මාළිග අතරේ.
නමුත් ඔබලාය නැණ වතුන්, කිවයුත්තේ මා කළ යුතු දෙයක්
කෙසේද හරවන්නේ ඔහුගේ දෙපය අර ප්‍රෞඪ මාර්ගයට
ජීවා ඇවිද යා යුතු, සැබෑ කරමින් මගුල් සලකුණු
ඔහුට මිහි දෙරණම පාලනය කරන්නට සලසන, ඔහු එසේ පාලනය
කරයි නම්?

වඩාමත් වියපත් හු පිළිතුරු දුන්නේ, "මහාරාජයාණෙනි! ආදරයයි
සුවපත් කරන්නේ මෙවන් සුලු රෝග; වියන්නැ මන්ත්‍රයක්
වනිතාවකගේ උපායන් ඔහුගේ නිරර්ථක හදවත වටා
කුමක්ද දන්නේ මේ උතුම් කුමරු සුන්දරත්වය ගැන, මෙතෙක්,
සුරලොව ද අමතක කරන දෑස්, ගුගුල් බඳු දෙතොල්?
සොයා දෙන්න ඔහුට මටසිලිටු බිරියන් සහ සොඳුරු සහකාරියන්;
තාම යදමින් බැඳිය නොහැකි සිතුවිලි
සැහැල්ලුව ඇද බැඳ ගන්නේ දැරියකගේ කෙහෙරැලි

සියලු දෙන මෙය යහපතැයි සිතී.
නමුත් රජතුමා පිළිතුරු දුන්නේ "අප ඔහුට බිරියන් සෙවූවත්
ආදරය බොහෝ විට තෝරන්නේ වෙනත් ඇසකින්;
අප සුන්දරත්වයේ උයන සිසාරා,
ප්‍රමුදිතම කුසුම් නෙලුවත් ඔහු සිනාසී
මිහිරියෙන් පිළිකෙව් කරයි ඔහු නොදන්නා ඒ ආනන්දය"
තවකෙකු එවිට මෙසේ කීය, "බාරාසිංහ සැරිසරයි
දෛවයේ හී සරය අඹා එනතෙක්; ඔහු වෙත.
එයට වඩා මන්දවූ ආත්මයන්. කවරෙකු හෝ මෝහනය කරයි,
යම්කිසි වුවනක් ස්වර්ගීය වන්නේය, යම් කිසි හැඩයක්
ලොවම පුබුදන සියුමැලි අරුණට වඩා පැහැදුල් වූ.
මෙය කරන්නැ, මා නිරිඳුනි! අණදෙන්න සැණකෙළියකට
රාජධානියේම යුවතියන් තරග කාරින් වන්නාවූ
තාරුණ්‍යයෙන්ද සුකෝමලත්වයෙන්ද, ශාක්‍යයන්ට හුරු ක්‍රීඩා වෙන්ද
ඉඩ දෙන්න කුමරුන්ට මේ සුන්දරියන්ට තෑගී පිළිගන්වන්න
සොඳුරු ජයග්‍රාහිකාවන් ඔහුගේ අසුන අසලින් යද්දී
එයින් එක් අයෙකු හෝ දෙදෙනෙකු







වෙනසක් කරයි ඔහුගේ සියුමැලි දෙකම්මුල රූදෙනා ශෝකයේ
මෙසේ අපි තෝරමු ආදරය ආදරයේම දැසින්.
රවටමු කුමරුවන්ව සන්තුෂ්ඨියට."
මෙය යහපත් යැයි හැඟුනෙන්, එක් සුභ දිනෙක
අණබෙර කරුවන් මගින් කැඳවීය තුරුණු සොඳුරියන්
මාළිගාවට යන්නට රජ අණින්
තබන්නට ප්‍රමොදයේ මඩුල්ලක්, කුමරුවන්ය
පිළිගන්වන්නේ ත්‍යාග, වටනා දෙයක් හැමටම
අගනාම දෙය දෙන්නේ සොඳුරුම ඇත්තියට. මෙසේ රොක්වූහ
කපිලවස්තුවෙහි මානවිකාවෝ පවුරු දොරට,
හැම ඇත්තියම තම අඳුන් කෙස්රැළි තෙලින් ඔපදා ගොතලා
අක්ෂිපක්ෂ්ම සුර්ම දැහැටිය තවරා
නා පිරිසිඳුව, සුවඳ තවරා, සැමදෙනා සලු පිළියෙන් සැරසී
වඩාලාම වණීවත්වූ. සියුමැලි දැත්ද දෙපයද තවරා
ශෝණය වරුණ, නලලත තිලක දීප්තියෙන් රඳවා,
යහපත් දැකුම්විය ඒ ඉන්ද්‍රිය දැරියන්ගේ
සෙමින් පා තබා යන සඳ සිහසුන ඉදිරියෙන් විසල් කලු දෑස්
බිමට යොමා, කුමරු දුටු කල්හි
ඒ රාජ ශ්‍රී විභූතියෙන් සැලුණී
ඔවුන්ගේ ගැහෙන හදවත්. ඔහු සිටියේ සන්සුන්ව විරාගයෙන්.
සෞම්‍යව, ඔවුන්ගෙන් බොහෝ ඈතක. හැම යුවතියම පිළිගත්තේ
නැඹුරු කරගත් දෑසින් තම ත්‍යාගය, දෑස අයා බලන්නට බියෙන්
පුරවැසියන් ඇතැම් සොඳුරියකට ආවැඩී නම්
ඇගේ තරග කාරියන්ට වඩා සුදුසුව රාජකීය වූ මදහසකට
ඈ සිටියේ තැතිගත් මුවැත්තියක සේ අල්ලන්නට
ඒ දායන්විත සුරත, අනතුරුව පලාගියේ තම සහකාරියන් වෙතට
සැලෙමින් තමා ලද වාසියට; කෙතරම් දිව්‍යමය වීද ඔහු
අති උතුම් මුනීන්ද්‍රයකු සේ, ඇගේ ලෝකයට ඉතා ඉහළින්.
මෙසේ පියමං කළේ ඔවුන් දීප්තිමත් යුවතියන් එකියක් එකියක් පාසා
නුවර කුසුමන්. මේ අලංකෘත ප්‍රදානය
අවසන් වෙමින් ත්‍යාග වැයවෙමින්, අවසානයේ
පැමිණියේ යොවුන් යශෝධරා
සිද්ධාර්ථ අසලින් සිටියවුන් දුටුවේ කුමරුන්






*වප් මඟුල් දිනයෙහි සුද්ධෝදන රජුත් පිරිවරත් සිදුහත් කුමරු පලක් බැඳ බවුන් වඩනු දැක විශ්මයට පත්වූහ. ඔවුහු සිදුහත් කුමරුන් නැමද සිටියහ.*




තිගැස්සෙනු, ඒ කාන්තිමත් වූ දැරිය ලංවෙද්දී
දිව්‍යමය වාත්තුවෙන්. පාර්වතීගේ බඳු ගමන් ලීලාවෙන්
දෙනෙත ආලසමයේ මුවැත්තියගේ සේ. වුවන අතිපැහැපත්
වචනයෙන් විස්තර කළ නොහැක ඒ මෝහනය; ඈ පමණී
දෙනෙත් හයා බැලුවේ - තම දෑත් තල ලැම හරහා බැඳ-
කුමරුගේ බැල්ම දෙස, ඇගේ ප්‍රතාපවත් ගෙළ නොනැමී,
"මට ඇත්ද ත්‍යාගයක්?" ඇසුවාය ඈ හිනැහී.
"ත්‍යාග සියල්ල අවසන්" කුමරු පිළිතුරු දුනි. "නමුත් පිළිගන්නැ
මෙය හිලව්වට, දයාබර සොයුරිය, ඔබ සුකොමලත්වය
ආනන්දවූ පුරවරයටම වර්‍ණනා කරයි." මෙසේ පවසා
මුදාහලේ ඔහු තම ගෙල බැඳි මරකත මාලය, රැඳවීය
ඒ පච්ච මිණී ඇගේ සේද සුමදු කෘෂණ හිණ වට
ඔවුන්ගේ දෙනෙත මුසුවිය, බැල්මෙන් උපණී ආදරය.

බොහෝ කලකට පසුව - නිවන් දුටු-
බුදු සමිඳු - තම හදවත එදා
දැවුණේ ඇයිදැයි විමසී එකම බැල්මෙන් ඒ ශාක්‍ය දැරියගේ,
ලද්දේ පිළිතුර "අපි අමුත්තන් නොවීමු; එකිනෙකාට
ඈත ඈත යුගවල
දඩයක්කාරයෙකුගේ පුතෙකු, වන දැරියන් හා කෙළියේ
යමුනා උල්පත් අසල එතැන නන්දා දේවිය නැගී සිටියේ
තෘජතිමත් වූ ප්‍රමාණ පුරුෂයෙකුසේ, තරගෙට දුවද්දී ඔවුන් දේවදාර
ගස් යටින්
සැඳැවේ සාවුන් දුවන්නාසේ සෙල්ලමේ රවුමට;
එකියක කිරුලු පැලැන්දුයේ ඔහුට මල් තාරකාවෙන්. තව එකියක
දිගු පිහාටු උදුරා මොණරුන්ගෙන් හා වලිකුකුළන්ගෙන්
එකියක දේවදාර එලයෙන්. නමුත් අගටම දුව ආ එකිය
ඔහුගේ හදට පළමු විය, ඇයටය ගැටවරයා
පිළිගැන්වූයේ හීලෑ කළ මුව පොව්වෙකු තම හද ආදරයත් සමගින්
වන කරයේ විසුවෝ ඔවුහු සතුටින් වසර ගණනාවක්,
වනයේම මියගියේ ඔවුන් වෙන්නොවී
අහා! සැගවුන බීජ දලුලන්නාසේ නියංසායකට පසු
එසේම හොඳද, නරකද, දුක්වේදනා හා සැපතද, වෛරය







සහ ආදරයද, මියැදී ක්‍රියාවන්ද යළි පැමිණේ පෙරට
දරමින් දීප්තිමත් පත්‍ර හෝ අඳුරු ඒවා, මිහිරි ඵල හෝ තිත්ත ඒවා.
එකල මා විය ඔහු ඇයයි යශෝධරා
උපතේ සහ මරණයේ චක්‍රය කැරකෙද්දී
අප දෙදෙනා අතරවූ බැඳීමද පැවතිණි එසේ."

නමුත් ත්‍යාග ප්‍රදානෝත්සවයේදී කුමරුන් දුටු දනෝ
අසා දැක සියල්ල, පැවසීය සාවධානවූ රජු හට
කෙතරම් සැනසිල්ලේ සිටියාද යනවග සිද්ධාර්ථ
මහ සුප්‍රබුද්ධයන්ගේ දුවණි යශෝධරා පියමං කරනා තෙක්
පැවසීය ඇගේ දසුනෙන් හදිසියේ ඔහු වෙනස් වූ හැටි
ඇය ඔහු දෙස දෑස් හයා බැලූ ආකාරය හා ඔහු ඈ දෙස බැලූ
ආකාරය.
තවද ඔහු ඇයට දුන් මිණි ත්‍යාගය, හැරෙන්නට
නිහඬව ඔවුන්ගේ බැලුම් දෙඩූ දේ.
කැමති වූ රජ මදහස පෑය.
"බලන්නෑ. අපි සොයාගතිමු ඇම; දැන් රැස්වෙමු මන්ත්‍රණයට
අල්ලන්නට අපේ කුරුලු ගොයා වළාකුළෙන්
පයිණ්ඩකරුවන් යවන්න අසන්න යුවතියව
සරණපාවා දීමට මා පුතුට." නමුත් එකල නීතිය විය.
ශාක්‍යයන් අතර, පැතුවා නම් අත
ආයසීවූ නිවසක කතක, පැහැපත්වූ මනෝහරවූ,
ඔහු පෙන්විය යුතු විය නෙක තරගයෙහි දස්කම්
අනෙක් තරග වැදෙනා කුමරුන් හා සටන් කොට;
රජුන්ට වුව බිඳිය නොහැකි විය මෙම කුල සිරිත.
මෙහෙයින් ඇගේ පියතුම පැවසී: "පවසන්නෑ රජුනට,
මා දැරියගේ අත පතති කුමරුන් ඈත මෑත නොයෙක් දෙස
ඉතාම සෞම්‍ය වූ ඔබ පුතුට හැකිනම් නමන්නට දුනු දිය,
වනන්නට අසිපත, යන්නට අසෙකුපිට අනෙක් සැම පරයා
ඔහුව උතුම් වෙයි හැම දෙයින් උතුම් වෙයි අපටත්:
නමුත් මෙය කෙසේ වන්නද, තාපසෙකු සේ වෙසෙද්දී ඔහු?"
අනතුරුව මහ රජුගේ හදවත වේදනාවූයේ, දැන් කුමරු
අයැදී හෙයිනි සොඳුරු යශෝධාරාවගේ අත - නිරර්ථකව






සිදුහත්ට අට විය පසුවු කල රජ සිතුවේ උගන්වන්නට සිය පුතුන්ට සියලු දේ කුමරෙකු විසින්
උගත යුතු. කුමරුන් උගත්තේ සියලු සිප් සතර. ඇදුරන් විස්මපත් වුයේ කුමරුන්ගේ දස්කම්




දේවදත්තයන් අති දක්ෂවී දුනු ඇදීමෙහි,
අර්ජුනය නිපුණ වුයේ සියලු ප්‍රචණ්ඩ අසුන් හැසිරවීමෙහි,
නන්ද විය අසිතරගයේ නායක, නමුත් කුමරු
මදහස පා කීය "මේ සියල්ල මමද උගත්තෙමි;
අණබෙර යවන්නැ ඔබේ පුතු මුහුණ දෙන බවට
සියලු තරගකරුවන් සැම තරගයෙහි. සිතමි මම
නැති නොවෙන බව මගේ ආදරය මෙවන් දෙය නිසා."
ඉතින් ප්‍රකාශ විණි. එයින් සත්වන දිනයෙහි
සිද්ධාර්ථ කුමරු කැඳවන බව ඕනෑම කෙනෙකුන්
තමන් හා තරග වැදෙන්නට කැමැති,
ජයග්‍රාහිකයාගේ කිරුළ වෙයි යශෝධරා.

මේ සෙයින්. සත්වන දිනය එළඹි කල්හි, ගියෝ
ශාක්‍ය අධිපතීන්ද, නුවරුන්ද අවට ගම් වැසියන්ද
තරගපිටියට; ගියාය කුමරියද
ඇගේ නෑදෑ පිරිස අතරේ මනාලියක සේ එසවී
සංගීතය සහිතව, විචිත්‍රව සැරසු දෝලාවෙන්
රන් - අං සහිත ගවයින්. මලින් ගවසා
දේවදත්ත අයිතිවාසිකම් කීය උන්ට, රාජකීය පෙළපතේ උරුමයෙන්.
නන්ද සහ අර්ජුන දෙදෙනම ආයෂ් වුවෝ උපතින්
තාරුණ්‍යයේ කුසුම් වූ, කුමරු එනතුරු
තම සුදු අසු කන්ථක පිට, හේෂාරවය කළේ අසු
කැලඹෙමින් දකිමින් මේ අරුම වු පිටස්තර ලෝකය.
සිද්ධාර්ථද බැලුවේ දැස් අයා විමතියෙන්
සියලු මිනිසුන් දෙස සිහසුනට පහතින් උපත ලද
රජුන් සේ නිවහන් නොලද, ආහාර නොලද
එනමුදු ඒ පරිදිම වූ - ඇතැම් විට - ප්‍රීතියේදී හා ශෝකයේදී
නමුත් කුමරුන් දුටු සඳ සොඳුරු යශෝධරාව
දිප්තිමත්ව සිනාසුණ ඔහු. ඇද්දේ සේද වරපට,
කන්ථකගේ පුලුල් පිටෙන් බිමට පැන
හඬගෑවේ "නුසුදුසුය ඔහු මෙම මුතුව ලබන්නට
ඉතාම සුදුස්නා නොවේ නම්; මාහා තරගවැදෙන්නෝ ඔප්පු කළ යුතු
ඇ අත පතන්නට මා උවමනාවට වඩා තැත් දරණා බව."







අනතුරුව නන්ද ආරෝව නැගුයේ දුනු තරගයට
තබමින් තඹ බෙරය ගව් හයක් ඈතින්,
අර්ජුනද හය ගව්වක් ඈත දේවදත්ත ගව් අටක් ඈතින්;
නමුත් සිද්ධාර්ථ කුමරු පැවසුයේ තබනට තම බෙරය
ගව් දහයක් ඈතින් රේඛාවෙන් පිටත, පෙනෙනතුරා ඉලක්කය
කවඩි කටුවක් තරම් කුඩාවට. අනතුරුව මුදා හැරියේ ඔවුන්
නන්ද සිදුරුකළේ තම බෙරය, අර්ජුනද තමාගේ
දේව දත්ත යැවී මනාව එල්ල කළ හී සරයක්
තමාගේ එල්ලයේ දෙපසම පසාවෙනසේ, සෙනග
විමතියෙන් හඩ නැගුහ: සොඳුරු යශෝධරාව
හෙලුවාය තම රන් සාරිපට තම බියපත් දෑස වසා
නොදකින්නට දෝ තම කුමරුන්ගේ හීය අසමත් වෙන රග.
නමුත් ඔහු, ගනිමින් දුන්න ඔපතෙලෙන් මැදි වේවැලෙන් කළ
වැල්පටින් බැඳ, රිදී හුයෙන් ඇද ඇමිණූ
වියතක් හෝ අදින්නට හැකි බලගතුම දෑතකින් පමණි,
ඇගිල්ලෙන් ඇද හඬවා - මඳහස පා - ඇද්දේ ඇඹරූ හුය
දෙකෙළවර අං එකිනෙක සිපින තෙක්, බිඳුණි තරවූ දුනු කුක්ෂිය;
"මෙය කෙළියට පමණි, ආදරයට නොවේ" ඔහු පැවසීය. "නැද්ද
දුන්නක් ශාක්‍ය කුමරුන්ට සුදුසු?"
එකෙක් කීවේ "සිංහ බානුගේ දුන්න ඇතිබව
දෙවොලක තබා. අප නොදන්නා දිනෙක සිට
කිසිවෙකුට නොහැකි එය අමුනන්නට. ඇමිණුවත් අදින්නට."
"ගෙනෙන්නැ මට" ඔහු හඬගෑය. "ඒ පුරුෂයෙකුට සරිලන ආයුධය"
ඔවුහු ගෙනාවෝ එම ඉපැරණී දුන්න, කළු යකඩයෙන් කළ
රන් ලිය කම්ද කළ බෙදියන වක්‍රයේ
කුළු හරකෙකුගේ අං පරිදි; සිද්ධාර්ථ දෙවරක්
පිරික්සුවෙ එහි ශක්තිය තම දණ මත තබා පැවසීයේ අනතුරුව-
"විදින්නැ දැන් මෙයින් මා ඥාති සොයුරෙනි!" එහෙත් නොහැකිවිය
ඔවුනට
ගෙනෙන්නට නොහැකිවිය මුරණ්ඩු වූ දුනු අත් වියතකුත් විදින්නට
තබා,
මෙසඳ කුමරු යන්තමට ඇලවී, නැමී දුන්න
රඳවා හී තුඩ තන්තුවෙහි, ටං හඬින් තියුණු වූ






සිදුහත් කුමරා තරම් අභීත අසරුවෙක් ඒ කාලයෙහි නොවීය. මුවන් ලුහු බැඳ යන නමුත්
සිදුහත් කුමරා ඔවුන් නොනසා ඔවුන්ට අභය දානය දුන්නේය.




රඳවා හී තුඩ තන්තුවෙහි, ටං හඬින් තියුණු වූ
ඇද්දේ තත, උකුස්සෙකුගේ පියාපතසේ
පිනවමින් වා ගැබ, ගැයී ඉදිරියටම පැහැදිලව. උස් හඬින්
කෙතරම්ද යත් දුබලවූවෝ නිවෙස්වල රැඳි එදින විමසුවෝ
"කිමෙක්ද ඒ හඬ?" මිනිසුන් පිළිතුරු දුන්හ ඔවුනට,
"ඒ සිංහ හානුගේ දුන්නෙහි හඬය
මහරජුන්ගේ පුතණුවෝ අදී එය විදින්නට."
ඉදින් හීයක් නිසිව අමුණා, ඇද ඔහු මුදා හැරියේ
තියුණු හීය දෙබෑ කරමින් නුඹ කුස, පසා කරමින්
ඇතින්ම වූ බෙරය, ගමනෙහි නොනැවතෙමින්
ඇදුනේ ඈත තැන්නෙහි, දෑසට නොපෙනෙනා දුර.

අනතුරුව දේවදත්ත ආරෝව කළේ අසි තරගයකට
දෙබෑ කරමින් තල් කඳක් සයැඟිලි මහත්වූ
අර්ජුන සතක්: නන්ද පැලුවේ නව ඇඟිලි මහත්වූ කඳක්;
නමුත් එවන් කඳ දෙකක් එකට වැඩිණි, ඉතින් ඒ දෙකම
සිද්ධාර්ථගේ අසිපතින් බිඳීගියේ එක් ක්‍ෂණික පහරකින්,
කෙතරම් තියුනු වූද, සුමට වීදයත් ඒ පහර ගස් දෙකඳ තවමත් නැගී
සිටියා
දකිමින් නන්ද හඬ නැගී. "ඔහුගේ අසිපත පසෙකට හැරුණා" කියා.
කුමරිය සැලුණාය දකිමින් නැගී සිටි දෙගස
අහස් කුස බලා සිටි දෙවියන්
සිහින් සුසුම් පිඹින තුරා දකුණෙන් එකල පච්ච කිරිටයන් දෙකම
ඇද හැලුනෙ වැල්ලට, එක් සැනෙන්

අනතුරුව ගෙන එන ලදුයේ සෛන්ධවයන්
ශක්තිමත්වූ, ආයජී උපතින්. තෙවරක් දිවුවෝ උන්
සැණකෙළි බිම වටා එනමුත් ධවල කන්ථක
දුව ගියේ අධිවේගවත් වුවන්ද පරයා - පහසුවෙන්,
මුවගින් පෙණ බිඳී පතිත වුනේ මිහිමත
හී විස්සක් දුර ඌ පියෑඹුවේ; නමුත් නන්ද කීය එරෙහිව
"අපටත් හැකිය දිනන්නට කන්ථක වැනි අසෙකු සිටියානම්;
ගෙනෙන්න හීලෑ නොකළ අසෙකු මිනිසුන්ට දැකිය හැකි ගෙන ආවේ







කවුරුදැයි යන්නේ උගේ පිට වඩාත්ම පහසුවෙන්."
නිශාව සේ කළු වූ අශ්වයකු, යදම් වැල් තුනකින් බැඳී
වියරු දැසින් යුතු, පිම්බුණු නාස්කුහරද, ඈත මෑත සැලෙනා ගෙළ කෙහෙරළද සහිතව,
ලාඩම් රහිතව, සෑදල රහිතව, මන්දයත් මෙතුවක්
නොහැකිවිය කිසිම අසරුවෙකුට ඌ මත නැගෙන්නට. තෙවරක් හැම ශාක්‍ය කුමරෙක්
නැංගේ උගේ යෝධ පිට මත. නමුත් දැවුණු අශ්වයා
වියරුවෙන් ඔසවා පසුගාත්, හෙලුවේ හැම දෙනා තැන්නට
නගවමින් දුහුවිල්ලියෙන්ද විලියෙන්ද; අර්ජුන පමණි රුඳී සිටියේ
අසුපිට මදකට. ඉල්ලමින් මුදන්නැයි යදම් වැල්,
පහර දී අසුගේ පසු ගාතයට, සොලවමින් වරපට, අල්ලා සිටියේ
ප්‍රෞඪ වූ හකු පාඩා තදින් දක්ෂයෙකුගේ ග්‍රහණයෙන්,
මේ නිසා රෝෂයේ, වියුරුවේ භීතියේ කුණාටුවැලින් කැළඹී
මිලේච්ඡ වූ අශ්වයා ගියේ වටයක් තලාවෙහි
අඩක් හීලෑව; නමුත් හදිසියේ හැරුනේ දසන් විහිදුවා
අර්ජුන උගේ පාදයෙන් ඇද හෙලුවේ ඌ බිමට
මරන්නට සිතා අසිපතින්, නමුත් කුදිරයෝ පැමිණ
බැඳ දැමුවෝ වියරු වූ සත්වයා. අනතුරුව හැමදෙනා හඩනැගී,
"ඉඩ නොදෙන්න සිද්ධාර්ථට පැටලෙන්න මේ භූතයා සමග
උගේ අක්මාව කුණාටුවකි. උගේ රුධිරය
රතු ගිනි සිළුවකි." නමුත් කුමරා කීවේ "මුදා හරින්නැ යදම්,
දෙන්න මා හට උගේ නලළත කෙහෙරළ පමණක්" අල්ලා සිටියේ එපමණයි
ඔහු අචල ග්‍රහණයෙන්. දොඩමින් යම් යම් වදන් පහත් හඬින්
රඳවමින් තම දකුණත්ල අසුගේ දෑස් හරහා,
අනතුරුව ගෙන එමින් එ අත කරුණාවෙන් උගේ කෝපගත් මුව පහළට,
අතගාමින් ගෙළද සැලෙනා මස් පිඩුද,
දකිනා තුරා විමතියට පත්වුවෝ ඒ නිශාකලු අසු
නැමු හැඩ ඒ වියුරු හිස, යටහත්ව පහත්ව සිටිමින්
දන්නා සේ අප මහසතුන් නමැදිමින් හෙතෙම.
නොසැලුනේ ඌ සිද්ධාර්ථයන් පිට නගිද්දී, අනතුරුව






සිදුහත් කුමරා මෙසේ පැවසුවේය. "හංසයා ඊ පහරින් මළේ නම් ඌ විදුම්කරුට යැවීම සුදුසුය. එහෙත් හංසයාට පණ තිබේ. ඒ නිසා ඌ අයත් මටයි."




සියලු දෑස් ඉදිරියේ, මෙනයින් මිනිස්සු කීවෝ
"තවත් වෙර නොදරන්න, මන්දයත් සිද්ධාර්ථ ය අති සුදුස්සා."
සියලු තරගකරුවෝද පිළිතුරු දුන්හ, "ඔහුය අති සුදුස්සා!"
මෙවිට සුප්‍රබුද්ධ - කුමරියගේ පියාණෝ,
කීවෝ, "ඉත සිතින් අප පැතුවේ සොයන්නට ඔබට හොඳම දෙය
වඩාමත් අදරින්, නමුත් කුමන මායාද ඉගැන්වූයේ ඔබට වඩාත්ම
පෞරුෂත්වය පිලිබඳව සෙව්වන්දි මාලා හා ඔබේ සිහිනයන් අතරේ
සටන් හා ලුහුබැඳීම් හා ඒවා ලොවට ගෙනෙනා කායජීය තරම්
නමුත් පළඳින්නැ සුභ කුමරුනි, ඔබ දිනූ මේ සම්පත, "
අනතුරුව ඇණැවුමෙන් ඒ සොඳුරු ඉන්දීය දැරිය
නැගී තම අසුනෙන් සෙනග මධ්‍යයේ, ගත්තී
මෝඩ්‍රා, මලින් කළ කිරුලක්, ලිහිල්ව අදිමින්
තම රන් - අඳුන් සාළුව ඇගේ දෙබැම ඉදිරියෙන්
ප්‍රෞඪව පියමං කළාය යෞවනයන් පසුකොට, එළඹෙනා තෙක්
සිද්ධාර්ථයන් සිටි තැන දිවමන් ප්‍රසාදයෙන්,
බැස්සා පමණී ඔහු නිශාකළු අසුපිටින් සිටියේ ඌ
ශක්තිමත් ගෙළ බයාදුව නවා ඔහුගේ අත යට.
කුමරු ඉදිරියේ නමා ඇය හිස, විවර කළේ
ඇගේ දිව්‍යමය මුව කමල විහිදුවමින් ප්‍රීත්‍යාදරයේ දහරා;
රැඳවීය ඔහුගේ ගෙළ ඈ සුවඳවත් මාලාව
රැඳවූයේ ඔහුගේ ලැම මත තම නිමල හිස
නැමුනේ අල්ලන්නට ඔහුගේ දෙපය, ප්‍රෞඪ වූ ප්‍රීතිමත් දෑසින්
පවසමින් "හිතාදර කුමරුනි, මෙන්න බලන්න ඔබගේ වූ මා!"
සෙනග නැගී ප්‍රීති ඝෝෂා දකිමින් දෙදෙනා යන හැඩ
අතිනත තදින් අල්ලාගෙන, හදවතට ගැහෙමින් හදවත
අඳුන් රන් සළුපොට යලිත් වැසෙමින් සගවමින් මුව.

බොහෝ කලකට පසු - නිවන් දුටු සඳ
වැන්දවුන් බුදු හිමි, ඇසුයේ මන්දැයි
ඈ මෙසේ රනින් හා කලුවෙන් සැරසී ඇවිද ගියේ එතරම් ප්‍රෞඪව.
පිළිතුරු දුනි මෙලොවෙන්ම පුද ලැබූ උතුමන්, "නොදැන සිටියෙමි,
මම එසේ නමුත් හැගුණේ අඩක් දැනුනා සේ;
මන්දයත් උපතේත් මරණයේත් චක්‍රය කැර කැවෙද්දී







පසුගිය දේද, සිතුවිලිද, වැලලු ජීවිතද යළිත් එළඹේ.
දැන් මහට සිහිවෙයි. නේක වස්සාන සමයන්ට පෙර ඈත
හිමාලයේ ලම්බිත වන දහනක සරද්දි මා
ව්‍යාඝ්‍රයෙකුව, අනෙකුත් ක්‍ෂුධාපිරි, රේඛා සහිත මා වැන්නවුන් සමග
දැන් බුදුන් වූ මම, සැඟවී සිටියේ කුස තණ අතර
බලමින් ඇසිපිය හෙලන හරිත දෑසින් ගොදුරු ගැල් දෙස
උලා කෑවේ උන් කෙමෙන් ලං වෙමින් මරණයට
මගේ දිවා - ලෙන අසල; ඒත් නැත්නම් තාරකා යට
සැරුවෙමි මම ගොදුරු සොයමින්, මිලෙච්ඡව, නොසංසිඳී
ඉව අල්ලමින් මං පෙත් පුරා මිනිසුන්ගේ මුවන්ගේ ගමන් මග.
එකල මා හා සැරූ තිරිසනුන් අතරේ
හමුවූයේ ගැඹුරු වනයේ හෝ නළාකුළ ඉවුරේ
ව්‍යාඝ්‍ර ධේනුවක් මුළු වනයේම සොඳුරුමවූ, ඕ සිදු කළා
පිරිමි සතුන් අතර සටනක්; ඇගේ සම බැබලිණි රනින්,
කලු රේඛාවෙන්, සළු පට සේ යශෝධරාව
මා වෙනුවෙන් පැළඳී, උණුසුම් විය ඒ වනයේ වැඩුනු සටන්
උල්දතින් හා නියෙන්, මෙ අතර නීම් ගස් සෙවනේ
සොඳුරු තිරිසනී බලාසිටියේ අප ලේ හලන අයුරු, ඈ වෙනුවෙන්.
සිහිවෙයි මෙමට, අවසානයේ ඈ පැමිණි හැටි ගොරවමින්
ඉරිගිය සමින් යුතු වන රජුන් අතරින්
මා පැරදවූ, ඉච්ඡා බර හනුවෙන්
ලෙවුයේ ඈ මගේ වේගයෙන් සැලෙනා ලපැත්ත, ගියේ මා සමගින්
වන තුළට ප්‍රෞඪව පා තබා, අනුරාගීව.
උපතෙත් මරණයෙත් චක්‍රය මෙසේ කැරකෙයි උස් පහත් වෙමින්."

මෙසේ කුමරිය සරණ පාවා දුන්නේ කුමරුන්ට
මනාප වූ කොල්ලයක් විය ඈ; ග්‍රහ තරු සුදුසු වූ මොහොතක
රත් බැටළුවා වූ මේෂ රාශියේදී
මංගලෝත්සවය පැවැත්විණි, ශාක්‍යයන්ට හුරු පරිදි
රන් තොරණ් බඳවා, බුමුතුරුණු අතුරා
මංගල මාලා පළඳවා හුයෙන් අතැගිලි දවටා
පැණි කැවුම් කඩාලා. පොරිද විළඳද විසුරුවා
රතු පැහැ කිරි මත පිදුරු පත් දෙකක් පාවී ගියේ






හංසයාගේ අයිතිය පිළිබඳ මතභේදය නිරාකරණය කරන ලද්දේ සෘෂිවරයෙකු විසිනි. ඔහු
මෙසේ කීය. "හංසයා දෙව්දත් විසින් විද තුවාල කළ පසුව උෟට පණ දෙන ලද්දේ සිදුහත්




එකිනෙකට ලංවෙමින්, පෙර නිමිති කියමින් "ආදරේ යැයි මරණය තුරා;"
සත් අඩි තබා තෙවරක් ගිනි මැලය වටා,
පූජකයන්ට තෑගි පඩුරු පිළිගන්වා, දානයද
දොවොලට පූජාවන්ද තබා, මන්ත්‍ර ගයා,
එකටෙක බැඳි යුවති පතින්ගේ සළු පට කෙළවර.
අනතුරුව දූසර පියාණෝ කථා කළෝය.: "වන්දනීය කුමරුනි,
මෙතෙක් අපගේ වූ ඈ දැන් ඔබගේම පමණි;
හොඳින් සලකන්න රැකගන්න ඇය, ඇගේ ජීවිතය ඔබගේය."
මෙයාකාරයෙන් ඔවුන් කැඳවා ගෙන ආවේ සොඳුරු යශෝධරාව,
සංගීත, හොරණෑ නාද මධ්‍යයේ. කුමරුන්ගේ දෑතට,
සපිරුණී ආදරය.

නමුත් ආදරයම පමණක්

විශ්වාස නොකළේ මහරජ: ආදරයේ සිර - මැඳුරක්
නිමවන්නැයි අණ කළේ ඔහු ප්‍රතාපවත් අලංකෘත ආකාරයෙන්,
මෙආකාර මිහිපිට කොතැනකවත් නොවී විශ්මිත දැකුමක්
විශ්‍රාම්වාන් නම් වු කුමරුන්ගේ ආනන්දවූ මාළිගය තරම්
පුළුල්වූ මාළිගා භූමිය මධ්‍යයේ නැගිණී
හරිතවූ කඳු ගැටයක් එහි පාමුල නැහැවිණී රෝහිණීය
මුමුණමින් ගලා හැලෙමින් හිමාලයේ පුලුල් පාදයෙන්
දෙවමින් සිය අතුගංගාව ගංගානම් ගග රැල්ලට.
දකුණු දෙසට වැඩිණී සියඹලා හා සල්ගස්
මහත්වූ කඳින්ද දුබල අහස් පැහැවණී ගත් සුවඳැති මලින්ද සැදී,
පිටත ලෝකයෙන් සියල්ල මුවා කරමින්, ඇසුනා නම් නුවරින් ගුම් නදක්,
සුලගේ ඇදී ඇවිදින් එය රළු නොවූයේ ගොමුවල
සැගවෙන බමරුන්ගේ ගුම් නද තරම්වත්, උතුරතින් නැගුනේ
නිමලවූ බෑවුම් යෝධ හිමාලය පවුරෙහි
සිරස සරසා ධවල හිමයෙන් නීල අහසට මෙපිටින් - කිසිවෙකුත් පා නොතැබූ
අනන්තවූ, සුසුන්දරවූ - එහි විසල් උස්තලා,
විශ්වයකි එසවුනු මුදුන් කොත් හා රළු ගිරි කුළෙන්







උරහිස්ද, පර්වත තට්ටුද, නීල බෑවුම්ද හිම ශෘංගයද
දාරිත ගිරිකඳුරුද කිරි ගැසුණු ප්‍රපාතද
මග පෙන්විය නැගෙන සිතුවිල්ල ඉහළින් ඉහළට
දෙව්ලොවට අවතීර්ණව දෙවියනට කථා කරනා තෙක් සේ
හිමයට පහතින් විහිදුණී අඳුරු වනපෙත්, තියුනු සේලවන්
පැන ඇද හැලෙනා දිය ඇල්ලෙන්ද, වහන්තරාවන්සේ වැසෙන
වළාවෙන්ද
වඩාත් පහතින් වැඩුණු රත් අලොන් ගස් හා මහා දේවදාර අරඹ
දෝංකාර දෙවමින් වලිකුකුළන්ගේ නදද, අඳුන් දිවියාගේ හඬද,
වල් බැටළුවන් ගල් මත නගන සට සටයද,
උඩ රවුම් ගසනා රාජාලියන්ගේ කෑගෑමද: මේ සියල්ලට යටින් වීය
තැන්න
දිලිසෙමින් යැදුම් බුමුතුරුණක් සේ
මෙම අති දේවමය පුදසුන අභියස පාමුල. මෙයට ඉදිරියෙන්
ගෘහකාරකයෝ තැනූහ දිප්තිමත් මන්දිරයක්
මනාව නංවමින් ආලින්දයෙන් යුතු කන්දේ, අටලු සහිතව
දෙපසින්ම කුළුණු වලින් වටවූ බරාඳයෙන්ද.
එහි දැව කඳ කැටයම් විය ඉපැරණි කථා-
රාධා සහ ක්‍රිෂ්ණා සහ වන දෙව් දැරියන්
සීතා හනුමන් සහ ද්‍රව්පදී;
මධ්‍ය ද්වාර මණ්ඩපයේ ගණේෂ දෙවියන්,
මණ්ඩලය හා කොකුව සහිතව - ඥානය සහ සම්පත ගෙනෙන්නට -
කරුණාබර අතිතෘප්තිමත් සංගසුරිව පසෙකට නැමූ හොඬවැලෙන්
යුතුව.
වක්වෙමින් ඇදෙනා මං සහිත උයන් හා අංගණ මැදින්
ලංවිය හැකිය අභ්‍යන්තර දොරටුවට, කිරිගරුඬ කැටයමින් සැදි
ධවල විය රෝස රේඛා සහිතව; උඩපඩිකඳ නීල මිණි,
එළිපත්ත සුදු ගරුඬ දොර සියල්ල
සඳුන් ලීයෙන් කැටයම් කපා විචිත්‍ර වූ පනේලයෙන්;
එතැනින් ඉතා උස්වූ ශාලාවන්ට සහ සේයාබර ලතා මඬුලුවලට
යා හැකිවිය ප්‍රමෝදිත දෙපයට. නැගී ගම්භීර හිණිපෙළවල් ඔස්සේ,
ගරාදියෙන් සැදි චිත්‍ර ශාලා තුළින් සායම් ගෑ පියැසි සහ
පංති පංතී වූ කුළුණු සෙවනේ එහි සීත උල්පත්-






සුද්ධෝදන රජ වයස අවුරුදු 18ක් වූ සිදුහත් කුමරුට සුභ, රම්‍ය, සුරම්‍ය නමින් මාළිගා තුනක් තනවා දුන්නේය.




දාවලු වෙමින් නෙලුමින් සහ ඕලු මලින් - රැගුමක යෙදුණෝ,
මත්ස්‍යයෝ දිලුණෝ පළිගුව තුලින්, රත්නිලෙන්, රනින් සහ නිලෙන්
විසල් දෑසින් යුතු සාරංගයෝ අච්චැටුණු වන ගුහා වල උලා කැහ
සුළගේ හමා ආ රතු සෙව්වන්දි පෙති; දේදුණුවන් පියාපත් ඇති
පක්ෂීහු
නෙරළු තුරු අතර තටු සැලූහ; හරිත සහ අළු පරෙවියෝ
තැනූ උන්ගේ සුරක්ෂිත නිවහන් රන් ගෑ ලීස්තර මත;
දිලිසෙන පදික වේදිකා මත්තේ මොණරු ඇන්දෝ
තම වල්ගයන්හි ඉසුර, සන්සුන්ව බලා සිටියෝ
උන්දෙස කිරි සුදු කොක්කු සහ කුඩා ගෙවල බක මුහුණෝ.
රන්පලම් ගෙලින් යුතු ගිරවු පියැඹුවෝ එලයෙන් එලයට;
කසා පැහැ හිරුකුරුල්ලෝ ගුම් දුන්නෝ මලින් මලට,
බයාදු හුනෝ අව්ව තැප්පෝ ගරාදි මත
නිභයව ලෙහෙනු දිව්වෝ අතකින් කැමට,
මන්දයත් හැමතැනම විය සාමය; ලජ්ජාශීලිවූ කළු නයා,
ගෙවලට වාසනා ගෙනෙන්නාවූ, තම නිදිබර දරණු අව්වේ සැතපුවේ
සඳ මල් ගොමුව යට, කස්තූරි මුවන් කෙළියේ යෙදුනතැන,
දුඹුරු දෑසෙන් යුතු වඳුරෝ දෙඩුවෝ කපුටුවන්ට.
මෙම ආදර නිවහන යහපත්ව ජනාවාස වූයේ
සොඳුරු සේවිකාවන්ගෙන්, මෙසේ හැම කොටසකම
විය සුන්දර දැකුම් සෞම්‍ය මුවින් යුතුව,
සුමුදු කථාවෙන් සහ මනාප සේවයෙන් හැම කෙනෙක්ම තුටු පහටුව
සැදි සිටියෝ තුටු පහටු කරන්නට, ප්‍රසන්නව ප්‍රමෝදයට, උදාරම්ව
යටහත් වෙමින්,
ගලා යද්දී ජීවිතය චිත්තාකර්ශණයෙන්, සුමුදු දිය දහරක් සේ.
ඉවුරු වෙමින් නිරන්තරව පුෂ්පයෙන්. යශෝධරාවය
රාජිණීය මනෝහර රාජ භවනයේ.

නමුත් අභ්‍යන්තරයේම
මෙම සියයක් ශාලාවන්හි සම්පතට එපිටින්
ලැග සිටියේ අප්‍රකට රහස් මැදුරක් එහි නිපුණත්වය ගෙවුනේ
සියලු සොඳුරු සිහිනයන් තුළ නලවන්නට මනස.
එහි බිහිදොර විය ආවරණය වූ චතුරශ්‍රයක්.







නුඹ ගැබෙන් සෙවනවී, මධ්‍යයේ විය පොකුණක්<br>
කිරි ගරුඩයෙන් නිමවී, අල්ලා<br>
කිරිගරුඩ ගඩොල්; පොකුණ වටා<br>
හිණිපෙළ ද ටැඹ මුදුන් දිගේ<br>
ඔබ්බවා තිබිණි අගස්ති කැටයමින්<br>
හිම මෙන් සීත විය එහි ඇවිද යද්දි ගිම්හානයේ<br>
හිරු කිරණ හෙලුවේ<br>
සිය රුවන්. ද්වාර මණ්ඩපයන්ටද සුරුවම් විවරයන්ටද,<br>
මෘදු වෙමින් සේයාවන්ට, රජතමය, එළලු අඳුරු<br>
හරියටම දිවාකල නැවතී සැඳෑවට එළඹුණා සේ<br>
ආදරයෙන් සහ නිසලතාවයෙන් වෙළෙමින් ලතා මණ්ඩප දොරටුවේ;<br>
එතැනින් දොරටුවෙන් එපිට විය මැදිරිය<br>
ශෝභමාන, සුන්දර; විශ්මයක් සේ ලෝකයේ!<br>
කවුළු තුලින් පෙරී ආවේ සුවඳ තෙල් පහනින් සියුමැලි ආලෝක<br>
          සහ ලප සහිත තාරකා දිලිසෙන පටල සේ<br>
හැලෙන්නට විසිරුණු රන් සළු මත්තෙහි, සේද සයනයන්හි<br>
අධික ප්‍රභාවෙන් යුතු පූර්දාවෙහි දාවල්ල<br>
එසවුනේ ඇතුලට ගන්නට පමණී සොඳුරුම දේ.<br>
මෙහි රැයද දහවල දැයි කිසිවෙකුත් නොදත්තේ<br>
නිබඳව ගලා ආ හෙයිනි ලා එලිය, කාන්තිමත් විය<br>
හිරු එළියට වඩා, නමුත් සියුමැලි විය සන්ධ්‍යාව සේ;<br>
නිරතුරුව ආශ්වාස කළේ මිහිරි වායුවයි, ආනන්දජනක වූ<br>
හිමිදිරියට වඩා, නමුත් සිහිල් විය මැදියම රාත්‍රී හුස්මසේ<br>
නිශාවේත් දිවා කාලයේත් කින්නාරම් නැගී සුසුම් නිශාවේත් දිවා කාලයේත්<br>
රසබර ආහාර පැතිරුණී පිනි රැඳී එල තුරු,<br>
සුවඳ සරුවත් සීත වී හිමාලයේ මිදුනු හිමයෙන්<br>
රස කැවිලි නිමවිය සුරුවම්ව ප්‍රණීතතාවයෙන්<br>
මිහිරි රුක් කිරෙන් ගජදන්ත බඳුන්හි.<br>
නිශාවේත් දිවා කාලයේත් සේවය කළෝ තෝරා ගත් පිරිසක්<br>
නළඟනෝ බඳුන් දරන්නෝ සහ කෙතාලම් වයන්නෝ,<br>
සියුමැලි, අඳුන් බැම සහිතවූ සපයන්නෝ වූහ. ආදරයේ<br>
පවන් සැලුහ ඔවුහු ප්‍රීතිමත් කුමරුන්ගේ නිදිබර දෑසට<br>
අවදිවූ කල ඔහු පොළඹවාලූහ ඔහුගේ සිතුවිලි ප්‍රමෝදයට






සිදුහත් කුමරුන්ගේ පියාණන් වූ සුද්ධෝදන රජ බමුණන් හා කතා බහ කොට සිදුහත්
කුමරුන්ට සුදුසු කුමරියක විවාහ කොට දෙන්නට තීරණය කළේය. විවාහයෙන් පසු සිදුහත් කුමරුගේ චරිත ගති වෙනස්වේ යැයි පැවසිනි.




කොඳුරනා සංගීතයෙන් කුසුමන් අතර, මෝහනයෙන්
ආල ගීතයේ සහ ස්වප්නමය නෘත්‍යයේ, බඳවමින්
කිකිණි නද නූපුරෙන් සහ සැලෙන දෑතින්
රජතමය වූ වීණා තතින්, සුවඳ රසයෙන්
කස්තුරි චම්පක හා නීල ධූමයන්ගේ විසිරුණී
දැවෙන කුළුබඩු සහනයට පත් කළේ ඔහුගේ විඥානය යළි
නිදිමත වෙමින් සොඳුරු යශෝධරාව තුරුල්ලේ
මෙසේ විසුවේ සිද්ධාර්ථ ලොවම අමතක කරමින්.
අණඳුනි මහරජ මේ පවුරු බිත්ති ඇතුළත
සඳහනක් නොකළ යුතු බව මරණය හෝ වියපත් වීම ගැන
සොඳුරු රාජ භවනයේ - අඳුරු වී නම් ඇගේ අඳුන් බැල්ම ඈ දෙපය
පමාවී සැලුනා නම් නෘත්‍යයේදී - ඒ වරදින් තොර වරදකාරිය
පිටමං කෙරුණී එම පාරාදීසයෙන්,
ඇගේ ව්‍යසනය කුමරුන්ගේ නෙත නොගැටෙන්නට.
දීප්තිමත් දැසින් යුතු අභිප්‍රායකයෝ බලා සිටියෝ
වරදකරුවන් අල්ලන්නට - කථා කළවුන් පිටත කටුක ලෝකයේ
වේදනා, ව්‍යාධි, රෝග, කඳුළු සහ භීතිය ගැන,
පරිදේවකයන්ගේ අදෝනා විලාප, ප්‍රචණ්ඩ දුමාරය චිතකයන්ගේ.
රාජාපරාධයක් විය රිදී හුයක්වත් නොමගක
ගියානම් නළඟනකගේ හෝ ගායිකාවකගේ සලුපටක
හැම උදාවකදීම මියෙන සෙව්වන්දි ඉදිරිණි,
මිලින පත් සැගවිණි, සියලු අයහපත් දසුන් ඉවත් කෙරුණී.
කී හෙයින් මහ රජු මෙසේ, "ගෙවීනම් ඔහු තම තුරුණුවිය
ඈත්වී හැම දෙයින්ම ශෝකය ගෙන එන
සිතුවිල්ලේ ශූන්‍යබීජයන්ගෙන් ඈත්ව
මෙම දෛවයේ සේයාව, මිනිසෙකුට නොතරම් මහත්වූ
පහවී යනු ඇති, කෙමෙන්. දැකිය හැකි මට ඔහු වැඩෙනු
අර මහා උතුම් රාජකීයත්වයට
පත්වේය ඔහු පාලකයා සේ - පාලනය කරයිනම්.
රජුන්ගේ රජුවී චක්‍රවර්තීව ඔහුගේ සමයෙහි."







මේ හෙයින් සොඳුරුවූ සිර මන්දිරය වටා-
එහි ආදරය විය සිපිරිගෙයි මුරකරුවා ආනන්දය විය එහි යකඩ
කූරු
නමුත් මේ දසුනෙන් ඉතා ඈත, රජු නිමකරන්නැයි අණකළේ
මහා පවුරක්, ඒ දොරටුවක්
විය නැමෙන ලෝහමය දොරටු පියන් සහිතව - ඒවා තල්ලු කරන්නට
නම් අවශ්‍ය විය සියයක් දෑත්
තවද ඒ ගජ දොරටු ඇරෙනා හඬ
යොදුන් භාගයක් දුරට මනාව ඇසිණි.
මේ ඇතුළතින් තවත් දොරුටුවක් හේ තැනීය.
එයිනුත් ඇතුළතින් තවත් දොරටුවක් හේ තැනීය.
එයිනුත් ඇතුළත තව එකක් - මෙසේ තුන් දොරෙන්
යා යුතු විය ඔහු පලා යන්නට නම් විනෝද මන්දිරයෙන්
මහා යෝධ බලගතු තුන් දොරක් විය ඒවා, අගුල්ලා හරස්කොට
හැම එකකම ඉහළින් වූහ විශ්වාසී මුර කරුවෝ
රාජාඥාවෙහි මෙසේ කියැවිණි, "කිසිවෙකුත් කිසි අයුරකින්
නොයා යුතු මේ දොරටුවෙන් එපිට, ඒ කුමරුන් වුවත්:
ඔබේ දිවි පරදුවට තබා තැබිය යුතුය මුර ඒ මගෙ පුතු වුවත්."






සිදුහත් කුමරුන්ගේ පිය රජ සුදොවුන් දුටුවේ මේ නිසි කල බව තම පුතුන්ට සුදුසු බිරියක්
සෙවීමට. ඔහුට සුදුසු කැමති කෙනෙක් තෝරා ගැනීම උදෙසා පැමිණියේ නොයෙක් තැනින්




# තෙවන පොත


තිමත් දිව්යෙන් සහ ආදරයෙන් පිරි නිසල නිවසෙහි
විසූ අප මහසතාණෝ, නොදනිමින් ශෝකය දුක
අවශ්‍යතා හෝ වේදනා හෝ ව්‍යාධි හෝ වියපත්වීම හෝ මරණය
නිදනවුන් සිහිනයන්හි අඳුරු සයුරු සරන්නේ
වෙහෙසින් දිවා ගොඩබිමට පා තබන්නා සේ
ගෙනෙමින් අරුම වෙළඳ බඩු කලුවන් ගමනකින්.
එසේම බොහෝවිට සැතපෙද්දී ඔහු සිය මුදු සිරස
නැලැවෙමින් යශෝධරාවගේ එලලු පියයුරු මත්තේ
ඇගේ සුරතල් දෑත සෙමින් පවන් සලද්දී ඔහුගේ නිදිබර ඇසිපියට
ඔහු හදිසියේ නැගිට හඩ ගැවේ, "මගේ ලෝකය! අහෝ ලෝකය! මට
ඇසෙයි! මම දනිමි! මම පැමිණියෙමි" යයි කියමින්
එවිට ඕ අසන්නී "මා හිමියනි, කුමක්ද අපහසුව?" කියා
බියෙන් විවරවූ දෑසින්;
මන්දයත් මෙවන් විටෙක ඔහුගේ බැල්මේ වූ අනුකම්පාව
භයංකාර විය, ඔහුගේ වක්ත්‍රය විය දෙවියෙකුගේ මෙන්.
එවිට ඔහු යළි සිනාසී ඇගේ කඳුළු නවතා
අණ කළේ වීණා වයන්නට; නමුත් ඔවුන් රැඳවූ විට
තත් සහිත පුපුල කවුළු පඩිය මත, එතැන සුළඟ ඇවිදින්
දැවටෙද්දී වයමින් ඉබේම තත් ස්වර
නිදැල් සංගීතය මැවෙන හෙයින් සුළඟින් රිදී හුය මත-
අවට වුවෝ අසද්දී එයම පමණක්;
සිද්ධාර්ථ කුමරුන්ට ඇසුණේ දෙවියන්ගේ වැයුම,
ගැයී ඔවුන් මෙසේ වදන් ඔහුගේම සවනට පමණක්:-

අපය හමනා සුළගේ කටහඬ
වැලපෙන්නේ විවේකය සොයමින් නොදකිමින් විවේකය,
අහෝ! සුළග සේමය අස්ථිර වූ ජීවිතය,
වැලපීම, සුසුම, ඉකිය, කුණාටුව, අරගලය.
කොයිබටද කොයිවිටද අපයන්නේ නොහැකිය ඔබට දැනගන්නට
එසේම ජීවිතය ඇරඹෙන්නේ කොතැනකද යන්නේ කියා;
අපද ඔබ සේමය, අර්ථ ශූන්‍යයේ අවතාර
කුමන තෘප්තියක්ද ඇත්තේ අපහට වෙනස් වෙන වේදනාවේ?







නොවෙනස් වන තෘප්තියේ ඔබ ලබන සතුටක් වෙයිද?
නැත, ආදරය සදාකාලික වීනම් වේය එහි ප්‍රමෝදය;
නමුත් දිවිමග වේය සුළගේ මගසේම, මෙහැම දෙයක්ම
ලුහුඩු හඬය සුසුම් හෙලනා සෙලැවෙන තත් මත.

අහෝ මායාවගේ පුත්‍රය! අප පොළව සරණා හෙයින්
මෙම තත් මත වැලපෙන්නෙමු; නොකරමු සරදම්
දකින්නෙමු නොයෙක් දෙස නොයෙකුත් ව්‍යසන
නොයෙකුත් කඳුළු ගලනා දෑස් සහ මිරිකෙන දෑත්.
නමුත් කවටකම් කරමු අපි අඳෝනා දෙන අතර, මන්ද, දනිතැකිද
ඔවුනට
මේ බඳු සිටිනා ජීවිතය ශූන්‍ය දසුනක් බව;
හැකිද පවසන්න වලාකුළකට නැවතෙන්න
ඒ නැතිනම් ගලන ගඟක් නවතන්න හැකිද අතකින්.

නමුත් ගැලවීමට ආ ඔබ මේ ඔබේ හෝරාවය!
ශෝකීවු ලෝකය බලා සිටි දුක්ඛිතව,
අන්ධ වූ ලෝකය පැකිලෙයි වේදනා චක්‍රයේ;
නැගිටින්න මායාගේ දරුව! අවදිවන්න! නෙසැතපෙන්න අඩනින්දේ
යළි!

අපය කටහඩ දඬාවතේ යන සුළගේ;
සරන්න ඔබත්, කුමරුනි, සොයන්න නැවතීම;
හැරයන්න ආදරය, ආදරයට ආශා ඇත්තන්ට, ව්‍යසනයේ නාමයෙන්;
හැරයන්න රාජ්‍යය විස්සෝපයට, ඇතිකරන්න විමුක්තිය.

මෙසේ අපි සුසුම් හෙලන්නෙමු, ගමන් ගනිමින් රිදී හුය මත්තේ
තවමත් ලෝකයේ තතු නොදන්නා ඔබට
පවසන්නෙමු; සරදමෙන් අප යන අතරේ
ඔබ කෙළි සෙල්ලම් කරන්නේ සොඳුරු සේයා සමගිනි.

අනතුරුව එළඹි අතිතෘප්තියේ ඔහු සැඳෑවේ හිඳ සිටියේ
තම සුසුන්දරවූ සභා මධ්‍යයේ, අතින් අල්ලා
සොඳුරු යශෝධරාවගේ. එක් යුවතියක කීවාය-






සිදුහත් කුමරා දැක්වීය තම දස්කම්, අසි, ධනු ජව තරගයෙන් හා වෙනත් අයුරෙන්. සියල්ලන්
අභිබවා ඔහු දිනුවේය යශෝධරාවන්ගේ අත.




අතරින් පතර සංගීතයෙන් යුතුව ඇගේ පිරුණු හඬ නැළැවෙමින්-
පුරාණයේ කථාවක්, කඩිනම් කරන්නට දෝ සැදෑවේ හෝරාව,
ආදරය පිළිබඳව, මායාකාර අශ්වයෙකු පිලිබඳව, තවද දේශයන්
පිලිබඳව
අපූර්ව වූ, ඈත ඈත වූ, සුදුමැලි මිනිසුන් වසනා,
රාත්‍රියේ හිරු මුහුදට කිඳ බසිද්දී.
අනතුරුව ඔහු සුසුම් මැද කීය, "චිත්‍රා මා වෙත ගෙන"එන්නේ යළි
වීණා තත් මත සුළඟ ගැයූ ගීතයයි මේ යහපත් වූ පුවතෙන්;
දෙන්නැ, යශෝධරා ඇයට ඔබගේ මුතුව ස්තුති වශයෙන්.
නමුත් ඔබ, මා මුතුව එතරම් පුළුල් ලෝකයක් ඇද්ද?
ඇද්ද දේශයක් දකින්නාවූ මහා හිරු පෙරළෙනා
රළ පෙළට, ඇද්ද අපගේ වැනි හදවත්
ගිනිය නොහැකි, අප නොදන්නා, සතුටෙන් තොර - විය හැකිද-
අපට පිහිටක් ඔවුන්ට අපි දනිමු නම් ඔවුන්ව?
බොහෝවිට මම මවිතවෙමි. දිනකර රාජයා
ගමන් ගිනිද්දි පෙරදිග සිට සිය රාජකීය වූ රන් මාවතෙහි,
ලෝකයේ කෙළවර කවුරුනම් මුලින්ම ඔහුගේ කිරණට ආවඩයිද,
උදාවේ දරුකැල, බෝහෝ විට, රුදෙමින්!
ඔබගේ දැනෙහිද ඔබගේ ලයමතද, දීප්තිමත් බිරිය
මම කණගාටුවෙන් සුසුම් ලැවෙමි. හිරුගෙ බැසයාමට
යන්නට සැදෑ වේ මිනිසුන්.
සිටිය යුතුය බොහෝ අය අප ආදරය කළ යුතු - නැද්ද?
දැන් මේ හෝරාවේ ඇත්තේ මා තුළ වේදනාවක්, අන්තිමේදී
ඔබේ සුමුදු දෙතොල් හාදුවකින් මුදාහළ නොහැකි; අහෝ දැරිවිය!
අහෝ චිත්‍රා! සුරගන ලොව ගැන දන්නා ඔබ
ඒ පුවතේ ජවාධික සෙන්ධවයා ඔවුන් බැඳ ලන්නේ කොහිද?
ඇත්නම් දිනකටවත් මා මාළිගයෙහි ඌ පිට යන්නට
යමින් යමින් දක්නට විහිදී යන මිහිතලය
නැත, තිබුණා නම් අර පුබ්බර ගිජුලිහිණිය පිහාටු-
මට වඩා විසල් රාජ්‍යයන්හි කුණපයන්ට උරුම කියන්නා-
කෙසේ නම් මම පියාසර කරන්නෙමිද හිමාලයේ මුදුනට,
ලැගුම් ගන්නට අර රෝස පැහැය රුදෙනා හිම මත,
දකින්නට දෑස හයා පිරික්සමින් මා වටා ඇති දේ!
ඇයිද මා නොදුටුවේ, ඇයිද මා නොසෙව්වේ?







කියන්නැ මට කුමක්ද ඇත්තේ අප ලෝහමය දොරටුවෙන් ඔබ්බේ."

එකියක් පිළිතුරු දුන්නේ, "පුරවරයයි මුලින්ම, උතුම් කුමරුවෙනි!
පන්සල් දේවාල, උද්‍යාන, මල්ගොමු,
අනතුරුව ඈත කුඹුරු, එයින් පසු නැවුම් වතුපිටි,
නුල්ලා සහ පිට්ටනි සහිත, වනාන්තර රුක් මතරුක්;
අනතුරුව ඇත්තේ බිම්සර රජුන්ගේ රාජධානිය, අනතුරුව
ඈත විසල්වූ පැතලි ලෝකය, කෝටි කෝටි ගණන් ජනී ජනයා සහිත
"යහපති" කීය සිද්ධාර්ථ, "යවන්නැ වදනක්
ජන්නට මා අස්රිය සකසන්න. - මධ්‍යාහ්නයේ
හෙට දින මම යන්නෙමි පිටත දකින්නට."

ඔවුහු ගොස් සැලකළහ මහරජුහට, "අප නරනිඳුනි, ඔබගේ පුතු
ඉල්ලයි අස්රිය තඩලා හෙට මධ්‍යාහ්නයේ,
එපිටට ගමන් ගොස් දකින්නට මිනිසුන්."

"ඔව්" සාවධානවූ රජු පැවසීය. "ඔහු ඒ දකින්නට කාලයයි.
නමුත් අණ බෙර කරුවන් යවන්නැ
මා නගරය සර සන්නැයි අණදී, හමු නොවිය යුතුය
ඔහු කිසිඳ පිළිකුල් දැකුමක්, අන්ධවූ හෝ අංගවිකලවූ හෝ
රෝගී වූ හෝ වියපත් වූවන් හෝ,
කුෂ්ඨ රෝගියෝ හෝ දුබල වූවෝ නොපැමිණිය යුතුය පෙරටුවට"
මේ නයින් ඇමදිණි සියලු මාවත් පාෂාණ, ඈත මෑත
දිය ගෙනයන්නෝ පිණිදිය ඉස්සහ හැම මාවතකම
මල් විදි සම් මලුවලින්, ස්වාමි දුවරු විසුරුවෝ නැවුම්
රන් සුණු තම දොරකඩ, එල්ලමින් නව මාලා
පිළිවෙළට කපමින් දෙරකඩ අභියසවූ තුල්සි පඳුරු
බිත්ති මත වූ රූප යළිත් ඔපවත් විය
නිදැල් තෙලි තුඩින්, වෘක්ෂයන් ගහණ විය කොඩිවලින්,
දේව ප්‍රතිමා ආලේපවිය රන් රනින්, සිව් දිසාවෙහි
සූයඝී දෙවියන් සහ මහා දෙව්වරු බැබලුනහ
පත්‍ර පුදසුන් මධ්‍යයේ, මෙසේ පුරවරය පෙනුනේ
කොහේදෝ මනෝහර රාජ්‍යයක අගනුවර ලෙසින්,
අණබෙර කරුවෝද ගියෝ, බෙරද යමේරුකාද ගෙන,
මහ හඬින් ප්‍රකාශ කරමින්, "අසව්! සියලු පුරවැසියනි,






*සිදුහත් අත ගති යශෝධරාවගේ. සුභ මගුල් උත්සවයෙන් පසු සොඳුරු යශෝධරා පැමිණියා*
*නිවහනට. ගීත සංගීත මධ්‍යයේ කුමරුගේ තුරුලට. සැමත වීය ආදරය.*




මහරජතුමා මෙසේ අණ කරන්නේය, අද නොදැකිය යුතුය
කිසිදු නොහොඳ දැකුමක්. අන්ධවූ හෝ අංගවිකල වූ හෝ කිසිවෙකුත්
රෝගී වූ හෝ ඉතා වියපත් වූ හෝ කිසිවෙකුත්,
කුෂ්ඨ රෝගී වූ හෝ දුබලයන් නොයා යුතුය පිටතට.
තවද කිසිවෙකුත්, ගෙන නොයා යුතුය මළ සිරුර පිටතට
රාත්‍රිය තෙක්, මෙසේ අණ කරති ශුද්ධෝදන මහ නිරිඳු"
මෙසේ සියල්ල ශෝභන විය නිවෙස්ද නිසිසේ පිළිවෙළට
කපිලවාස්තුව පුරාම, මෙ අතර කුමරු
පැමිණියේ විචිත්‍ර රථයෙන්, අදින ලදුව ගවයින් දෙදෙනෙකු විසින්
හිම සේ ධවලවූ, පැද්දෙන ගල කඬඳ යෝධ මොල්ලිඳ
තෙරපී රැලි වෙමින් කැටයම් කළ ඔපතෙල් ගෑ වියගසට.
පුරවැස්සන්ගේ සතුට සටහන් විය මනාව
කුමරුන්ට කළ ආශිර්වාදයෙන්, ප්‍රමෝදිත සිද්ධාර්ථ ඔපවුනෙ
දකිමින් මෙසියලු පුරවැසියන්ද මිතුරු සෙනගද
දීප්තිමත් වත් හැඳි ජීවිතය යහපත් විලසින් හිනැහෙමින් සිටි.
"යහපත්ය ලෝකය" ඔහු කීය. "එය මට හිතවත්ය!
රජවරුන් නොවූ මේ මිනිසුන්ද සැහැල්ලුය කරුණාබරය,
සොඳුරුය මගේ සොහොයුරියෝ මෙහි, වෙහෙසව සත්කාර කෙරෙනා;
ඔවුන් මෙසේ වන්නට මා ඔවුන් වෙනුවෙන් කළේ කුමක්ද ?
මා ඔවුනට ආදරය නම් මේ දරුවන් එය දැනගත යුතු නේද ?
අප වෙත මල් විසිකළ, ඉඩ දෙන්න ඔහුට මා හා රථයේ යන්න.
කෙතරම් හොඳද මෙවැනි රාජධානියක රජ වීම !
සැපත කෙතරම් සරලද, ඔවුන් සැනහේ නම්
මා, මෙසේ පැමිණි සඳ ! කොතරම් දෑ
මට අනවශ්‍ය ද මේ නිවෙස් තුළ ඇත්තේ අල්පයක් නම්
පුරවරයටම හිනැහෙන්නට !
එලවායන්න ජන්න ! දොරටුවෙන් ඔබ්බට, දැකගන්න මාහට
තව තවත් මේ මා නොදත් දයාබර ලෝකය."

මෙසේ ඔවුන් ගියේ දොරටු තුළින්, ආනන්ද වූ සෙනග
පොරකද්දී රිය සක අවට, ඇතැමුන් දිව්වේ
ගවයන්ට ඉදිරියෙන්, විසිකරමින් මල්මාලා, ඇතැමුන් අතගෑවේ
උන්ගේ සේද බඳු ළපැත්ත, ඇතැමුන් ගෙන ආවෙ උන්ට බත් හා
කැවුම්,







සියලු දෙනා හඬගාමින් "ජය ජය ! අපගේ උතුම් කුමරුන්ට !"
මෙසේ සියලු මං පෙත රැඳිණි ප්‍රීතිමත් බැල්ම
පිරෙමින් සොඳුරු දසුනින් - මන්ද යත් රජුගේ අණ
විය එසේ වන්නට - මාවතේ මැදක් දුරදී
තම පැල්පතෙහි සැඟවී සිටි තැනින් සෙමින් ගාටමින් ඇදුණෙ
පිටතට කඩමාලු හැඳගත් කාලකණ්ණියෙකි, කෲෂවූ දුගඳ හමනා,
ඉතා වියපත් මහලු මිනිසෙකි, ඇකිලුණ සම අව්වට පිළිස්සී,
ඇලි සිටියේ සත්ව සමක් සේ ඔහුගේ මස් රහිත කටුවලට
කුදුවිය ඔහුගෙ පිට දිගු කාලයක් බර ඇදීමෙන්
දැස් කෙවෙණි රතු විය, අතීතයේ කඳුලෙහි මළෙන්
ඔහුගෙ අඳුරු අක්ෂි පිළල් සහිතව ශ්ලේෂ්මාවෙන්, දත් රහිත මුව
ඔහුගෙ
සෙලැවුණේ අංශභාගයෙන් සහ භීතියෙන්
මෙසේ දකිමින් මෙතරම් ප්‍රමෝදය. එක් කෲෂ අතක්
අල්ලා සිටියේ ගෙවුනු සැරයටියක් සිටුවන්නට ඔහුගේ වෙව්ලන
දෙපය,
අනෙක් අත තෙරපුනෙ ඉල කටු මත්තෙහි
එතැනින් නික්මුනෙ වේදනාවෙන් බරවුනු අපහසුවෙන් නැගුණු සුසුම්.
"පිනට යමක්!" ඔහු කෙදිරිය. "දෙන්නැ හොඳ මිනිසුනේ! මන්දයත්
මම මියෙමි හෙට හෝ අනිද්ද!" අනතුරුව කැස්ස
ඔහුගේ ගෙළ තෙරපීය, එසේවුව ඔහු තම අත්ල දිගු කරමින්
නැගී සිටියේය.
දැස් පිය ගසමින්, කෙඳිරිගාමින් ගැස්ම අතරේ "පිනට යමාක්!"
අනතුරුව අවට වුවෝ බලෙන් ඇද දැමුවේ ඔහුගේ දුබල දෙකකුල්
පසෙකට තල්ලු කරමින් ඔහුව යළි මාර්ගයෙන් ඉවතට,
කියමින්, "අප කුමරුන්! උඹව දුටුවාද? පලයන් උඹේ පැල්පතට"
නමුත් සිද්ධාර්ථ හඬගෑවේ, "නවතින්න! නවතින්න!
ජන්න! ඒ කිමෙක්ද මිනිසෙකු සේ පෙනෙනා,
සැබවින්ම පෙනෙනවා පමණි, එසේ කුදුවී,
කාලකණ්ණිව, ගොරතරව, අපමණ ශෝකයෙන්?
ඇතැම්විට මිනිස්සු එසේ ඉපදෙත්ද? අරුත කිමද
ඔහුගේ විලාපයෙ "හෙට හෝ අනිද්දා මා මියෙන බව?"
ඔහුට නොහැකිද අහර සොයාගන්නට ඔහුගෙ ඇටකටු ඇයි ඉල්පී
ඇත්තේ?






විවාහයෙන් පසු සිදුහත් කුමරා හා යසෝධරා කුමරිය ඔවුනොවුන් හා සමග ඉතා සතුටින්
වාසය කළහ. මෙයට හේතුව පෙර ආත්මයෙහි ඒ දෙදෙනා ඔවුනොවුන් හා සමග එක්ව විසීම




කිනම් ව්‍යසනයක් විඳ ඒ දුක්ඛිත ඔහුට එසේ වන්නට?"
ගැල පදවන්නා පිළිතුරු දුන්නේ "සොඳුරු කුමරුනි!
අන් කිසිවෙකුත් නොව ඔහු මහල්ලෙකි.
අසූ අවුරුද්දකට පෙර ඔහුගේ පිට කෙළින් විය.
දෑස දිප්තිමත් විය, සිරුර ශක්තිමත් විය: දැන්
සොරාගන්නා ගෙවියන වසර උරා බී ඇත්තෙ ඔහුගෙ සාරය,
පැහැර ගනිමින් ඔහුගේ ශක්තිය උදුරමින් ඔහුගෙ අදිටන සහ
හපන්කම;
ඔහුගේ පහනෙහි තෙල් සිඳී ඇත. දැවෙන්නෙ පහන්තිර කලුවෙන්:
ඔහු අල්ලා සිටින ජීවිතය අසරණව දැවටෙන පුපුරකි
නිවෙන්නට දඟලන: එසේ වෙයි මහලු විය.
ඔබතුමා ඔතරම් සලකන්නෙ ඇයි එය?" අනතුර කථා කළේ කුමරු -
"නමුත් මෙය පැමිණේද අනුන්ටත්, ඒ නැත්නම් සැමටත්,
ඒත් නැත්නම් එය කලාතුරකින් සිදුවෙන දෙයක්ද ඔහුට මෙන්?"
"අති උතුම් වූ කුමරුනි" ජන්න පිළිතුරු දුනි, "ඔහුසේම
මේ හැම දෙනාමත් වියපත් වෙයි දිගුකල් ජීවත් විනම්"
"නමුත්" කුමරු කීහ. "මා දිගුකල් ජීවත් වී නම්
මාත් එසේ වෙයිද? යශෝධරාව
අසූ අවුරුද්දක් විසුවානම් ඇයටද හිමිවෙයි ද මහලු විය.
ජාලිනී පුංචි හස්තා, ගෝතමී,
ගංගා, අනෙක් හැමෙදෙනාම?" "එසේය ශ්‍රීමතාණෙනි!"
ගැල් කරු පිළිතුරු දුන්නෙ. අනතුරුව කුමරු පැවසුවෙ
"ආපසු හරවන්න රථය, ගෙනයන්නැ මා මගේ නිවහනට!
මා දුටුවෙ දකින්නට නොසිතූ දෙයක්."

මෙසේ කල්පනාවෙන්, තම සොඳුරු රාජාංගනයට පෙරලා පැමිණියෙ
සමාහිත සිද්ධාර්ථ, පෙනුමෙන් විලාසයෙන්ද ශෝකීව:
දිව නොගෑවෙ ඔහු සුදු කැවුම් ද පලතුරුද
රාත්‍රී භෝජනය වෙනුවෙන් වෑතුරුණු, නොබැලුවෙ වරක් හෝ හිස
ඔසවා
දක්ෂම නළඟනන් වෙහෙසෙද්දී මෝහනයට,
නොකීවේ කිසිත් - හැරෙන්නට එකම දුක්බර දෙයක් - ශෝකීවූ
යශෝධරා ඔහුගේ දෙපය සිඹ හඬද්දි,
සුසුම් ලමින්, "නැද්ද මා හිමියෙනි මා වෙතවත් සැනසුමක්?"
"අහෝ සොඳුර!" කීය ඔහු, "එබඳු සැනසුම සොයන්නට මා







ආත්මය වලිකන්නේය, සිතමින් මේ සියල්ල අවසන් වෙයි,
අවසන්වන්නෙය මෙය
අප දෙදෙනාම මහලු වෙමින්, යශෝධරා!
ආදරයෙන් තොරව, අසුන්දරව, දුබලව, වියපත්ව, කුදු ගැහී.
නැත, අප දෙතොලෙන් ආදරයද ජීවයද සිරකරද්දී
එකිනෙකට ළංව් දිවා රෑ අප සුසුම් එක්වෙමින්
කාලය තෙරපේය අප අතර සොරා ගෙන යන්නට
මගේ ආශාවත් ඔබේ අලංකාරයත්, හරියටම කළුරාත්‍රිය
සොරාගන්නා සේ අර කඳු මුදුනේ රෝස ආලෝක, පරවෙයි එය අලුවට
නොපෙනෙන්නේය මලින වෙන්නාසේ, සොයාගත්තෙමි මෙය මම,
මගේ මුළු හදවතම බැඳී ඇත්තෙ සිතන්න කෙසේදැයි ආදරය
බේරාගන්නෙ සුන්දරත්වය එය වනසන්නාවූ, කාලයෙන්
එයයි වියපත් කරන්නෙ මිනිසුන්ව. "මෙසේ මුළු රැය තුළම ඔහු සිටියේ
නිදි නැතිව, නොසැනහී.
ඒ මුළු රාත්‍රියේම

සුද්ධෝදන රජුන් දුටුවෙ සිත් කළඹනා සිහින.
ඔහුගේ දසුනෙහි මුල්ම හීනිය වූයේ ධජයකි
පුළුල්, තේජාන්විත, දිලිසෙමින් රන් ඉරක් සහිතව,
ඉන්ද්‍රගේ සංකේතය; නමුත් දැඩි සුළඟක් හැමීය
ඉරා දමමින් එහි දිව්‍යමය රැලි, හෙළමින් එය
දූවිල්ලට; මෙහිදී පැමිණියේ ජන සමූහයක්
අඳුරින් වැසී, විසුනු වුනු සේද ධජය ගත් ඔව්හු
විසි කළේය එය පෙරදිගට නුවර දොරටුවෙන් පිටතට.
දෙවැනි හීනය වූයේ යෝධ ඇතුන් දසදෙනෙකි
රජතමය දළ හා දෙරණ දෙදරවන පාද සහිතව,
මඬිමින් දකුණු මාවත උන්ගේ බලගතු ගමනින්;
ඉදිරියෙන්ම ආ සතුගේ පිට නැගි අය
වූයේ රජුන්ගේ පුතුය - අනෙක් අය පසු පසින්.
දසුනෙහි තෙවැනි භීෂණය වූයේ රථයකි,
දෑස් අන්ධ කරනා තරම් ආලෝකයෙන් දිලිසෙමින්
සෙන්ධවයන් සතර දෙනෙකු විසින් අදිනු ලදුව
උන් පිටකලේ සුදු දම් සුසුම් දහරා විකමින් හෙළමින් ගිනි පෙණ;
මේ රියෙහි හිඳ සිටියේ කුමරු සිද්ධාර්ථ.
සතර වැනි භීෂණය වූයේ නිබඳව පෙරැලුන රෝදයකි.






"අපි දෙදෙනා කිසිසේත් අමුත්තෝ නොවෙමු. පෙර සංසාරයෙදී අපි දෙදෙනා එක්ව වාසය කළෙමු."




දැවෙන රන් නාභියෙන්ද, මිණි එබ්බවූ දතින්ද යුතු,
අරුම දෑ ලියා තිබුණේ ඒ බිඳුණු රෝදයෙහි
කැර කැවෙද්දී ඒ පෙනුනේ ගින්දර සහ සංගීතය මෙන්.
පස්වෙනි භීතිය වුයේ යෝධ බෙරයකි. තැන්පත් වුයේ
පුරවරය හා කඳු වැටිය අතර මැද,
මෙයට කුමරුන් පහර දුන්නේ යකඩ මුගුරකින්
කෙසේද යත් ඒ හඬ රැව් දුන්නේ ගිගුරුම් කුණාටුවක් සේ,
පෙරැලෙමින් අහසපුරා ඈතට ඈතට.
සයවැනි භීතිය වුයේ උස් අටල්ලකි. එය මුදුනත කුමරු
සිටගෙන සිටියේ, විසිවරුමින් සිය දෑතෙන් ඈතට මෑතට,
සුන්දර ආලෝකයෙන් පිරි මැණික් කැට; වසින්නාසේ
නිල් කැට සහ රතු කැට; ලෝකයම පැමිණියේ
වැර ගනිමින් අල්ලන්නට ඒ මහගු නිධන් ඒවා වැටෙද්දී
සතර දිසාවට. නමුත් සත්වෙනි භිෂණය වුයේ
අඳෝනා හඬකි. මිනිසුන් සය දෙනෙකුගේ
උන් හැඬුවෝය දත් කුරු කමින්, තබමින් සිය දෑත් තල
උන්ගේ මුවට, ඇවිදිමින් අස්වැසිය නොහැකි ශෝකයෙන්.

මෙම සත් භීෂණය ඔහුගේ නිදි දසුන පිරුවෝ,
නමුත් ඔහුගේ දක්‍ෂම සිහින කියවන්නවුන්ට
නොහැකිවිය තෝරන්නට සිහිනය. අනතුරුව මහ රජු උරණව
කීවේය. "පැමිණේය මා මන්දිරයට නපුරක්
නමුත් ඔබ එකෙකුටවත් නොහැකිය කරන්නට උපකාර මට
තේරුම් ගන්නට මහා දෙවියන් මා වෙත එවන මේ පෙර නිමිති."
මෙසේ පුර වැස්සෝ ශෝකයට පත් වූහ.
රජුන් දුටු හෙයින් භීතියේ සප්ත සංකේත
කිසිවෙකුටත් තෝරන්නට නොහැකිවූ; නමුත් නගරද්වාරයට පැමිණියේ
වයස්ගත මිනිසෙකු මුව සමින් සැරසී
පෙනුමෙන් තවුසෙකුසේ, කිසිවෙකුත් නොහඳුනන: ඔහු හඬගා කීවේ.
"ගෙනයන්න මා නිරිඳුන් වෙත, මට තේරිය හැකිය
ඔහුගේ සිහිනයේ දසුන්" ඔහු ඇසු කල්හි
ඒ මැදියම් රාත්‍රි සිහිනයේ සප්ත අභිරහස්
හිස නමා බැතියෙන් පැවසුවේ; "අහෝ මහාරාජය!
මම මෙම වාසනා බර නිවහනට ආශිර්වාද කරන්නෙමි. මෙයින්
නැගෙන්නේය







දස දිග පතළ වෙන අසිරියක් හිරුටත් වඩා!
අසන්නැ! එම සප්ත හීතිය ඇත්තෙන්ම සප්ත ප්‍රීතියකි,
පළමු වැන්න නම්, ඔබ ධජයක් දුටුවේය-
පුළුල් තේජාන්විත, ඉන්ද්‍රගේ ලාංඡනයෙන් රන්වන්වූ - හකුලා
ඉවතට ගෙන ගියේ එය පෙන්වමිනි අවසානය-
පැරණි ඇදහිල්ලක, ආරම්භයයි නව යුගයක,
මන්දයත් දෙවියන් අතර වේය වෙනස්වීම් මිනිසුන්ගේ සේම,
දින ගෙවෙද්දි කෙමෙන් කල්පද ගතවේය.
දෙරණ සෙළැවූ මහා ඇතුන් දසදෙනා නම්
ශ්‍දානයේ මහත්වූ ත්‍යාග දසයක් පෙන්නුම් කරයි
ශක්තියෙනි කුමරු හැරයන්නේ සිය රාජ්‍යය
සොලවමින් මුලු ලොවම සත්‍යයේ මාර්ගයෙන්
රියෙහි බැඳි සුසුම් පිඹින අශ්වයින් සතර දෙනා නම්
නිර්භීය වු සදාචාරයන් සතරකි ගෙන එන
ඔබ පුතුව සැකයෙන් හා අඳුරෙන් ප්‍රීත්‍යාලෝකයට;
නාභිය දැවෙන රනින් යුතුව කැරකුන රෝදය නම්
අති උතුම් වු ධර්මයේ චක්‍රයයි-
ඔහු එය පෙරළන්නේ මුළු ලෝකයාම ඉදිරියේ.
කුමරු පහර දුන් යෝධ බෙරය නම්
හැම දේශයකම හඬදුන්,
ඔහු දෙසන වදනේ ගිගුරුමයි
දෙව්ලොවට නැගුණු උස් අටල්ල නම්
මෙම බුද්ධ දේශණයේ වැඩීමයි
අර අවට හැම අත විසිරුණු මිණි කැට නම්
එම යහපත් ධර්මයෙහි මෙතෙක් හෙලි නොකළ සම්පතයි
ළගන්නාවූ හා ප්‍රිය ජනක වන්නාවූ සත්පුරුෂයන්ට හා දෙවියන්ට.
එම අටල්ලේ අරුත එයයි;
නමුත් අර මුව වසා වැළපෙන මිනිසුන් සදෙනා
ඔවුන්ය ඔබගේ පුතු යන ප්‍රධාන ගුරුන් සදෙනා
ඔබ පුතු සිය දීප්තිමත් වූ සත්‍යයෙන් හා වදනින්
නිහඬ කරවන්නේ ඒත්තු ගන්වමින් ඔවුන්ගේ අනුවණ කම්.
මහා රාජ! ප්‍රීතිවන්න; මා ස්වාමිවූ කුමරුන්ගේ මහිමය වැඩිය
රාජධානීන්ට වඩා, ඔහුගේ තවුස් වැරහැලි අගනේය
වටිනා රන් සළු වලට වඩා, එයයි ඔබගේ සිහිනය!






නළඟණන් විසින් මිහිරි හඬින් ගයන ලද ගීත සිදුහත් කුමරුගේ මනසට ආස්වාදයක් විය.
තමාගේ සිත් කලකිරවන දර්ශනවලින් පසුව පෙරළා මාලිගයට ආ සිදුහත් කුමරුට ගැයුම්




තව සත් රැයකින්ද දින කින්ද මේ සියල්ල සිදුවන්නේය."
මෙසේ පැවසූ ඒ සුදනා, නැමී
අටවරක් වැඳ තෙවරක් පොළොව අල්ලා;
හැරී පිටව ගියේය. නමුත් රජතුමා අණකර යවද්දී

වටිනා ත්‍යාගයක් ඔහු වෙත, පයිණ්ඩ කරුවෝ
ගෙන ආවෙ වදන්, "අපි පැමිනියෙමු ඔහු අවතීණ් වූ
චන්ද්‍ර දෙවොලට, නමුත් ඇතුළත කිසිවෙකුත් නොවී
අලු පැහැ බකමූණෙකු හැරෙන්නට දෙවොල තුලින තටු සලා ගිය."
දෙව්වරු මෙසේ පැමිණෙති ඇතැම් විට

නමුත් ශෝකීවූ රජු
අරුමයෙන්, අණ දුන්නේ තව තවත් අලුත් වූ ප්‍රමෝදයන්
නංවන්න. බැඳලන්න සිදුහත්ගේ හදවත
ඔහුගේ ආනන්ද මන්දිරයේ අර නළඟනන් අතරේ,
තවද සියලු ලෝහමය දොරටු වෙත ඔහු රැඳවිය දෙගුණයක් මුර.

නමුත් කවුරු නම් නවතියිද දෛවය?
මන්දයත්. තවත් වතාවක් කුමරුගේ සිතුවිල්ල
යොමුවුනේ දකින්නට මෙම ලෝකය තමන්ගේ දොරටුවෙන් පිටතවූ,
මේ දිවිය මිනිසාගේ, ඉතා යහපත් වේයයි එහි රළ
දිවි නම් අපතට නොයා දුක්ඛිත අවසානයකට
කාලය වියළී වැලේලේ, "වැඳ අවසර ඉල්ලන්නේ මා දකින්නට
අප පුරවරය ඇති සැටියෙන්; "මෙය විය ඔහුගේ යැදිම
සුදොවුන් රජුට. මාපිය රජුනි ඔබ
මෙයට පෙර ඉතා ප්‍රවේසමෙන් සැලකිල්ලෙන් මිනිසුන්ට ඔවදන් දුන්නේ
සඟවන්න නොහොඳ රූපයද සාමාන්‍ය දර්ශනද
හිනැහෙන්න ඔවුනගේ වුවන් මා සතුටු කරන්නට
සියලු මහ මාවත්ද ප්‍රමෝදිත විය, එහෙත් මම උගත්තෙමි
මෙය එදිනෙදා ජීවිතය නොවන බව, තවද මා සිටි නම්
ළංව, මා පියාණෙනි, රාජධානියට හා ඔබට
කැමැත්තෙන්ම මම දැනගන්නෙමි මිනිසුන්ද විදින්ද
ඔවුන්ගේ සරල දිවි පෙවෙතද, එදිනෙදා කටයුතුද,
රජුන් නොවනා ඒ මිනිසුන් ජීවත්වෙන ආකාරයද,
දෙන්නැ මට සහ අවසර නිරිඳුනි යන්නැ අප්‍රකටව







මගේ නන්දන උයන් වතුවලින් ඔබ්බෙහි; පෙරලා එන්නෙමි
මම වඩාත් සැනැහී ඔවුන්ගේ සාමයට යළි,
ඒත් නැත්නම් වඩාත් නැණවත්ම, පියාණෙනි, සැනහී නොවිනම්.
එනිසාම වැද අවසර ඉල්ලමි යන්නැ මා හට රිසිසේ
හෙට දින, මගේ සේවකයන්ද කැටිව මාවත් ඔස්සේ.
රජුන් පැවසීය තම ඇමතියන් අතරේ
"මේ දෙවැනි ගමන මුල් ගමන හරිගස්සන්නා සේය.
දුටුවෙහිද කුරුළුගොයා තිගැස්සෙන හැටි හැම දැකුමකටම
උගේ කූඩුවෙන් පිටවූ සැණින්, නමුත් කෙතරම් සන්සුන්ද උගෙ නෙත
නිදහසෙන්; "ඉඩ දෙන්න මා පුතුට දකින්නට හැම දෙයම,
දන්වන්න මාහට ඔහුගේ සිතුවිලි පිළිබඳ ආරංචි".

මේ ආකාරයෙන් පසුදින, මධ්‍යාහ්නය එළඹි කල,
කුමරු සහ ජන්න නික්ම ගියෙ දොරටුවෙන් ඔබ්බට
ඇරුණ සඳ එය රජ අණින්;
නමුත් ඒ මහා දොරටු තල්ලු කළවුන් පසුපසට
නොදත්තේ ඒ නිරිඳුන්ගෙ පුත් බව සැරසිලා ගියෙ වෙළඳ සළුවෙන්
රිය කරුද සැරසිලා ගියෙ ලිපි තබන්නෙකු සේ.
ඇවිද ගියෙ දෙදෙන පෙරටම මංපෙතේ
හැසිරෙමින් ශාක්‍ය පුරවැසියන් අතරේ,
දකිමින් සොයමින් සියලු සතුටු දේ සේම දුක්බර දෙයද පුවරයේ;
විචිත්‍ර මාවත් ගුම් නද දුණී ජීවයෙන් මද්දහන,
වෙළෙන්දෝ දෙපා නවා හිඳ සිටියේ තම කුළු බඩු හා ධාන්‍ය අතරේ,
මිලදී ගන්නෝ සගවා ඔවුන්ගේ කහවණු සළු පිළි අතරේ
වදන් ගැටුනෙ ලාභ කරන්නට අරක මේක,
හඬ නැගුණෙ මග පාදන්නට, විසල් පාෂාණ රෝද,
සෙමින් ගමන් ගත් ශක්තිමත් ගවයින්, උන් උසුලා ගියෙ සරසර ගෑ බර
ගී ගයමින් දෝලා ඔසවා ගියවුන්
පුලුල් ගෙළෙන් යුතුව අව්වේ දහදිය හෙලූ හමළයෝ,
ලිඳෙන් දිය ගෙන ආ ගෘහිණියෝ
හට්ටි හිස මත තුළනයේ රඳවා, උන්ගේ උකුළ වෙත
කළු දැසින් යුතු බිළිඳුන් සහිතව; මැස්සන් සැරූ පැණි කැවිලි කඩ,
වියන්නා තම ආවාපනය වෙත, කපු දුන්න
හඬනංවමින්, ඇඹරුම් ගල අඹරමින් ධාන්‍ය, මලු රැළ පොරකමින්
ගැවසෙමින්, බත්උළුවලට, දක්ෂව ආයුධ තනන්නා
දිග අඩුවෙන්ද, මිටියෙන්ද යා කරමින් යකඩ සන්නාහය,






නළඟනන් මිහිර ගෙන ආවේ කුමරුන්ට නන් වෙසින්. ඇතැම්මු නැටුහ. තවකෙක් ගැයූ - තව අය
වැයූ සංගීත භාණ්ඩ - සතුටු කෙරෙමින් කුමරුන්ව.




කම්මල් කරුවා කෙටේරියද හෙල්ලයද
රත්කරමින් එක්ව තම ගිණි අඟුරු මත, සිප්සලෙහි
සිය ගුරුවටා සන්සුන් අඩ සඳක සේ හිඳගත්
ශාක්‍ය දරුවෝ ගැයූ මන්ත්‍ර
ඉගෙනමින් මහා හා චුල්ල දෙවියන් ගැන;
පඩු පොවන්නෝ දිග ඇද්දෝය හිණ සළු අව්වෙහි
මහ බඳුන්වල පෙඟවූ පාටින් - තැඹිලි පැහැ, රෝස සහ පච්ච;
සොල්දදුවෝ ඇවිද ගියෝ හඩවමින් අසි සහ පළිහ,
ඔටු එලවන්නෝ නැලැවෙමින් උන්ගේ මොල්ලි මත,
බ්‍රාහමණයෝ උඩගුව, සටන්කාමී ක්ෂත්‍රියයෝ,
යටහත්ව මෙහවර කරන ශුද්‍රයෝ; තැනෙක රොක්වුනහ
පිරිසක් නරඹන්නට දොඩනා නයි නටවන්නෙක්
ඔතනා හැඩ සිය මැණික් කටුවෙහි ප්‍රාණීය මිණිවළල්ලක්සේ
මිසර සර්පයෙක් සහ නාගයෙක්, මෝහනය කරමින් පෙණය සහිත මාරකය
වියරු නැටුමකට මුතුපළන් ලබුවක ගුමුනදින්,
තැනෙක විය දිගු ජේලියක් හේව්සි ද හොරණෑද නද දෙමින්, ගියේ
පුමුදිත වණ්යෙන් සායම් වුන ගවයින්ද, සේද සේසත් උඩුවියන් ද සහිතව,
කැඳවා යන්න තුරුණු මනමාලියක් නිවෙසට; තව තැනෙක බිරියක
පුද දෙමින් කැවුම් ද මල් මාලා ද දෙවියන්ට
යදිමින් තම සැමියා යහතින් පෙරළා එවන්නැයි වෙළදාමෙන්,
ඡත් නැත්නම් ඉල්ලමින් පිරිමි දරුවෙකු උපදින්නැයි ඊළඟ වතාවේ;
කඩපියැසි අසලින් අසීරුවෙන් ගියේ ඔවුන්
කළුවන් කුඹලුන් හඩගා පිත්තල තළනා
මවමින් පහන් සහ නොයෙකුත් බඳුන්; අනතුරුව දේවාල පවුරුද,
දොරටු පසුකරමින්, ගංගාවට සහ පාලමට
පුරවරය පවුරු පහළින්.
මේ සියල්ල පසු කළ ඔවුන්ට
ඇසුනේ මාවත අද්දර වැලපෙන අඳෝනා හඩක්,
"උදව් දෙන්න, සාමිනේ! නැගිටුවන්න මා දෙපයට; අනේ උදව් දෙන්න!
නැත්නම් මා මිය යාවි මගේ පැලට යා ගන්න කලින්!"
ඒ නම් පීඩිත අසරණයෙකු විය, ඔහුගේ වෙව්ලන සැකිල්ල,
යම් කිසි ව්‍යාධියකට ගොදුරුව, වැටී දුහුවිල්ලේ
ඇඹරෙමින්, දම්පැහැ රත් කුෂ්ඨ ලප සහිතව;
සීත දහදිය බිඳු රැඳිණි ඔහුගේ නළලත, ඔහුගේ මුව







ඇඳවිය වේදනාවෙන් පොපියන තුවාලයෙන්,
වියරු දෑස පාවුනේ ඇතුළත වේදනාවෙන්,
අපහසුවෙන් හුස්ම අදිමින් ඔහු ග්‍රහණය කළේ තණපත් නැගිට්ටින්නට, එසේ නැගිට
අඩක්, යළි වැටුනෙ, වෙව්ලන දුබල දෙපයින්
බියකරු හඬින් හඬගාමින්, "ආහ්! වේදනාවයි!
හොඳ මිනිසුනේ, දෙන්න උදව්!" මෙහිදී සිද්ධාර්ථ දුවමින්,
නැගිටුවේ දුක්බර මිනිසාව තම සියුමැලි දෑකින්,
සොඳුරු බැල්මක් හෙළා සැතපුවෙ ඒ රෝගී හිස තම දණ මත,
සිය සුමුදු පහසින් සනහමින් ඒ අසරණයා
විමසුවේ, "සොයුර, කුමන ව්‍යාධියක්ද ඔබට? කුමන වරදක්
සිදුවිද ඔබහට? බැරිද ඔබහට නැගිට ගන්නට
ඇයිද ජන්න ඔහු මෙතරම් අපහසුවෙන් හුස්ම හෙලමින් වැලපෙන්නෙ,
දොඩවන්න වෙරගන්නෙ, සුසුම් ලමින් දුක්ඛිතව?"
රියකරු මෙහිදී පැවසුවෙ: "උතුම් කුමරුනි ! මේ මිනිසා
යම්කිසි වසංගතයකට ගොදුරු වී ඇත්තේය; ඔහුගේ ධාතුන්
සියල්ල වියවුල්ය; ඔහුගේ නහර නල තුළ රුධිරය,
දිව්වේ පූර්ණ ගංගාවක් සේ; දැන් නටමින් කැකෑරෙයි
ගිණිගත් ගංවතුරක් සේ; ඔහුගේ හදවත, මෙතෙක් හරිහැටි ගමන්ගත්
දැන් ගැහෙන්නේ, වැරදියට වැයෙනා බෙර සමක් සේ, කඩිනමින් හා සෙමින්;
ඔහුගෙ බලනහර බුරුල් වී ඇත්තෙ ලිහීගිය දුනු ලණුවක් සේ;
ශක්තිය වැයවී ඇත ඒ ගාතයෙන්ද, කටියෙන්ද, ගෙලෙන්ද,
පෞරුෂත්වයේ ආනන්දයද අලංකාරයද පලාගොසිණි;
මේ නම් රෝගී මිනිසෙකි ගැහෙන උණයෙන්.
බලන්නැ ඔහු උදුරනා හැටි අල්ලන්නටදෝ සිය බේදය.
කරකවමින් සිය ලේ පිරුණු දෑස්, කුරු කමින් දත්,
අදිමින් සුසුම් ඒවා හරියටම තෙරපන දුමක් සේ.
අහෝ! ඔහු මිය යායුතුය; නමුත් නොමැරෙන්නේය
මේ වසංගතය ඔහුගේ සිරුර පුරාම දිවෙන තෙක්
මරා දමමින් ස්නායු මියෙන්නේ ඒවා ජීවිතයට කලින්;
අනතුරුව ඔහුගේ ලේ වැල් සියල්ල වේදනාවෙන් පිරුණු පසු
ඔහුගේ ඇට මිදුලු සියල්ල හැඟීමෙන් හිස්වූ පසු
වේදනා දෙන්නට, වසංගතය ඔහුගෙන් මිදී යාය තව තැනක ලගින්නට.
අහෝ, උතුමාණෙනි! ඔය පරිදි ඔහුව අල්ලා සිටීමද නොසුදුසුය.
ඔය නපුර ඇවිදින් පහර දිය හැකිය, ඔබට වුව."






කපිලවාස්තුවෙහි හැම නිවහනක්ම සැරසිණි පැමිණෙද්දී කුමරු විචිත්‍ර රථයෙන්.




නමුත් කුමරු කථා කළේ, තවමත් සනහමින් මිනිසාව,
"මෙවැනි තවත් අය ඇද්ද? මෙබඳු තවත් බොහෝ අය ඇද්ද?
මටත් සිදුවිය හැකිද ඔහුට මේ වූ දෙයම?"
"උතුමාණෙනි!" යි පිළිතුරු දුන්නේ රියකරු, "මෙය පැමිණෙන්නේ
නොයෙක් ආකාරයෙන් මිනිසා වෙත; වේදනා සහ තුවාල
ව්‍යාධි සහ දුබලතා, වෙව්ලීම්, කුෂ්ඨ රෝග,
රත් උණ, දියාරු කසල සැරව බිබිලි ගඩු
එළඹේය හැම මාංසයකටම, ඇතුළුවේය හැම තැනින්,"
"පැමිණේද එබඳු රෝග කිසිවෙකුත් නොදැක?" කුමරා, විමසීය.
ජන්න පිළිතුරු දුන්නෙ; "කපට නාගයෙකුසේය උන් පැමිණෙන්නේ
දෂ්ඨ කරන්නට නොපෙනී: හරියටම ඉරි දිවූ මරුවා සේය
බලා සිට පනිනා කරුන්ද පඳුරෙන්,
සැඟවී සිට වන මගෙහි; ඒ නැත්නම්
විදුලිය සේය, වදිමින් එකෙකුට මග හරිමින් තවකෙකු,
අහම්බෙනි එළඹෙන්නේ එය."

"එසේ නම් හැම මිනිසාම ජීවත්වෙන්නේ බියකින්?"
"එසේය ඔවුන් ජීවත්වෙන්නෙ, කුමරුනි!"

කිසිවෙකුට කිව නොහැකිද මම නිදන්නෙම්
සතුටින් මුළු රැයම අවදිවන්නට ඒ ලෙසින්?" කියා
කිසිවෙකුත් නොකියයි එසේ."

"නොයෙකුත් වේදනාවන්ගේ අවසානය
එසේ එළඹෙන නොපෙනීම, එසේ එලඹෙන සිතුමතේ,
මෙයද, අබලන් වූ සිරුරක් සහ ශෝකී සිතක්,
එසේ වෙද මහලු විය?"

"එසේය, මිනිසා දිගු කල් ජීවත් වුවහොත්"
"උසුලන්නට නොහැකි නම් ඒ වේදනා
නොඋසුලයි නම්, පතමින් වාරයක්;
ඒත් නැත්නම් උසුලා වේදනා මේ මිනිසා සේ,
දුබලව තදින්ම අඳෝනාවට හැර, තවමත් ජීවත්වෙයි නම්,
කෙමෙන් වියපත් වෙමින්, වියපත් වෙමින්, අවසානය කුමක්ද?"
"ඔව්හු මියෙති, කුමරුනි."

"මියෙති?"

"එසේය, අවසානයේ පැමිණෙයි මරණය
යම් කිසි අයුරකින්, ඕනෑම හෝරාවක.







කිහිපදෙනා වයස්ගත වෙති, බොහෝ අය වේදනාවිඳ රෝගී වෙති,
නමුත් හැම දෙනා මිය යා යුතුය - බලන්නැ, පැමිණේය මළ එකෙක්!"
මෙවිටය සිද්ධාර්ථ එසවූයේ දෑස, දකින්නට
වේගයෙන් ගං ඉවුරට ඇදෙනා පිරිසක්
වැලපෙමින්, ඉදිරියෙන්ම ආ අය වැනුවේ
මැටි බඳුනක් පුරවා ගිණි අඟුරෙන්, පසුපසින්
ආය නෑදෑයෝ හිස් මුඩුකොට, ලතැවිල්ලේ සලකුණු සහිතව, ලිහිල්ව,
හඬගා හඬමින්, "ඕ රාමා, රාමා, අසන්න!
රාමාට හඬගාන්න, සොයුරනේ"; අනතුරුවය පැමිණියේ දෙණ,
වියා පොලු සතරකින් පැටලුණ උණ ගසින්,
ඒ මත වැතිරිණි, නග්නව දරදඬුව දෙපය ඉදිරියෙන් ඉතා සිහින්,
හිස කඩා වැටී, අන්ධව, ලපැත්ත හැකිලී විරිත්තුන මුවින් යුතුව,
නැහැවී රත් සහ කහ කුඩුවලින් - මිය ගියවුන්,
ඔසවා ගිය සතර දෙන හිස හරවා පළමුව,
කෑගසා "රාමා, රාමා!" යැයි ගෙන ගියේ
ගං ඉවුරෙහි ගොඩ ගැසූ දර ගොඩක් වෙත;
මේ මත රැඳවිය ඔව්හු ඒ සිරුර, අවුලමින් ගිණි
සුව නින්දය ඇත්තේ ඒ යහන මත සැතපෙන්නවුන් වෙත;
අවදි නොවන්නේය ඔහු කොතරම් සීත වුවද
නග්නව එසේ මුහුණ දෙමින් සුලගට - ඉක්මණින් දැල්වුයේ ඔවුන්
රත් ගිණි දැල් සතර කොන්ට, ඒවා නැගුනේ රිංගමින්
ලෙවමින්, සැලෙමින්, දිලෙමින්, සොයමින් මළවුන්ගෙ මාංස
පෝෂණය වෙමින් එයින් ඉක්මණින් සු හඬ ගෑ දිවෙන්,
පිපුරුම් හඬ ඇසිණි වියලි සම, බිඳෙන හඬ ඇට සන්ධි;
මහත් වූ දුම් කඳ සිහින් වෙන තුරා අලු ගිලෙමින්
දම් පැහැයෙන්ද අලු පැහැයෙන්ද, අතන මෙතැන විය ඇට
සුදු පැහැයෙන් අලු අතර - එයයි මිනිසාගේ එකතුව.
කුමරු කීය අනතුරුව, "මෙයද එළඹෙන අවසානය
ජීවත් වෙන හැම දෙනාටම?"
"මෙයයි අවසානය
හැමදෙනාහට," ජන්න පැවසීය, "අර සෑය මත රැඳවුණ ඔහුගෙ
ඉතිරිය කොතරම් අල්පදයත් කපුටෝ
හඩා කෂුධාවෙන්, හැරයති ඒ එල රහිත භෝජනය -
කෑවෙ, බිව්වෙ, සිනාසුනෙ, ආදරය කළේ, ජීවත් වුනේ, කැමති වුනෙ






*සිදුහත් කුමරු ප්‍රමෝදිත වූයේ උයන් පෙතෙනි. දිගු හෝරා ඔහු ගෙවූයේ එහි. නරඹමින් රස විඳිමින් සොබා සෞන්දර්යය.*




ජීවිතයට ඉමහත්ව.
අනතුරුව පැමිණිදේ - කවුරුන්ද දන්නෙ? - කොහෙන්දෝ ආ වල්
සුලඟක්,
මගෙහි අවුරුමක්, තටාකයෙහි කැළලක්,
නාගයෙකුගේ කෙණෙහීමක්, කෝපවූ යවුලක අඩවියත් තුඩක්,
වෙව්ලුමක්, මාලු කටුවක්, උඩින් වැටෙනා උළු කැටයක්,
ජීවිතය අවසන්ව මිනිසා මිය යන්නේය.
නැත කෑම පිරියක් නැත සැපතක්, නැත වේදනාවන්
පෙර පරිදි; දෙතොල මත හාදුව නැත හැඟීමක්,
ගිණි දැවීම නොදැනේය; ගඳ සුවඳ නොදැනේය තමාගේම මාංසයෙහි
මෙසේ දැවෙනා, නොදැනේය සඳුන් හා කුළු බඩුද
උන්වනා; මුවින් ගිලිහී ඇත සියලු රස,
ශ්‍රවණයද සිරවී දෙකණින්, පෙනීම
අන්ධවිය දෑසින්; ඔහු ආදරය කළවුන්
අඳෝනා නගති ශූන්‍යව, මන්දයත් එයද සැඟවී යා යුතුය,
ඒ සිරුර ජීවිතයට පහනක් බඳුවූ
ඒත් නැත්නම් පණුවන්ට ගොරතර බොදුනක් වේය එය
මෙයයි පොදු දෛවය සියලු ශරීරයන් සතු
උස් පහත්, හොඳ නරක, සියල්ල මිය යා යුතුය,
අනතුරුව උගන්වා ඇත්තේ යළි ඇරඹෙන බවය අලුතින් ජීවත් වන්නට
කොතැනක හෝ කෙසේ හෝ - කවුද දන්නෙ? - යළිත් වරක්
වේය වේදනා, වෙන්වීම්, දැල්වෙන සෑය -
මෙයයි මිනිසාගේ වෘතය."

නමුත් අහෝ! සිද්ධාර්ථ හැරුණෙ
දෑස් දිලිසෙමින් රඳවා දේවමය කඳුලැල් අහසතට,
දෑස් දල්වා දේවමය කරුණාවෙන් මිහිතලට;
අහසින් පොලවට බැලුවෙ ඔහු, යළි පොළවෙන් අහසට,
සොයන්නා සේ ඔහුගෙ සිත තනිව සරමින්
යම් කිසි ඇත ඇත දසුනක්, බඳවමින් මෙයද එයද,
නැතිවූ යමක්, අතීතයක් එහෙත් සෙවිය හැකි යමක් පෙනෙනා එහෙත්
නොදන්නා
අනතුරුව හඬගෑවෙ ඔහු, එසවූ මුව මඩල
දිලිසෙද්දී ආදරයේ දැවෙනා කරුණාවෙන්
නොකිව හැකි, බලාපොරොත්තුවේ උණුසුමෙන්
අසීමිත නොසැනසුණු "අහෝ! දුක්විඳින ලෝකය,
අහෝ! දන්නාවූ හා නොදන්නාවූ මගේ පොදු මාංසය,







පැටලී මේ පොදු දැලෙක මරණයේ සහ ව්‍යසනයේ,
ජීවිතයක මේ දෙකම බඳනා! මම දකිමි, මට දැනේ
පුළුල් බව මේ මිහිමත සන්තාපයේ
නිසරු බව එහි ආනන්දයේ, සරදම
එහි සියලු හොඳම දෙයෙහි, පරිතාපය එහි නරකම දෙයෙහි;
සියලු සැපත අවසන් වෙයි නම් වේදනාවෙන්, තුරුණුවිය මහලු වියෙන්,
ආදරය වෙන්වීමෙන් ජීවිතය පිළිකුල් සහගත මරණයෙන්,
මරණය තව නොදන්නා බවයෙන්, ඒ බව බඳිමින්
මිනිසුන් තම චක්‍රයට යළි යළිත් කැරකෙන්න
ව්‍යාජ ප්‍රමෝදයේ සහ ව්‍යාජ නොවන වේදනාවේ.
මාවද රවටා ඇත මෙම මායාව, පෙනෙන්නේ නම්
ජීවත්වීම සුන්දර සේය, ජීවිතය හිරුකිරණ බැබලෙන දොලපහරක්
සේය
ගලමින් නිරන්තරයේ නොවෙනස්වූ සාමයේ;
සැබවින්ම ගංවතුරේ මුග්ධ දිය රැලි
නටන්නේ සැහැල්ලුව පියුම් හා තණ පෙත් වෙත
හලන්නට තම පළිගු දහරා කඩිනමින්
මළින කර ලවණ සයුරට. දැළ ඉරී ඇත
මා අන්ධ කළ! මාද මේ මිනිසුන් සේය
තම දෙවියන් වෙත හඬනා නමුත් නොඇසෙනා
ඒත් නැත්නම් සැලකුම් නොලබනා - නමුත් තිබිය යුතුමය පිහිටක්!
ඔවුන්ටද මා හටද හැමවිටම තිබිය යුතුය සරණක්!
ඇතැම්විට දෙවියන්ටද උවමනාවෙයි උපකාර
අසරණව එසේ දුක්බර දෙතොල් හඬද්දී
ඔවුන්ට බැරිව වන්නට පිහිට! කෙසේ විය හැකිද මහා බ්‍රහ්ම
නිමැවුවෙ ලෝකයක් තබන්නට එය දුක්ඛිතව,
ඉතින්, ඔහු සවී බලධාරී නම්, එය එසේම තබන්නෙ නම්
ඔහු නොහොඳය, ඉතින් ඔහු බලවත් නොවේනම්
නොවේය ඔහු මහා දෙවියන්? ජන්න! ගෙනයන්නැ මා යළි නිවහනට!
මේ ඇති! මගේ දැස මේ දුටුවා ඇති!"
මෙපුවත් ඇසූ රජු, රුඳවිය දොරටු වෙත
ත්‍රිවිධ මුරකාවල්, අණදුන්නෙ කිසිම මිනිසෙකුට නොයන්නට
දහවල හෝ රාත්‍රී පිටතට හෝ ඇතුළතට,
අර සිහිනයේ ප්‍රතිඵල ගෙවී යන තෙක් දිනෙක.






වැරහැලි ඇඳගත්, නැමී කුදු වූ සිරුරින් යුත් ඉතාමත්ම මහළු මිනිසෙක් කොතැනකින්දෝ
අවුත් සිදුහත් කුමරු ඉදිරියේ පෙනී සිටියේය. ඔහුගේ සම රැළි වැටී තිබිනි. "මේ තැනැත්තාට
සිදුවී ඇත්තේ කුමක්දැ"යි සිදුහත් කුමරුවෝ විමසූහ. "යහපත් කුමරුනි, ඔහු මහළු වූ




## හතරවන පොත

නමුත් දින ගෙවී යද්දී, එළැඹිණි.
අප මහසතුන්ගේ අභිනිෂ්ක්‍රමණය - සිදුවිය යුතුවිය එය-
එයින් උපන්නේ අඳෝනා ඒ රුවන් මැඳුරෙහි,
ව්‍යසනය විය රජුනට; ශෝකය විය දේශය පුරා,
නමුත් විමුක්තිය විය සැමසතට, තවද ඒ දහම
ඇසුවෙකු, ලැබුවේ සඳ නිදහස.
        භාරත රාත්‍රිය සෙමින් කිමිදුණි තැනිතලාවේ
චයිත්‍ර ශුද්‍ මාසයේ පුර සඳ දා,
අඹ එල රතුවෙමින් අශෝක කුසුමන්
සුවඳවත් කරද්දී පවන්, රාමගේ උපන් දින එළඹි,
ප්‍රීතිමත් විය ගම්බිම්ද පුරවරද.
රාත්‍රිය රහසින්සේ සෙමෙන් පැතුරුණේද විශ්‍රමවන් මත
සුවඳවත් වෙමින් පුෂ්පයෙන්, මිණි එබ්බුවා සේ ඝණව තාරකාවෙන්
සිසිල් විය කඳුකර පවන් සුසුම් සේ හමා එමින්
ඉහළට විහිදුණ හිමාල හිම පියසෙන්;
සඳ එල්ලුනේ පෙරදිග කඳුමුදුන් වලට ඉහළින්,
නගිමින් මිණි දිලෙන ගැබ, ආලෝකමත් කරමින් පැහැදිළිව
රෝහිණියේ දිය රැල් සහ කඳුවැටිද තලාද,
නිදාගත් බිම් පෙත්ද, නුදුරේම වූ
ආනන්ද මන්දිරයේ වහලතල රිදියෙන් තවරා
එතුළ කිසිවක් නොසෙල්විණි, නොවී ලකුණකුදු මුරයක
පිටත දෙරටු ළග පමණක්, මුරපල්ලන් හඬ නැගුවේ
"මුදා" මුර වදන, එයට පිළිතුර
"අංගන", මුර බෙර හඬ නැගුවේ මුර වටයට;
මිහිතලය නිසල විය, හඬ හැරෙන්නට
සරනා කැණහිලුන්ගේ, හා නිරන්තර තියුණු නද
උයන් බිම වැසී රුහියන්ගේ
        ඇතුළත
රේන්ද කැටයම් නෙලූ පාෂාණ මත සඳරැස් දිලිසෙද්දී,







ආලෝකමත් කරමින් මුතුකවඩි ඇල්ලු බිත්තිද
කිරිගරුඬ ඇල්ලු පොළොවද - සහන්ව ඇද හැලුවෙ ඇගේ රුස් කිරණ
අනගිවූ ඒ භාරතීය දැරියන් මත්තෙහි,
යම් කිසි සොඳුරු මැදිරියක් සේ විය පාරාදිසයේ
දෙවියන් සැතපෙනා. තෝරාගත්තවුන් සැමදෙන
සිද්ධාර්ථ කුමරුගේ ආනන්ද මන්දිරයට එතැන වුහ,
මඩුල්ලෙහි ප්‍රභාමත්ම වඩාත්ම හිතවත්වූවෝ
හැම කෙනෙකුගෙම වත සුන්දරවිය සැතපෙද්දී සාමයේ
ඔබ පැවසුයේ, "මෙයයි සියල්ලන්ගෙම මුතු කැටය !"
කී ඈ අවට හා ඉන් ඔබ්බෙහි වැතිරුණෝ
සුන්දර, සුසුන්දර වත්, තෘප්තිමත් බැල්ම
සැරිසැරුවෙ ශෝභාමත් මංගල්‍යයට ඉහළින්
සරන්නාසේ එය මැණිකකින් මැණිකකට මහා රන් කරුවෙකුගෙ නිමැවුමක,
රඳමින් හැම වරුණකම අනෙක් වරුණ දකිනා තෙක්.
නොසැලකිලිමත් සුලලිතයෙනි උන් වැතිරුණේ, උන්ගේ සුමුදු එළලු අත්පා
අඩක් සැඟවෙමින් අඩක් හෙළිවෙමින් උන්ගේ දිළිසෙන කෙස්රළ
බැඳී පිටුපසට රන්හුයෙන් හෝ මලින්, නැත්නම් හැලෙමින් නිදැල්ලේ
කලු රලින් පහතට හැඩවූ ගෙළ දිගේ.
ප්‍රමුදිත ක්‍රියාවන්ගෙන්, සොඳුරු සිහිනයනට නැලවුනේ ඔව්හු
නිදමින් වෙහෙසට පත්වෙමින් මිණි බර කුරුල්ලන් තරමට
දවස තිස්සේ ගීත ගයමින් ආදරය කරමින්, අනතුරුව පියාපත් යට
හිස නවා නිදන්නා සේ යලිත් අලුයම නැගිට ගයන්නට හා ආලයට.
කැටයම් කළ රිදී පහන් පියැස්සෙන් එල්ලුණී
රිදී දම්වැලෙන්, පෝෂණය වෙමින් සුවඳ තෙලින්,
නිමවෙමින් සඳ කිරණේ සියුම් ආලෝකයෙන් හා ජායාවෙන්
මෙනයින් පෙනුණෙ සොභාවේ පිරිපුන් රේඛා
ලැමක සන්සුන් සුසුම් ලැම, සායම් පෙවූ සුමුදු අත්තල
එල්ලා වැටෙමින් නැත්නම් මොලවමින්, වුවන් පැහැපත් හා අඳුරු,
වක්වූ ඇහිබැම, ඇරුණු දෙතොල, දසන්






පෙරලා, සිය මාලිගය වෙත පැමිණි සිදුහත් කුමරු ගැඹුරු කල්පනාවක නිමග්න වූයේය. තමාත්, තමාගේ භාර්යාව වන යශෝධරා කුමරියත් යම්කිසි දිනෙක මහළුවියට පත්වේයැයි බියෙන් ඔහු




මුතු සේ වෙළඳුන් තෝරනා අමුනන්න හුයකට
කෞශේය ඇසිපිය සහිත නෙතු, ඇස්පිහාටු පහත්වී
ඇමඳමින් සියුමැලි කම්මුල්, රවුම් වූ මැණික්කටු,
සුමුදු පොඩිදෙපා, මිණි කිංකිණියෙන් සරසා,
නංවමින් සිහින් සංගීත සෙලවෙද්දී ඇතැමෙක් නින්දෙන්,
බිඳිමින් ඇගේ සීනා සිහිනය යම්කිසි අලුත් නැටුමකින්
ලබමින් කුමරුන්ගෙ ප්‍රශංසා, සොයන්නට යම් මායා මුදුවක්,
යම් සුරගන ආල පඩුරක්. තව තැනෙක වැතුරුණි එකියක් දිගැදී,
ඇගේ වීණාව රැඳෙමින් කම්මුල, එහි තත් මත
ඇගේ කුඩා අතැගිලි තවමත් පැටලෙමින්
ඇගේ සරල ගීතයේ අවසන් ස්වර වයද්දී මෙන්
නින්දට පත් කළේ කාන්තිමත් දෑස සේම ඇගේ දෑසඳ
තව එකියක නිදගත්තේ තම දෑතේ රඳවා
කතරේ-සාරංගයෙක්, උගේ සිහින් හිස
පසුපසට හැරුණ අංසහිතව සඟවා ඇගේ පියයුරු අතර
මුදු ලෙස තුරුළුව; ඌ කම්න්ය සිටියේ - දෙදෙනම නිද වැටෙද්දී-
රතු සෙව්වන්දි, ඇගේ ලිහිල්වූ අත තවමත් අල්ලා සිටියේ
අඩක් විකු සෙව්වන්දියක්, ඒ අතර රෝස කොළයක් වක්වුනේ
මුව පොව්වාගේ දෙතොලතර. තව තැනෙක යෙහෙළියන් දෙදෙනෙක්
නින්දේ
එක්ව, හිණ දවටා මෝඝු පුෂ්ප, ඒවා බැන්දේ
ඔවුන්ගේ සොයුරි සුන්දරත්වය තාරකා දමයකින්,
සම්බන්ධ කරමින් ඔවුන් ගාතයෙන් ගාතයට, හදවතින් හදවතට
එකියක, නිදා සිටියා අමුනද්දි මිණි කැට පාෂාණ
මාලයකට- අගස්ති, නහමාණික්‍ය, රතුකැට,
පබළු සහ සඳ මිණි - ඇගේ මැණික් කටුව වටා දිලිසුණි
දරණුවක් අත්‍යලංකාර වර්ණයෙන්, අල්ලා සිටියදී ඈ
තවමත් හුයට නො ඇමිණු, අවසාන මිණි කැට
පච්ච පාෂාණයක්, කැටයම් කොට රන් දෙව්රුවෙන් හා ලේඛනයෙන්
නැලැවෙමින් උද්‍යානයේ දෙල පහරේ මුනුමුනුවෙන්
වැතිර සිටියේ මෙසේ උන් එකතුවූ බුමුතුරුණු මත, හැම එකියකම
දරි සෙව්වන්දියක් සේ පෙති හැකිලුණු, රැඳෙමින් අලුයම තෙක්







විකසිත වන්නට උද එලිය අලංකාර කරමින්
මෙය කුමරුන්ගේ පිට ශාලාව විය
නමුත් පුර්දවෙහි අද්දර නිදගත්තෝ සොඳුරුම අය
ගංගා සහ ගෝතමී- ප්‍රධාන සේවිකාවන් වූ ඔවුන්
ඒ නිසල ආදර මැඳුරේ.

පුර්දාව එල්ලිණී

ශෝණ රතෙන් හා නීලෙන්, රන්හුයෙන් කළ සිත්තමෙන්,
කැටයම් කළ සඳුන් ලී දෙරටුවක් හරහා,
මෙයින් අඩි තුනක් ඔබ්බෙහි විය පන්දලම
අභ්‍යන්තර අසිරියේ, මංගල යහනාව
විය එහි වේදිකාවක් මත රිදී සළුවෙන් සුමට වූ
ඒ මතය පාද රුඳුණේ හරියටම පා තබන්නාසේ
නීම් මල් ගොමුවක. සියලු බිත්ති නිමවුනේ මුතු තහඩුවෙන්.,
හැඩේට කපා ගෙනැවිත් ලංකා සයුරෙහි බෙලිකටුවෙන්;
කිරි ගරුඩ පියැස්සට ඉහළින් දිවුයේ
අනගි පද්ම හා පක්ෂි වැද්දුම්,
කැටයම් කොට දක්ෂ අත්කමින් නීල හා පච්ච පාෂාණයෙන්,
රත්මිණෙන් හා සූර්යකාන්ත තිරිවාණයෙන්; වියා උස්කොත වටා
හැම පසින්ම පහළට, හැම රාමුවකම
රුඳවුණේ සැරසිලි රේඛා සහිත ගරාදිය,
ඒවා අතරින් සුසුම්සේ ගැලුවේ, සඳ කිරණ සහ
සිසිල් පවන්,
ගෙන එමින් සුවඳ ගිණි මලෙහිද දෑ සමන් පොකුරුවලද;
නොපරදමින් සුලලිතයද සුකොමලත්වයද
මිහිරිසේ පැතිරුණු ඒ උතුම් ස්වභාවය
මන්දිරය ඇතුළත - අලංකාරවූ ශාක්‍ය කුමරුන්
සහ ඇය, විරාජමානවූ, ප්‍රභාමත් යශෝධරා.

අඩක් නැගී සිය සුමුදු තුරුල්ලෙන් ඔහු පසෙක,
උඩු සළුව රුදෙමින් ඇගේ හිණ වෙත, ඇගේ නලළ
රඳවා දෙඅත්ලෙහි, සොඳුරු කුමරිය නැමුණී
වේගයෙන් හෙලනා සුසුමෙන්ද, කඩිනමින් හැලෙනා කඳුලෙන්ද යුතුව






සිදුහත් කුමරු සාමාන්‍ය මිනිසුන්ගේ දිවිපෙවෙතහි ස්වභාවය විමසමින් ඔවුන්ගේ තතු දැක
බලා ගනිමින් නගරයේ තැනින් තැන සැරි සැරවේය.




තෙවරක් ඈ තම දෙතොලෙන් පහස දී සිද්ධාර්ථගේ අතට,
තෙවැනි හාදුවෙන් කෙඳුරුවෙ; "නැගිටින්න, මා හිමියනි!
දෙන්නැ මට ඔබ වදනේ පහස! " අනතුරුව ඔහු-
"කිමෙක්ද සිදුවුයේ ඔබට, මගේ පණ?" නමුත් තවමත්
ඈ කෙඳිරි ගැවේ යලි යළිත් වදන් පිටවෙන්නට කලින්;
අනතුරුව කීවේ: "අහෝ, මා කුමරුනි! මා නින්දට වැටුණේ
අපමණ ප්‍රීතියෙන්, මන්දයත් ඔබ වෙනුවෙන් මා උසුලන බිළිඳ
සෙලැවිණ මේ සැන්දෑවේ, මා හදවත සැලුණේ
ඒ ද්වන්ද රිද්මයයි ජීවිතයේ, සහ ප්‍රමෝදයේ සහ ආදරයේ
එහි ප්‍රීති සංගීතය මා නැලවී - නමුත් අහෝ!-
නින්දේදී දුටුවෙමි මම භීතියේ දසුන් තුනක්,
ඒ සිතුවිල්ලෙහි මා හදවත ගැහෙන්නේ තවමත්.
දුටුවෙමි මම ධවල ගවයෙකු අතුබෙදී යන අං සහිතව,
තණ පෙතේ රාජයෙකු, පියමං කරමින් මාවත් ඔස්සේ.
රඳවා නලළත දිලිසෙන මිණක්
කොහෙන්දෝ වැටුන තරුවක් සේ එතැන බබලන්නට,
ඒත් නැත්නම් කණ්ඨ මාණික්‍යයසේ මහා නාගයෙකු සුරකින
මවන්නට දීප්තිමත් දිවා ආලෝකය දෙරණ යට.
සෙමින් මාවත් ඔස්සේ ඇවිද ගියේ ඌ දෙරටු වෙතට
කිසිවෙකුටත් නවතන්නට නොහැකිවිය ඌ, කටහඬක් ඇසුණද
ඉන්ද්‍රාගේ දෙවොලෙන්, " නැවතුවේ නැත්නම් ඌ
පුරවරයේ ශ්‍රී විභූතිය යාය පෙරටම."
නමුත් කිසිවෙකුට නැවතිය නොහැකි විය ඌ. මෙතැනදී මම හැඬුවෙමි
හඬින්
සිර කරමින් උගේ ගෙළ මගේ දෑතෙන්, වෙරදරමින්,
හඬගා කියමින් උන්ට දෙරටුව වසන්නැයි; නමුත් ඒ ගව රජා
තප්පුලා, සැහැල්ලුව හෙලමින් උගේ වුඩාව
මගේ ග්‍රහණයෙන් මිදී, යදම් පොලු බිඳිමින්
මුර කරුවන් හෙලා පාගා පලා ගියේ ඈතට.
ඊලග අරුම සිහිනය මෙසේ විය; දිෂ්ඨි සතරක්
විරාජමානව, දිලිසෙන දෑසින් යුතුව, ඉතා අලංකාරව
හරියටම මිහිකත රකිනා අනුරාජයින්සේ







සුමේරු කන්දේ වෙසෙනා එළඹියේ විදුලිය සේ අහසින්
පිරිවර කොට අනුපමේය දේව සංඛ්‍යාවක්
හී වේගයෙන් පැමිණියේ අප නුවරට, එහිදී දුටුවෙමි මම
ඉන්ද්‍රගේ රන්වන් ධජය දෙරටු අබිමුව
සුළගේ සැලී වැටෙනා; අහෝ! ඒ වෙනුවට නැගිණි
ප්‍රතාපවත් ධජයක්, එහි හැම නැම්මක්ම
රැලි නැගුවේ අල්ලා තිබුණු රන් මිණි වල ගිණි එලියෙන්
ඝණව මැසු රිදි හුය මත, එයින් විහිදුණු ධාරා
පැතිරුවෙ අලුත් වදන් සහ ගැඹුරු වූ වැකි
ඒවායේ අඩංගු සංදේශයෙන් සියලු සත්හු සතුටු වූහ,
පෙරදිගින් හමා ආවේ අරුණලු සුලග
මුදු පවන් රලින්, විවර කරමින් ඒ මිණි එබ්බවූ ලියකම් ලියවිලි
ඉඩ දෙමින් සියලු සතුනට කියවන්නට; අපූර්වූ පුෂ්පයන්-
කෙබඳු පරිසරයකින් නෙලාගත්තාදෝයි මා නොදත්- ඇදහැලුණි
වරුසාවෙන්.
අපේ මල් ගොමුවල දැකිය නොහැකි වර්‍ණයෙන්."

අනතුරුව කුමරු පැවසීය; "මේ සියල්ල මා පද්මිය!
හොඳ දේය දකින්නට."

"එසේය, හිමියනි, " කුමරිය කීවාය,
"එකම වරද නම් ඒ අවසානයේ ඇසුණෙ හීතියේ කට හඬක්
හඬමින්, "කාලය මෙයයි, කාලය මෙයයි!"
මෙහිදී පැමිණියෙ තෙවැනි සිහිනය; මා සොයද්දී
ඔබේ පැත්ත, සොඳුරු කුමරුනි! ආහ්, අපේ සයනය මත වැතිරුණෙ
නොඑබුණු කොට්ටයකි හිස්වූ සලුවකි-
ඔබ නොවීය එපමණකි තිබුණේ ! - ඔබේ කිසිත් නොවී,
ඔබය මා ප්‍රාණය සහ ආලෝකය, මා අගරජු, මා ලෝකය!
තවමත් නින්දේ, මම නැගිට්ටෙමි, නින්දේම දුටුවෙමි
ඔබගේ මුතු හිණ පට, මගේ දෙතන යටින් බැඳි
වෙනස් වෙනවා දෂ්ඨ කරනා නාගයෙකුට; මගේ පා සලඹ
ගිළිහුණි, මගේ රන් වලලු බිඳී වැටුණි;
මගේ හිස ගැවසු දැසමන් මලින විය දුහුවිල්ලට
මේ අපේ මංගල යහනාව ගිලුණි පොළවට,






"කිමද ඡන්න - ඔහු මෙතරම් වේදනා විඳින්නෙ?" "උතුම් කුමරුනි, ඔහු රෝගීව ඇත, යම් හෙයකින්. පෙලෙන්නේය ඔහු එයින්ම."




යම් කිසිවෙක් ඉරා දැමුයේ ශෝණ පූර්දව පහතට:
ඈත ඈත මට ඇසුණෙ අර ධවල ගවයා තප්පුලන හඩ
ඈත ඈත සැලුණෙ ලියකම් කළ ධජය,
යළිත් ඇසුණෙ අර හඬ, "කාලය පැමිණියේය! "
නමුත් ඒ හඬ සමග - මගේ සිත තවමත් සලන ඒ හඬ සමග-
අවදිවුනෙමි මම! අහෝ කුමරුනි! ඒ දසුන් පවසන්නේ කිම
මා මැරෙනවා හැරෙන්නට- ඒත් නැත්නම් මරණයටත් වඩා බියකරු-
හැරයාද ඔබ මාව ඒත් නැත්නම් ගෙනයාද කීසිවෙකු මා වෙතින්?"

සොඳුරු

විය හිරුගෙ අවසන් සිනහව සේ බැල්ම
සිද්ධාර්ථගේ කඳුළු හෙලනා සිය බිරිය වෙත නැඹුරු වූ "සැනසෙන්න
සොඳුරිය! " කීය ඔහු, "සැනසීම තිබේනම්
නොවෙනස්වන ආදරයේ; ඔබේ සිහිනයන් වේ නම්
මතු සිදුවෙන දෙයක සේයා, දෙවියන් පවා
කැළඹුනි නම් උන්ගේ ආසන මත, ලොවම
නැගී සිටියද සම්පව, සමහරවිට, දනිමින් උපකාර කරන්නට යම්
අයුරකින්,
ඒ නමුදු, ඔබට ද මටද යම් ව්‍යසනයක් පැමිණියද
සහතිකවම දැනගන්න මා යශෝධරාවට ආදරය කළ බවත් ආදරය
කරනා බවත්.
ඔබ දන්නේය මා සඳ ගණනාවක් කල්පනාවේ ගැලුණු හැටි
මුදාලන්නට මා දුටු මේ ශෝකී දෙරණ:
කාලය එළඹී කල, සිදුවිය යුතුදේ සිදුවේය.
මා සිත වේදනාවෙන් වලිකයි නම් නොදන්නා උන් වෙනුවෙන්,
මා දුක්වෙයි නම් මට අයත් නොවූ දුකකට.
තීරණය කළ හැකි නොවෙද මගේ ඉහළ සරණ සිතුවිලි සරණ හැටි
මේ මා දිවිය හවුල් කරගනිමින් සොඳුරු කරනා ජීවිත මත්තෙහි-
ඉතින් සොඳුර! ඔබය දයාබරම, සෞම්‍යම, හොඳම,
සම්පම. ආහ්, ඔබය මා බිළිඳුන්ගෙ මව!
ඔබේ සිරුරය බැඳුණෙ මා හා මෙම උතුම් පැතුමට,
මා සිත වඩාත්ම සරද්දී, නිදැල්ලේ
දේශයන් හා සයුරු වටා- මිනිසුන් කෙරේ අනුකම්පාවෙන්







ඇත පියඹන පරෙවියා තුළ ඇත්තාසේ අනුකම්පාව
ඇයගේ නිවුන් පැටවුන්ට- එසේය මා පැමිණියෙ
නිවෙසට ප්‍රීති පියපතින්, අනුරාගයේ පියපතින් ඔබ වෙත,
ඔබය සොඳුරුම මා දුටු හොඳම දසුන් අතරේ
ඔබය යහපත්ම, සුකොමලම
ඒ හැම කෝමලත්වය අතරේ, ඒ හැමටම වඩා මගේමය ඔබ.
ඒ නිසා, කුමක් සිදුවුවත් මනත,
සිතන්නැ ඒ තජ්පුලෑ ගව රජු,
ඒ මිණි එබ්බවූ ධජය ඔබ සිහිනයේ වැනුනු.
රැලි දුරස් කරමින්, තහවුරුව දැන ගන්න
මා ඔබට හැම කල්හි ආදරය කළේය, ආදරය කරන්නේය මනාව.
නමුත් ඔබ, සැනසිය යුතුය; ශෝකය පැමිණියා නම්
සැනසෙන්න සිතමින්
අපගේ ව්‍යසනයෙන් දෙරණට සාමයක් එළඹෙයි කියා;
මේ ආලිංගනයෙන් ලබන්නාවූ අවංක ආදරයට
පුදන්නට හැකි තුති, හෝ නිමාවේ ආසිරි-
සුළුවේය එය, දකිමින් ආදරයේ ප්‍රබල සිත දුබල බව-
නමුත් සිපගන්න මා දෙතොල, පානය කරන්නැ මෙවදන්
හදවතෙන් හදවතට එතැනින්, දැනගනිමින් ඔබ-
වෙන කිසිවෙකුත් නොදන්නා දේ- මම වඩාත්ම ආදරය කළේ ඔබට
බව
මන්ද යත් මම ආදරය කළෙමි සියලු ජීවත්වෙන සතුන්හට.
දැන් කුමරිය! සැතපෙන්න, මම අවදිව රැක බලා සිටින්නෙමි."

අනතුරුව ඇ කඳුලෙන්ම සැතපුණාය, නමුත් නින්දේම හෙලුවාය
සුසුම්-
අර දසුන යළිත් දුටුවා සේ- "මේ කාලයයි! කාලය ඇවිදින්ය!" මෙහිදී
සිද්ධාර්ථ හැරුණේය පසෙකට.
ඔන්න! සඳ බැබලිණි කටක රාශියේ! තාරකා
එම පරිදිම රජත පිළිවෙළින්ම පෙර නිමිති කී පරිදිම
නැගී සිටියේ පවසන්න. " මෙයයි රාත්‍රිය!- තෝරාගන්නැ ඔබ
උතුම් වූ මාර්ගය නැතිනම් හොඳෙහි මග:






කුමරු අනතුරුව තෙපලේය. "මෙයද අවසානය ජීවත්වන හැමට?" "එහෙමයි අවසානය හැමට පැමිණෙන" ඡන්න දුණි පිළිතුරු.




වැජඹෙන්න රජුන්ගේ රජුසේ, නැතිනම් සැරිසරන්න තනිව
කිරුළු රහිතව නිවසක් නැතිව, ලොවටම උපකාර කරන්නට."
තවද අඩ අඳුරේ ඇසුණ කන් කෙදිරිය තුළ
ඔහුගේ සවනට පැමිණියේ අර ඔවා දුන් ගීතයයි,
දෙවියන් සුළඟේ කථා කළ වතාවේ සේ:
සැබවින්ම දෙවියන් රැඳිණී මේ අවට
රැක ගනිමින් අප මහසතුන්, ඔහු බලද්දී දිලිසෙන තාරකා දෙස.
"මම සමුගන්නෙමි" ඔහු පැවසීය. "හෝරාව පැමිණ ඇත!
ඔබගේ සුමුදු දෙතොල, මා නිදන සොඳුර, කැඳවයි මා
මේ ලොව ගැලවුමට නමුත් අපව වෙන් කරනට;
අර පෙනෙනා ආකාසයේ නිසලතාවය මැද මම දකිමි
මා දෛවයේ සන්දේශය බැබලෙමින්. මේ සඳහාය
පැමිණියේ මා, මේ සඳහාය සැම දිවා රැය
මාව කැඳවා ගියේ; නොලබන්නෙමි ඒ කිරුළ
මට අයත් විය යුතු; පසෙකට කළෙමි එම රාජ්‍යයන්
මගේ කොපුහළ අසිපත දිළෙනු දක්නට බලා සිටිනා;
මගේ රිය නොඇදෙනු ඇති රුධිරයෙන් තෙත්වූ සක යුතුව
ජයග්‍රහණයෙන් ජයග්‍රහණයට, මිහිකත
පළඳිනා තුරු මගේ නාමයේ රක්තවාතී,
තෝරා ගනිමි මම පියමං කරන්නට ඒ මග සන්සුන්ව, අම්ල දෙපයින්.
හරවමින් එහි දුලි මගේ සයනයන්යට, එහි පාළුමවූ නිසරු පෙත
වේය මා නිවහන, එහි පහත්ම දේ වේය මා සගයන්:
අඳිමින් ඇඳුම් වසලයන් හට තරම් වටනා
නොබුදුමින් කිසිදු අහරක් පින්වතුන්
කැමැත්තෙන් දෙන දෙයක් හැර, හෙවනක් ලෙසින් නොලැබ ගර්විත
පියැසි
අඳුරු ගල්ලෙන් හෝ වන වදුළු හැරෙන්නට.
මෙසේ කරන්නේ මා අසමින් අඳෝනා
ජීවිතයේ
සියලු සතුන් නගනා
මා සවණත, මා හදවත පිරී ඇත
මෙලොව ව්‍යාධිය වෙත අනුකම්පාව:







සුවපත් කරන්නෙම් එය මම, සොයා ගත හැකිනම් ඔසුව
අභිනිෂ්ක්‍රමණයෙන් සහ දැඩි වෑයමෙන්.
කවර නම් මහා හෝ සුළු දෙවියෙකු වෙත
ඇද්ද ශක්තිය හෝ අනුකම්පාව ? කවුරුන් දැක ඇති ද ඔවුන් -
කවුරුන් ?
කුමක් නම් සැදුවාද උන් උදව් කරනට බැතිමතුන් හට?
කෙසේ නම් සැදුනද මිනිසුන් යදින්නට හා පුදන්නට
පඩුරු ලෙස හෝගද තෙල්ද, මතුරන්න මන්තර
වනසන්න හඩනා බිලියාග, ගොඩනගන්නට
මහගු දේවාල, පෝෂණය කරන්නට පූජකයන්, කන්නලව් කරන්නට
විෂ්ණුට, ශිවට, සුයඝියාට, ඔව්හු බේරා ගනිතිද
කිසිවෙකුත් - ඉතාම සුදුස්සෙකු පවා - නෙක දුකින් උගන්වන්නාවූ
එම යාඥා ඉච්ඡාවෙහි හා භීතියේ
නැගෙමින් වැඩෙමින් දිනෙන් දිනම, අපතේ යන දුම් කැරලි සේ?
මගේ එකදු සොහොයුරෙක්වත් මෙනයින් ගැලවුනාද
ජීවිතයේ වේදනා වලින්, ආදරයේ සහ නැතිවීමේ වේදනාවෙන්
ගිණිගන්නා උණයෙන් සහ වෙව්ලන උණෙන්,
සෙමින් මලානව වියැකි මහලු වියට ගිලීමෙන්.
බියකරුවූ අඳුරුවූ මරණයෙන්- එයින් ඔබ්බේ කිමෙක්ද
ඇත්තේ- අර කැරකෙනා චක්‍රය යළිත් මතුවෙන නෙක්,
යළිත් නව දිවියක් ගෙනෙමින් අලුත් ශෝක වේදනා
අලුත් පරපුරක් වෙයි අලුත් ආශාවන්ට
ඒවාත් අවසන් වන්නේ ද අර පරණ පුරුදු සමච්චලයේ?
මගේ එකදු සියුමැලි සොහොයුරියක්වත් සොයාගත්තිද
උපවාසයේ ඵල හෝ ගර්තිකාවේ අස්වැන්න
එක බිඳක් හෝ අඩුකරගත්තිද ප්‍රසවයේ වේදනාව
සුදු මී කිරි පිදීමෙන් හෝ තුල්සි පත්‍ර කප්පාදු කිරීමෙන් ?
නැත; ඇතැම් දෙව්වරු හොඳ විය හැකිය
ඇතැමුන් විය හැකි නපුරු, නමුත් ඒ හැම දුබලය ක්‍රියාවෙන්:
දෙගොල්ලම වේය ශෝකී හා දයාරහිත, දෙගොල්ලම-
මිනිසුන් සේම- බැඳී ඇති මේ වෙනස් වීමේ චක්‍රයට,
දනිමින් පෙර හා පසු ජීවිත






තවුස් වෙස් දැක සිදුහත් කුමරුවෝ පැහැදෙති. තවුසාණන්ගේ තැන්පත් බව, ශාස්තභාවය, දැමුණුගතිය ඔහු සිත් ගති. "හේ කවුදැ"යි සිදුහත් කුමරු ඡන්නයන්ගෙන් විමසුවේය. "හේ තවුසෙකි. ඔහු ගිහිගෙය අත්හළ අයෙකි. ඔහු සත්‍ය ගවේෂණයේ යෙදෙන්නේය."




අපගේ දේවධර්මයන් සැබවින්ම උගන්වන සේ පෙනෙන්නේ.
වරක්, කොතැනක හෝ කොයි ආකාරයෙන් හෝ ඇරඹුන-
ජීවිත දුවන බවය ජීවන චක්‍රයන්හි, නගිමින්
පරමාණුවෙන් හෝ පරපුටුවාගෙන්, පණුවාගෙන්, උරගයාගෙන්, මත්ස්‍යයාගෙන්
පක්ෂියාගෙන්, කේස ඝණ සත්වයාගෙන්, මිනිසාට, යකුන්ට, දෙවියන්ට, බමුණන්ට.
යළිත් පිඩැලි හා පරමාණුවලට; මෙසේ අපි නෑදෑ වෙමු
සියල්ලට; මෙනයින්, කෙනෙකු බේරාගනී නම්
මිනිසාව තම සාපයෙන්, මුළු මහත් ලෝකයම බෙදගත යුතුය
මෙම අවිද්‍යාවේ භීෂණයේ එලිවීම
එහි සේයාව නම් කිළිපොලන භීතියයි, කෲරකම
එහි කටුක විනෝදයයි. ඔව්, එකම අයෙකුට හැකිනම් මුදවන්න!
තිබිය යුතුමය එයට විදියක්! තිබිය යුතුමය සරණක්! මිනිස්සු
මියෙති ශීතයේ සුලගේ එක් ගිණි පුපුරක්
ගල් පතුරක සැගවී යම් තැනෙක
ඒ රත් පුපුර සම්පතක් වෙනතුරු දල්වනා හිරුගෙන්.
ඔව්හු මාංස ගිල දැමුහ වෘකයන් සේ, එකෙක් සීසෑතෙක් ධාන්‍ය,
වැඩුනේ ඒවා වල්තණ සේ, නමුත් ජීවත් කරයි මිනිසාව;
ඔව්හු බෝග නෙළමින් දෙඩවූහ එකෙකුගේ දිව සොයාගන්නා තෙක් කථා කිරීම,
ශාන්ත වූ ඇතැගිලි සුරුවම් කළේ අක්ෂර වූ ශබ්ද.
කෙතරම් අගනා ත්‍යාගයක්ද ඇත්තේ මා සොයුරෙනි, නමුත් ඒ
පැමිණියේ සෙවීමෙන්ද, වීරියෙන් හා කරුණාබර පරිත්‍යාගයෙන්?
එසේ නම් එකෙක් වෙයිනම් මහත්ව වාසනා,
ධනවත්ව, දයාද ලදුව සෞඛ්‍යයෙන් හා නිස්කලංකයෙන්, උපතින්ම යෙදවී
පාලනයට- ඔහු පාලනය කරයි නම්- රජුන්ගේත් රජකුව;
එකෙක් වෙහෙසට පත් නොවී දිවියේ දිගු දිනෙන්, නමුත් සතුටුවී නම්
එහි උදවේ නැවුම් බවින්, එකෙක් තෘප්තිමත් නොවී නම් ආදරයේ
ප්‍රණීත මංගල්‍ය භෝජනයෙන්, වෙයිනම් තවමත් කුසගිනි;
කෙනෙකුන් නොවේ නම් වියැකී හැකිලී, දුක්බරව නැණවත්,







නමුත් වෙයි නම් ප්‍රමෝදයෙන් කීර්තියේ හා කරුණාවේ
මුසුවෙනා මෙහි නපුර හා, ඇත්නම් නිදහස තෝරාගන්නට
මිහිකත සොඳුරුම දේ සිතුසේ, මා මෙන්වූ එකෙකු පවා ශෝකයෙන් වෙන්වූ
වේදනා නොවිඳිනා, කිසිවකින් අඩුවක් නැති, දුක්වන්නේද නැති,
මට අයත් නැති, නමුත් මම වෙමි මිනිසෙකු:-
එවැන්නෙකු, දෙන්නට බොහෝ දේ ඇතිව.
සියල්ල දෙයිනම් සියලු සත්නට දයා කරුණාවෙන්
අනතුරුව ගෙවයි නම් තම කාලය සොයමින් සත්‍යය.
වෑයමෙන් හෙළි කරමින් විමුක්තියේ රහස පෙරටම
එය නිරයේ අප්‍රකටව රැඳුණද, දෙව්ලොව සැඟවුනද,
ඡත් නැත්නම් සැරිසරුවද, හෙළිනොවී, නොපෙනී කිසිවෙකුට;
සැබවින්ම අන්තිමේදී ඇත, යම්දිනෙක, යම් තැනෙක
ඒ දැල එසවේය ඔහුගේ ගැඹුරුව සොයනා දෑසට
ජයගත යුතුය එය ඔහු නැතිවුයේ ලෝකය ඒ වෙනුවෙන් ඔහුට,
මරණය දැනගනු ඇත ඔහු ජයගත් බව මරණය.
මම කරන්නෙමි, රාජ්‍යයක් ඇත මට නැතිවන්නට,
මන්දයත් මම ආදරය කරන්නෙමි මා රාජ්‍යයට, මා හදවත
ගැහෙයි හැම ගැස්මක්ම සමග සියලු අන් හදවත් වේදනාකර,
දන්නා සහ නොදන්නා මගේ සහ
මට අයත්වන්නාවූ තවත් දහස් කෝටියක් පිරිස
විමුක්තිය ලබනු ඇත මා දැන් මේ කරනා පරිත්‍යාගයෙන්.
අහෝ! මා කැඳවන තාරකාවෙනි! මම එන්නෙමි! අහෝ වැලපෙන දෙරණ,
ඔබ වෙනුවෙන් සහ ඔබගේ සියලු සත වෙනුවෙන් මම පසෙක ලමි මා තාරුණ්‍යය,
මා කිරුළ, මා ප්‍රමෝදයන්, මාගේ රුවන් දවස්, මගේ රාත්‍රී
මගේ ප්‍රීති මාලිගය- ඔබගේ දෑත්, මා සොඳුරුවූ රාජනිය!
අපහසුම ඔබය හැරද යන්නට !
නමුත් ඔබද, මම මුදාගන්නෙමි, මෙලොව මුදගන්නා අතරම,
තවද ඔබගේ සියුමැලි ගැබ සෙලවෙනා වැඩෙනා
මා දරුවා, සැඟවුන පුෂ්පය අපගේ ආදරයේ,






නලගනෝ සිදුහත් කුමරු තුටුපහටු කරුනු පිණිස රැගුම් පෑහ. කුමරු ඔවුන්ගේ නැටුම්, බලමින් ගැයුම් අසමින් ආස්වාදය ලද්දේය. නලගනන්ගෙ එකම අභිප්‍රාය වූයේ කුමරුවා සතුටු කිරීමයි.




බලා සිටියොත් මා ආශිර්වාදකරන්නට, මා මනස ඌන වෙනු ඇත.
බිරිඳ! දරුවා! පියා! සහ මිනිසුන්! ඔබ හවුල් කරගත යුතුය
මදකට මේ හෝරාවේ පරිතාපය
අරුණළු බිඳී සියලු සත උගනී ධර්මය.
මම දැන් අචල වෙමි, මම දැන් වෙන්ව යමි,
නැවත නොඑන්නට මා සොයනා දේ
සොයාගන්නා තුරු- උනන්දුවූ සෙවිල්ල හා වෑයම උපකාරී වෙයි නම්."

ඉතින්, ඔහු තම නළල රැඳවිය ඇගේ පාදයේ, නැමී
දයාබර දෑසේ සමුගැන්ම, නිහඬවම,
ඇගේ සැතපෙන මුව මඩල මත්තේ, තවමත් කඳුලෙන් තෙත්වූ;
තුන් යළක් සයනය වටා බැතියෙන්,

එය පුදසුනක් සේ සලකා, මෘදු ලෙස පාතැබුවෙ
මිටිකරගත් දෑත රඳවා තම සැලෙනා හදවත මත
"කිසිදිනෙක යළි" ඔහු කීය " නොසැතපෙමි මෙහි මම!"
තෙවරක් ඔහු තැත්කළේ යන්නට, තෙවරක්ම යලි පැමිණියේ,
ඉතා බලගතු විය ඇගේ සුන්දරත්වය, ඉතා විසල් විය ඔහුගේ ආදරය:
අනතුරුව අදිමින් තම සළුව හිස වසා, ඔහු හැරුණෙ
ඔසවන්නට පුර්දවෙහි කෙළවර:
        එහි මැලවුනේ, නිහඬව,
දැඩි වූ නිද්‍රාවෙහි පද්මයන් සේ,
ඔහුගේ භාරත දැරියන් මැවු සොඳුරු උදනයයි;
ඒ නිවුන් කලු පෙත්තෙන් යුතු නෙලුම් පොහොට්ටු-
ගංගා සහ ගෝතමී- දෙපසෙහි වුහ,
එයින් ඔබ්බෙහි වුහ සේද පතින් සැදි අනික්වුන් සහෝදරියත්වයෙන්,
"මා මිහිරි හිතවතියනි, ඔබ මට ප්‍රසන්න වෙති"යි ඔහු කීය,
"අපහසුය හැරයන්න; නමුත් හැර නොගියහොත් ඔබ සැම මා කුමක්
නම් වේද අප සැමට වියපත් වෙනවා හැරෙන්නට නැතිව සහනය
නිසැකවම පැමිණේද මරණය?
බලව! නිදගත් සේ ම ඔබ සැතපිය යුතුය
මියගිය කල්හි; සෙව්වන්දිය මිය ගිය කල්හි යන්නෙ







කොතැනද එහි සුගන්ධය හා කාන්තිය? පහන තෙල් සිඳුන විට
කොතැනකද යන්නෙ එහි සිළුව? දැඩිවන්න, රාත්‍රිය!
ඔවුන්ගේ පහත් වූ ඇසිපිය මත, පියවන්න ඔවුන්ගේ දෙතොල්,
කඳුලකුදු නොනැවතිය යුතුය මා නොවිය යුතුය හිතවත් කට හඬක්.
මා දිවිය ඔවුන් දීප්තිමත් කරනා තරමටම
කටුක වෙමු ඔවුන්ද මමද,
සියලු දෙනා ජීවත්වෙනු ඇත වෘක්ෂයන්සේ- කාලයක් වසන්තයෙ,
අතරම් මෙතරම් වර්ෂාව සහ තුෂාරය, අතරම් ශීත කාලයන්,
අනතුරුව වියලී මැරුණු කොල, ඇතැම්විට යළිත් වසන්තය,
නැත්නම් මුලකට පොරෝ පහර. එසේ නොවන්නෙමි මම,
මෙහි දෙවියෙකු ලෙසින් ජීවත්වූ- එසේ වන්නට ඉඩ නොතබමි මම,
මගේ හැම දිනයක්ම දේවමය වුවද, මිනිසුන් අඳෝනා දුන්නේ
ඔවුන්ගේ අඳුර යට. එහෙයින්, සමුගන්නෙමි, හිතවතියනි!
ජීවිතය පිරිනමන්නට සුදුසුකල, මම පිරිනමමි. යන්නෙමි
සොයන්නට විමුක්තිය සහ ඒ නොදන්නා ආලෝකය!"

අනතුරුව සැහැල්ලුව පියමං කරමින් ඒ නිදන්නවුන් සිටිතැන,
රාත්‍රියට ඇවිද ගියේ සිද්ධාර්ථ; එහි දෙනෙත්,
රැක සිටින තාරකා, බැලුවෙ ආදරයෙන් ඔහු දෙස; එහි සුසුම,
සරනා පවන, සිප ගත්තෙ ඔහුගේ සලුපටෙහි සැලෙන
කෙළවර;
උයනේ කුසුම්, අරුණ තුරු නිදා සිටි.
විවර කළේ සිය විල්ලුද හදවත් එවන්න ඔහුවෙත සුවඳ
රෝස සහ දම් ධූම පාත්‍රයෙන්; දේශය ඉහළින්,
හිමාලයේ සිට ඉන්දීය සයුර දක්වා,
පැතිර ගියේ දෙදරුමක්, හරියටම මිහිකතගේ ආත්මය
සෙලැවුනා සේ නොදන්නා බලාපොරොත්තුවකින්; ශුද්ධවූ පුස්තක
කියන්නාවූ අප මහසතුන්ගේ කථාව- එද කියන්නේය,
හරබර දිව්‍යමය සංගීතය පිනවූ බව වා ගැබ
පෙළින් පෙළ රාශි භූතවූ ප්‍රභාමත්වුනේ, රොක් වුනේ
පෙරදිගද අපරදිගද, බබලවමින් රාත්‍රිය-
උතුරු දිගද දකුණු දිගද, ප්‍රීති කරමින් භූමිය.






එක් මැදියම් රැයක කුමරු අවදිව අවට බැලුවේය. නලගනන්ගෙ විප්‍රකාර දැක ඔහු අතිශයින් කලකිරුණෝය.




තවද අර අනුරජුන් පොළොවෙහි,
පහළට බටුයෙ ද්වාරයෙහි, දෙදෙනා බැගින්
අදෘශ්‍යමානවූ ප්‍රභාමත් සහ පිරිවර ගෙන
නිල්මිණි, රිදී, රන් සහ මුතු සන්නද්ධව-
අත් අල්ලා බලාසිටියේ භාරත කුමරු, නැගී සිටි,
තම කඳුළු පිරි දෑස තරු වෙතට හරවා, දෙතොල
තදින් පියවා අභිප්‍රායෙන් අතිමහත් ආදරයේ

අනතුරුව ඔහු ඇවිද ගියෙ පෙරටම, අඳුරට හඬගාමින්,
"ජන්න අවදිවන්න! ගෙන එන්න කන්ථකව!"
"මන්ද මා ස්වාමිනි!" රිය කරු පිළිතුරු දුන්නෙ-
සෙමින් නැගිටිමින් දෙරටුව ලග තම ස්ථානයෙන්-
"යන්නෙ මේ රාත්‍රියෙ සියලු මං අඳුරුව තිබෙද්දී?"

"රහසේ දෙඩන්න, " සිද්ධාර්ථ කීය, " ගෙන එන්න මගේ අසු,
හෝරාව පැමිණ ඇත. මා නික්ම යා යුතුය.
මේ රුවන් සිරමැදිරියෙන් මගේ කුඩුවක ජිවත්වෙනා
සොයන්නට සත්‍යය; එයයි මා සොයන්නේ මින් මනත,
හැම සතුන්ගේ යහපත උදෙසා, සත්‍යය සොයාගන්නාතෙක්."

"අහෝ! දයාබර කුමර, " පිළිතුරු දුන්නෙ රියකරු,
"එසේ නම් දෙඩුව උන් මුසා නොව ඒ නැණවත් හා ශුද්ධවූ මිනිසුන්

තාරකා දෙස බලමින්; කියමින් අපට ඉන්නැයි කාලය එන තෙක්
ශුද්ධෝදන මහ රජුන්ගේ මහා පුත් පාලනය කරනා
රාජ්‍යයන් පිට රාජ්‍යයන්, වෙමින් රජුන්ගේ රජු?
එසේ නම් ඔබ ඉඩදෙන්නේද සම්පතින් පිරි ලෝකයට ගිලිහී යන්නට
ඔබේ ග්‍රහණයෙන්, අල්ලා සිටින්නට යාචකයෙකුගේ පාත්‍රය?
යන්නේද ඔබ අමිතුරු නිජනයට
තිබෙද්දී ප්‍රමෝදයේ පාරාදිසයක් මෙහි ?"







පිළිතුරු දුන්නේ ය කුමරු: "මා පැමිණියේ මේ සඳහාය,
සිහසුන් සඳහා නොවේ: මා ආශා කරන රාජ්‍යය
බොහෝ රාජ්‍යයන්ට වඩා අගනේය, සියලු දෙය ගෙවීයමින්
වෙනස් වෙයි පත්වෙයි මරණයට. ගෙන එන්න මා හට කන්ථක!"

"අති උත්තමයාණෙනි," යළිත් කීය රියකරු,
"මා ස්වාමිනි සිතන්නැ ඔබ පියරජුන්ගේ ශෝකය ගැන!
සිතන්නැ වේදනාව ඔවුන්ගේ සතුට ඔබවු-
ඔබ කෙසේ උපකාර කරන්නේද ඔවුන්ට, පළමුව මෙසේ විනාශකරමින්
ඔවුන් ?"
සිද්ධාර්ථ පිළිතුරු දුනී: "මිතුර මුසාවකි ඒ ආදරය
එසේ ආදරයේ බැඳී සිටින්නේ ආත්මාර්ථකාමී වූ සොඳුරු ආදරයකිනි;
නමුත් මා, මගේම සතුටට වඩා ඔවුන්ට ආදරයෙන්
ඔව් ඔවුන්ගේ සතුටටත් වඩා- වෙන්ව යන්නෙ මුදවන්නට
ඔවුන්ව, සහ සියලු සත්වයින්, අත්‍යන්ත ආදරයක් ඇත්නම්.
යන්න ගෙන එන්න මට කන්ථක!"
මෙවිට ජන්න පැවසීය,
"ස්වාමිනී, මම යන්නෙමි!" අනතුරුව, ලතැවිල්ලෙන්,
ගියේ ඔහු අස් මඩුවට, ගරාදි රාමුවෙන්
පහනට ගත්තේ රිදී කටකලියාව හා වරපට,
ලැම ලණුපට හා දම්වැල, කඩිනමින් බැන්දේ සම්පට,
සම්බන්ධ කළේ කොකුපුඩු, ගෙන ආවෙ පිටතට කන්ථකව:
බැඳ ඌව මුදුවට, ඔහු පිරා සැරසුයේ අසු
අතගාමින් හිම සුදු සම, සේද සුමුදුවකට.
අනතුරුව සෙන්ධවයා මත රැඳවූයේ නම්දා චතුරශ්‍රය
සුරුවම් කොට සැදල- රෙද්ද හරහට, තබා
සැදලය නිසිලෙස, තද කළේ මිණි බැඳිපටි
පියවා ගැස්පරය තට්ටම් පට මත හා තලිකාව,
වැටෙන්නට හැරියේ දෙපසට රන්කම් කළ වරපට.
අනතුරුව මේ සියල්ල මත්තෙන් ඔහු හෙලුවේය රන් දැලක්.
මුතු-බීජයෙන් කළ සැරසිලි පොහොට්ටු හා රිදී හුය සහිතව.
ගෙන ගියේ මහා අසු මාලිග දෙරටුවට






මා පුතණුවන් ඔබ අපගේ ආදරයේ පුෂ්පයයි. ඔබට ආසිරි පතන්නට මා නතර වුවහොත් මිනිස් වග පිරිහේ. ආදරණීය භාර්යාවනි ආදර ඇති පුතුනි, මගෙ ජනතාවනි, මද කලක් මේ




කුමරු බලා සිටි තැනට; නමුත් දුටු කල්හි තම ස්වාමීන්,
පිබිදුනෙ ඔහු සතුටින්, හේෂාරවය කළේ ඌ ප්‍රමෝදයෙන්,
විහිදුවමින් සිය රත් නාස් පුඩු: පුස්තක වල මෙසේ
ලියැවෙයි, "සැබවින්ම හැම දෙනාට ඇසිණි කන්ථකගේ හේෂාරවය,
ඔහුගේ යදම් ලාඩම් බලවත්ව ගැටුණ හඬ,
නමුත් දෙවියන් ආධාර කළේ ඔවුන්ගේ අදිසි පියපත්
වලින් වසමින් හැමගේ දෙසවන් තබමින් නිද්‍රකයන් බිහිරිව, "

සුරතලයෙන් සිද්ධාර්ථ නැමුයේ ප්‍රෞඩ වූ හිස පහළට
අතගෑයෙ දිලිසෙන ගෙළ කියමින්, "නිහඬවන්න,
සුදු කන්ථක! නිහඬවන්න, උසුලන්න මා දැන්
ගෙනයන්න මෙතෙක් නොගිය දුරු ගමනක;
මන්ද යත් මේ රාත්‍රියෙ මම ගෙනයම් අසු සොයන්නට සත්‍යය,
මගේ ගවේෂණය කොතැනක කෙළවර වේදැයි නොදනිමි තවම මම,
දනිමි එය නොනවතින බව පමනක් මා සොයා ගන්නා තෙක් සත්‍යය
එහෙයින් අද රාත්‍රි, උතුම් සෙන්ධවය, වෙන්න තදබල වෙන්න නිර්භීය!
ඉඩ නොදෙන්න කිසිවකට නවතන්න ඔබව, දහසක් අසිපත්
ඇවුරුවද මග! පවුරකට හෝ දිය අගලකට ඉඩනොදෙන්න
අප චාරිකාව නවතන්න! බලන්න! මා නුඹේ ඇළපත අල්ලා
කැගැසුවොත්, "යන්න කන්ථක පෙරටම! " කියා, ඉඩහරින්න
සුළි සුළගට ඔබේ පසුපස ගාටන්නට! වෙන්නැ ගිණිකඳ හා වායුව, මා
අසුනි!
ඔබේ ස්වාමියා අචල කරන්නට, ඔබත් ඔහු සමග හවුල් කරගන්නේය.
මේ කාර්යයෙහි උත්කෘෂ්ට බව උදව් කරනා ලෝකයාටම;
මෙහෙයිනි යන්නෙ මා, මිනිසුන් වෙනුවෙන්ම පමණක් නොව
නමුත් හැම සතුන්ටම, ගොළුව, අපගේ වේදනා හවුල් කරගන්නා
අපේක්ෂා රහිතව, නැතිව සාමාර්ථ්‍යය ඉල්ලන්නට පැතුම්.
දැන්, මේ හෙයින්, උසුලා යන්න ඔබේ ස්වාමියා පරාක්‍රමයෙන්!"

නගිමින් සැහැල්ලුව සෑදලයට, ඔහු
ඇල්ලුවේ වක්වූ මෞලිය, කන්ථක පැන්නේය ඉදිරියට
සන්නද්ධ කුරවලින් දිලිසෙමින් ඒවා ගල්මත, හඬවමින්







කටකලියාව, නමුත් කිසිවෙකුට නැසුණේ ඒ හඬ,
මන්දයත්, අවට රැස්වූ ශුද්ධ දෙවිවරු
නෙලා රත් මෝර මල්, වැතුරුවේ ඒවා ඝණව
ඔහුගේ පා මග, අදිසිවූ දැත්
නිහඬ කරවද්දි කටකලියාවේ හා වරපටෙහි හඬ.
තවද, ලියා ඇත්තේය, ඔවුන් පැමිණි කල්හි
පදික වේදිකාව මත්තට ඇතුල් ද්වාරය අසල,
යක්‍ෂයින් වා ගැබේ එලුවාලූ අරුම සලු
සෙන්ඩචයාගේ පාද යට, මේ අයුරෙන් යන්නට ඌ හට
නිහඬව සැහැල්ලුව.
නමුත් ඔවුන් ළංවූ කල්හි දෙරටුවට
තුන් ලෝහයෙන් නිමැවූ- සියයක් මිනිසුන්
අවශ්‍ය වූ එය අගුල හැර විවර කරන්නට- අහා! එම දෙරටුව
තල්ලුවී ගියේ පසෙකට නිහඬවම, කෙනෙකුහට ඇසුනේ
දිවා කාලයේ නම් ඒ ගිගුරුම් හඬ කොස දෙකක් දුර
ඇරෙන හඬ ඒ රුදුරු සරණෝරු හා හසුරුවන්ට අසීරු තහඩු.

තවද මධ්‍යම හා පිටත ද්වාරද
විවර කළේ සිය අයෝමය දොරටු මෙසේ
නිහඬවම සිද්ධාර්ථ සහ ඔහුගේ අසු
ළංවත්ම; ඔවුන්ගේ සේයාවෙහි සැතපෙද්දී
නිසලව මළවුන් සේ, ඒ සියලු තෝරාගත් මුර සෙබලුන්-
බිම හෙලා හෙල්ලද අසිපත්ද; පළිහ මුදවා
සේනා නායකයින්ද, සෙබලුන්ද- පැමිණියෙන් සුලගක්
මත් කරමින් උන්ව හමාවිත් මල්ලවයේ නිදාපෙත් වලට ඉහළින්
හමනා සුලගටත් වඩා මතින්.
කුමරුගේ මගට පෙර, ඒ සුලග උරාගත්තෝ
නැලවුනේ සියලු ඉඳුරන් සතපවා: මෙසේ ඔහු ගියේ පෙරටම
මාලිගයෙන් නිදහස්ව.

උදා තරුව රැදෙද්දී

පෙරදිග නිම්වලල්ලේ අඩ හෙල්ලක් තරම් ඉහළින්,
මිහිකත මත්තෙන් උදා සුසුම් හෙලද්දී






සිදුහත් කුමරු ඡන්න නම් රථාචාර්යවරයා සමග මාලිගයෙන් නික්ම ගියේය. කුමරු කන්ථක නම් අසු කරා යද්දී මාරයා ඔහු වලකන්නට ප්‍රයත්න දැරුවේය.




රැලිනංවමින් අනෝමා ගගේ රළ, ඒ සීමා - ගංගාවේ, ඔහු වරපට
ඇද, බිමට පැන සිපගත්තෙ
ධවල කන්ථක දෙකන් අතර, කථා කෙළේ
ඉතා මිහිරි සේ ජන්නට: "ඔබ මේ කළ දෙය
ඔබට හොඳම ගෙන එන්නෙය, හැමට හොඳම ගෙන එන්නෙය.
මතක තබාගන්න මා ඔබට ආදරය කරනා බවට ඔබේ සෙනෙහසට
පෙරළා ගෙනයන්න මගේ අසු, ගන්න මාගේ මුක්තාහාර පළඳනාව
මගේ කුමර සළු, තවදුරටත් මා නොපළඳනා,
මගේ මිණි බර අසි පටිය, මගේ අසිපත,
තවද මේ දිගු කෙස් කැරලි මෙසේ තියුණු අසිපතින් සිඳෙනා
මා නලළගින්. දෙන්නැ මේ සියල්ල රජුහට, කියන්නැ
සිද්ධාර්ථ යදින බව ඔහුව අමතක කරන්නැයි ඔහු පෙරළා
එනතුරු දසවාරයක් කුමරෙකුව, රාජකීයවූ නුවණ දිනා
තනිව සැරිසරා සොයමින් වැයමින් ආලෝකය:
එහිදී මා ජයගතහොත් අහා! සියලු මිහිකත මගේය-
මගේය ප්‍රධාන සේවයෙන්! කියන්නැ ඔහුට- මගේය එය ආදරය
නිසාම.
මිනිසාට බලාපොරොත්තුව ඇත්තේ මිනිසා තුළමය,
කිසිවෙකුත් සොයා නැත එය මා සොයන්නා සේ,
අත්හැරිය මගේ ලෝකය හා මුදවන්න මගේ ලෝකය."







# පස්වන පොත

රජගහ නුවර අවට කඳු පහක් නැගිණි.
රැකවල් දෙමින් බිම්බිසාර රජුන්ගේ වන බඳ පුරවරය;
වෛභාර, කොළ පැහැ විය පැගිරි තණ හා තල් ගසින්,
වේපුල්ල, එහි පාමුල සිහින් සාරසුති
ගලා ගියේ
උණුසුම් රැල්ලෙන්, සේයා බර තපෝවනය,
එහි හුමාල පිරි පොකුණු පිළිබිඹු කළේ කළු පාෂාණ, ඒවා වැගිරුවේ
රුවන් මිහි වෙඩරු සිය රළු පරළු පියැසිවලින්;
ගිනිකොණ විය ගිජුලිහිණි ලගිනා මුදුන සයිලගිරියේ;
නැගෙන හිරට රත්න ගිරිය, රුවන් මිණි සහිත කන්ද.
වක්වෙමින් යන මංපෙතක්, පාදයන්ට ගෙවුනු ගල්පතුරෙන් සැදි
ගෙනයාය ඔබ සූරිය කුංකුම කුඹුරු හා උණපඳුරු අසලින්
අඳුරු අඹ රුක් හා ඩෙබර ගස් යටින්.
පසුකරමින් කිරිසුදු රේඛා යුතු ගල්කුළු හා කිරිවාණ පවිත,
පහත් වූ ප්‍රපාත හා වන මලින් සැදි තැනිතලා, තැනක
ඒ කන්දේ උරතලය මත බෑවුම් වෙමින් අපර දෙසට
නෙරා එයි ගුහාවක් උදුම්බරාවෙන් සෙවනව.
බලන්න! එතැනට එන ඔබ, පාවහන් ගලවන්න
හිස නමන්න! මන්දයත් මේ සියලු ඉඩකඩ ගලවන්න ඇති විසල්
පොළවම.
නොමැත වෙනත් මෙතරම් උතුම් වූ පූජනීය වූ තැනක්, මෙහි
බුදුහිමි ඉවසා වදළ, දැවෙන ගිම්හානයන් පුරා
ඇද හැලෙන මහා වරුසා, ශීත අලුයම් හා සැඳෑ;
සියලු සතුන් උදෙසා අඳිමින් කසාවත පමණක්,
වළඳමින් පුලන්නෙකු සේ මඳ ආහාර
අහම්බෙන් ලැබු පින්වතුන්ගෙන්, රාත්‍රියේ
සැතපුණේ තණ පෙත්මත, නිවහනක් නැතුව. හුදෙකලාව; බුරනා
අතරේ
නිදි රහිත කැණ හිලුන් ඔහුගේ ලෙන අවට, ඒත් නැත්නම් කහිනා






නේරංජනා ගං ඉවුරේ සිදුහත් කුමරු සිය හිස කෙස් කපාලූහ. කසාවත් පැළඳ සිදුහත් කුමරු කසාවත පොරවා ගත්තේය. ඡන්න කුමරුට සහාය වූහ.




අතරේ
කුහුදවේ ව්‍යාඝ්‍රයන් බිඳිනු වන ලැහැබ් වෙත.
දහවලද රැයද මෙහි විසුවේ ලොවෙන්ම පිදුම් ලද මහසතුන්
ඒ ප්‍රමෝදයම උදෙසා උපන් යහපත් සිරුර තවමින්
උපවාසයෙන් හා නිබඳ විමසිල්ලෙන් හා දැඩි සෙවීමෙන්
නිහඬ භාවනාවේ, කෙතරම් දිගුවිද යත්
ඇතැම්විට ඔහු මෙසේ මෙනෙහි කරද්දී- නොසෙල්වී
ඔහු හිඳ සිටි ගල් පතුර සේම- ලෙහෙනුන් පැන්නේ
ඔහුගේ දණ මතට, - බයාදු ඇටි කිකිළිය ගෙන ගියෙ
ඇගේ බුරුත්ත ඔහුගේ දෙපා අතරින්, නිල් පරෙවියෝ ඇහින්දේ
බත් උළු ඔහුගේ අත පසෙක වූ පාත්‍රයෙන්.

මෙසේ ඔහු භාවනාවෙහි යෙදුනේ මධ්‍යාහ්නයේ සිට- බිම්පෙත
දිලිසෙද්දී කැකෑරුන රස්නයෙන් පවුරුද දේවාලද නැටුහ
දුමාර පිරී වා ගැබෙහි - හිරු බසිනා තෙක්, නොදකිමින්
ඒ ගිණිගෙන දැවෙන ගෝලය ගිලීයනවා, නොදුටුවේ සැදෑයම ගෙවී
යනු
නුදුටුවේ එළඹෙනු තාරකා දම්පැහැයෙන් කඩිනමින්, මොලොක් වූ
කුඹුරු හරහා;
නෑසුවේ ගැස්ම බෙර සම්වල කායජ් බහුල පුරවරයේ, නෑසුවේ තියුණු
හඬ
බකමුහුණන්ගේ හා නිශානාදය සහමුලින්ම වෙළී තම අභ්‍යන්තරයේ
සිතුවිලි හුයේ පැටලුම් මුදන්නට උනන්දුව
ජීවිතයේ වංකගිරි තුල අවලව පියමං කරමින්.
මෙසේය ඔහු හිඳ සිටියේ රාත්‍රිය නිසල කරවනා තෙක් ලෝකය
නිශාචාරී තිරිසනුන් වන වදුළෙහි
බඩගා යමින් නැගු හඬ හැරෙන්නට, භීතිය හා ද්වේෂය කවදත්
හඬන්නාසේ
රාගය හා තෘෂ්ණාව හා කෝපය නැගෙද්දී
අඳුරු වන දහනේ මිනිසාගෙ අවිද්‍යාවේ.
අනතුරුව ඔහු සැනපුණෙ පලා යන සඳ අවසර ගන්නාවූ කලය තුළ
තම වළා පිරි අහසේ දහයෙන් කොටසක පිහිනමින්







මෙහිදී අවදිව ඔහු මුසා- අරුණ, යළිත් නැගිට සිට
කල්පනාවෙන් යම් අඳුරු තැන්නක තම කඳුගැටයේ,
බලමින් නිදන මිහිකත දෙස දැවෙන්නාවූ දෑසින්
සිය සිතුවිලි වෙළා ගනිමින් සියළු ජීවී සතුන්,
ඒ මිමුණුම ඇදෙද්දී රැලිනගන කුඹුරු පෙත් උඩින්
එයයි උදවේ හාදුව අවදිකරන්නා වූ භූමිය,
ඒ දිනය නම්වූ අරුමය
රොක් වෙමින් වැඩෙද්දී; මුලින්ම හිම්දිරිය කෙතරම් අඳුරු විදයත්
රාත්‍රියට තවමත් නොදැන සිටියේය කසු කුසු ගෑ අලුයම ගැන,
නමුත් ඉක්මනින්ම- වලි කුකුළා දෙවරක් හඬලන්නට කලින්-
පැහැදුල්වූ ධවල මායිමක්, පුළුල් වෙන්නාවූ, දීප්තිමත් වෙන්නාවූ
සුදකින්.
උසින් පෙරටු තාරකාව සේ බොඳවී යන්නාවූ
රිදී දහරාවේ. කෙමෙන් උණුසුම් වෙමින් ලා රනට, හසුවී
ඉහළම වූ වළාකුල් වලට, දැල්වෙමින් ඒවායේ ගැට්වල
වෙමින් උණුසුම් රුවන් ජ්වලිතයට, රතුවෙමින් අද්දර
පීත, ලෝහිත, ශෝණ, අඹතිස් ආදී වර්ණයෙන්;
එවිට අහස දැවෙන්නේය තේජවන්ත ලෙස නිලකට,
පළඳමින් සළු ප්‍රිත්‍යාලෝකයේ, පැමිණේය ශ්‍රී විභූතියේ හා
ජීවයේ නරනිඳු!

මෙවිට අප මහසත්,
සෘෂි වරුන් අනුගමනය කරමින් ආ වැඩිය
නැගෙන්නාවූ ගෝලය, අනතුරුව ගියේය- සිරුරකිස නිමවා-
වක්වෙමින් පහතට ඇදෙන අඩිපාරෙන් පුරවරයට,
සෘෂිවරයන් කරන්නාසේ ඔහුද ගියේ
මාවතෙන් මාවතට, පාත්‍රය අතින් ගෙන
එකතු කරමින් සුළු යමක් තම කුසගිනි නිවන්නට.
ඉක්මනින්ම පිරුණේ පාත්‍රය. මන්දයත් පුරවැසියෝ හඬගෑහෙයින්
"අපගේ ගබඩාවෙන් ගන්නැ උතුමාණෙනි! " අපෙනුත් ගන්න!" යනුවෙන්
ආකස්මිකව දකිමින් ඔහුගේ දේවමය මුවමඩල හා දෑස;
මව්වරු දුටු කල්හි අප මහ සතුන් පියමං කරනු






සිද්ධාර්ථ තවුසානෝ රජගහ නුවර සැරිසැරූහ. පාත්‍රය ඇතිව පිඬු සිගමින් ගෙතෙමේ වීථියෙන් වීථියට ගමන් ගත්තේය.




කියා සිටියේ තම දරුවනට ඔහුගේ දෙපා සිඹින්නට,
එසවුයේ ඔහුගේ සළුපට කෙළවර තම නලළතට, ඒත් නැත්නම් දිව්වේ
පුරවන්නට ඔහුගෙ පාත්‍රය. ගෙන ආවෙ ඔහුහට කිරි හා කැවුම්.
බොහෝ විට ඔහු සක්මන් කරද්දී, ශාන්තව සෙමින්
ප්‍රභාමත්ව දිව්‍යමය කරුණාවෙන් කිම්දෙමින් අනුකම්පාවක
තමා නොදන්නාවුන් කෙරෙහි, සහෘද වූ සත්වයන් ලෙස,
මව්තයට පත්වූ යම් ඉන්දීය යුවතියකගෙ අඳුන් දැස
රැඳුනෙ හදිසි ආදරයෙන් හා ගැඹුරු බැතියෙන් ඒ මහේශාක්‍ය වුවන
වෙත, දකිමින්
ඇගේ සියුමැලිම සිතුවිලි වල සිහිනයන් සැබෑවෙන්නාසේ දයා
කරුණාව
උතුරමින් මිනිස් ගින්නට වඩා යහපත්ව ඇගේ ලැම, නමුත් ඔහු
පියමං කළේ ඉදිරියටම පාත්‍රය ගෙන කසාවත හැඳ
මුදු කරුණා බසින් පින් දෙමින් ඒ හදවතින්ම දුන් දනයන්ට,
යළිත් පෙරළා යමින් තම හුදෙකලාවට
හිඳ සිටින්නට කඳු ගැටයේ ශුද්ධවූ පිරිවැජියන් හා
සවන් දී විමසමින් බුද්ධිය හා එහි මාර්ග පිළිබඳව.

රත්නගිරියේ නිසල වන ලැහැබ් මධ්‍යයේ,
පුරවරයෙන් ඔබ්බේ, නමුදු ලෙන්වලට පහතින්.
ලැගුම් ගත්තෝ උන් සිරුර ආත්මයේ එදිරිවාදු කාරයෙකු ලෙස
සලකා,
ශරීර මාංසය තිරිසනෙකු සේ මිනිසුන් විසින් යදම්ලා දමනය කළ
යුතු,
කටුක දුක් වේදනා දෙමින්, වේදනා හැඟීම් මියෙන තුරා
වද දෙනා ඉන්ද්‍රිය ස්නායු තව දුරටත් හිංසාකාරී වධකයා නොවන
තෙක්-
යෝගීන්ද, බ්‍රහ්මචාරීන්ද, භික්ෂූන්ද සැමදෙනා
කෘෂවු බේදනීය කණ්ඩායමකි, වෙන්ව වසනා.
ඇතැමුන් සිටගෙන සිටියේ දිවා රාත්‍රී දෑත් ඔසවා,
ඒවා ලේ සිඳී ව්‍යාධියෙන්ම වියලී යනතෙක්-
සෙමින් ජරාවට යන සන්ධි හා දරදඬුවෙන අත්
එල්ලා වැටුනේ ඕජස රහිත උරහිස්වලින් මිය ගිය අතුසේ







වන වෘක්ෂයන්හි. තව උන් මිට්කොට සිටියේ අත්
ඉතා දිගු කාලයක් වියරු වීයජීයෙන්,
තිරිසනුන්ගේ සේ වැඩුණු නිය වැඩෙන තුරා තුවාලවූ අත්ල තුළින්.
ඇතැමුන් ඇවිද ගියේ ඇණ ගැසු පාවහන් මත; තව උන් තියුණු ගල්
පතුරු වලින්
පහර දී කපා ගත්තේ ලැම නලළ හා කලව, කැලැල් කරගත්තේ සැම
තැන
ගින්නෙන්,
ඇමිණුයේ තම සිරුර මාංස වන කටුවලින් හා තුඩු වලින්
උලා ගත්තේ ගත මඩ හා අලු, හිඳ සිටියේ දුගඳව
මිය ගියවුන්ගේ වැරහැලි හිණ වටා දවටා
ඇතැමුන් අරක්ගත්තේ තැන් වල
දර සෑ දැවෙනා, බයාදුව නැඹුරුව කෙලෙසමින් ගත ගෙන සමාගමයට
මළ කඳන්, උකුසුවෝ
හඬගෑවේ උන්වටා මළ කුණු වලට ඉහළින්,
ඇතැමුන් දිනකට පන්සිය වතාවක් හඬ ගෑවේ
ශිවගේ නාමය, වෙළාගෙන ඇදෙන නාගයින්
අවිකැවුණු තම ගෙළ හා ඇට ගැහුණු ලපැත්තේ,
එක් අංසබාගවූ පාදයක් කලවයට ඔසවා ගෙන.
මෙසේ එක්වුනෙ ඔවුන්, ඛෙදජනක සමාගමයක්
නලලත බිබිළි මතුවී දැවෙන උෂ්ණයෙන්, දෑස් රතුවී
මිදුලු නහර හා මස් වැදලි වියැකී, මුහුණු
හැකිලී පාණ්ඩුව මරා දැමූ මිනිසුන්ගේ සේ, පස් දිනකට පෙර මියැදී;
තව තැනෙක වැතිර සිටියේ එකෙක් දුහුවිල්ලේ මධ්‍යාහ්නයෙන්
මධ්‍යාහ්නයට
මනිමින් මෙනේරි ඇට දහසක්.
කමින් එය හාමත් වූ ඉවසිල්ලකින්, ඇටෙන් ඇටය,
මෙසේ ක්‍ෂුධාවෙමින් දිගින් දිගටම, තව තැනෙක තවකෙක් තැළුවෙ
තම නාඩි
බුදිමින් කටුක තිත්ත කොළ නොපිනවන්නට සිය දිව;
තව කෙනෙක්, තමා විහින්ම සිරුර අංග විකල කරගත් කාලකණ්නි
ආජිවකයෙකු, දෑස රහිතව, දිවක් රහිතව, ලිංගරහිතව, කොරවී,






සත්‍ය ගවේශනයෙහි යෙදුනු සිදුහත් තවුසානෝ විවිධ සාස්තෘවරු, ඍෂිවරු, ආජීවකයන් සොයා ගියහ.




බිහිරිව,
මෙසේ සිරුර මනසින් උලුප්පවා
බොහෝ දුක් දීමේ විභූතියකට, මෙසේ ප්‍රමෝදය
ඔවුන් ජයගන්නා- උතුම් පොත් පවසන්නේය- ඔවුන්ගේ දුක වනාහි
අපවෙත දුක් එවනා දෙවියන් පවා ලජ්ජාවට පත් කරන්නේය, කරමින්
මිනිසුන් දෙවියන් බවට- දෙමින් ශක්තිය උන්ට විඳුවන්නට
දුක් වේදනා නිරයටවත් කළ නොහැකි තරම්.

දකිමින් මෙවැන්නෙකු අනුකම්පා දෑසින් අප මහසත් පැවසුවේ
මෙසේ ව්‍යසනයට පත්වුවන්ගේ නායකයෙකුට: "මහත්වූ දුක් විඳින්නාවූ
උතුමෙනි!
පොහොය කිහිපයක් තිස්සේ සිටියෙමි කඳු මත-
සත්‍යය සොයන්නෙකු වූ මම - දකිමින්
මගේ සොහොයුරන් මෙහි, හා ඔබද, කණගාටු දයක ලෙසින්
ගැලී පරිතාපයේ; මන්ද ඔබ තවත් එක්කරන්නෙ අශුභ මෙදිවියට
දැනටමත් බොහෝ නපුරෙන් පිරුණාවූ? "

පිළිතුරු දුන්නේය තවුසා:
"ලියැවී ඇත්තේය මෙසේ - මිනිසෙකු දුක් දෙයිනම්
සිය සිරුරට, වේදනාව වැඩෙනා සේ තම දිවියෙහි
සැතපෙයි නම් මාංශිකවූ මරණයේ, එබඳු ව්‍යසනයන් පවිත්‍ර කරන්නේය.
පාපයේ යබොර ඉවතට, මෙවිට ආත්මය, පාරිශුද්ධවී
ඉගිළී යන්නේය තම දුක් වේදනා උදුනෙන්, පියාපත් ලබා
තේජාන්විත පරිමණ්ඩලයන්ට හා ඉසුරකට සිතිය නොහැකි තරම්."
"ඔබ වලාකුළකින් වසන්නේය දෙව්ලොව නිදැල්ලේ පාවෙනා
දෙය" කුමරු පිළිතුරු දුන්නේය,
"ඔබගේ ඉන්ද්‍රගේ සිහසුන රන් සළුවකින් වෙළන්නාසේ,
නැගී කුණාටු බර සයුරෙන් එ අතට;
යළිත් ඇද හැලිය යුතුය කඳුළු බිඳු ලෙස,
ගලමින් රළු වේදනාකර දියමං ඔස්සේ
විවර පැළුම් හා නිසරු වූ බිම්කඩ අතරින් හා බොර ගං වතුරින්
ගංගා නම් නදියට හා එතැනින් එය පැන නැංග තැනවූ මුහුදට.
දැන ගනුව, මා සොයුර, නොදන්නේ නම්,
බොහෝ දුක් වේදනා වලින් පසුව, රඳන්නේද මුනිවරයන් සැපතෙහි?







නැගෙනා දෙය යළි වැටෙයි නම්, මිලට ගන්නා දෙය
වැය වෙයි නම්; ඔබ ඔබේ රුධිරයෙන් දෙව්ලොව මිලට ගන්නේ නම්
නිරයේ එරුෂ වෙළඳ පලෙහි, ගනුදෙනුව අවසන් වූ පසු
ඇරඹිය අර වෙහෙස කර පරිශ්‍රමය යළි!"
"එය යළි ඇරඹිය හැකිය."
තවුසා කෙඳිරිය . " අහෝ! නමුත් නොදන්නෙමු මෙය අපි සත්‍ය
වශයෙන් කිසිවක්; නමුත් රාත්‍රියට පසුව
පැමිණේය දිවා කල, කලබලයට පසු සාමය, අපි වෛර කරමු මේ
සාපලත් මාංශයට සිරකරනා අපේ ආත්මය
කැමැත්තෙන් සිටින්නාවූ නැගී යන්නට; මෙහෙයින් ආත්මය වෙනුවෙන්
අපි ඔට්ටු කරන්නෙමු ලුහුඩු වේදනා දෙවියන් හා කෙළියෙහි
ලබන්නට වඩා විසල්වූ ප්‍රමෝදය, "
"නමුත් ඒ සියල්ල රැඳෙයිනම්
වසර සංඛ්‍යාවක්, " ඔහු පැවසීය
"ඒවා බොඳවී යන්නේය කාලයාගේ ඇවෑමෙන්
එම ආනන්දයත්; එසේ නැති නම්, ඇත්තේද යම් දිව්‍යක්
පහළ, ඉහළ හෝ ඔබ්බෙහි, මේ ජීවිතයට වඩා හාත්පසින් වෙනස්ව,
නොවෙනස් වන්නාවූ? පවසන්නැ! ඔබේ දෙවියන් විඳින්නේද
රඳන්නේද
සදකල්හිම, සොහොයුරෙනි ?"
"නැතැ " යි පිළිතුරු දුන්නේ යෝගීවරු,
"මහා බ්‍රහ්ම පමනකි රඳන්නෙ, දෙවිවරු ජීවත්වෙනවා පමණී."
අනතුරුව මහසත් මෙසේ කීය: "නැණවත් වූ ඔබලා
පෙනෙන්නාවූ ශුද්ධවන්තයින් හා දැඩි හදවතින් යුතුවූවන්සේ.
විසුරුවයිද මෙම කටුකවූ දදු කැට වන් ඔබගේ කෙඳිරි හා අඳෝනා,
ලබන්නට සිහින වැනිදේ, සදකාලික නොවූ?
ඔබලා, ආත්මයට ආදරයෙන්ද, ඔබගේ සිරුරු පිළිකුල් කරමින්
එයට පීඩා කරන්නේ විකලාංග කරන්නේ, එයට ඉඩ නොදෙමින්
ප්‍රාණාත්මය උසුලා යන්නට, සොයා යන ගමනේ නිවහන,
නමුත් ගිල්වමින් එය යන මග රාත්‍රියට පෙරාතුව,
ගැතිවූ ගවයන් සේ අධිකව කස පහර ලද? දුක්ඛිත වූ උතුමෙනි,
ඔබලා, කැලි ගලවා බිඳ වෙන් කරන්නේද මේ යහපත් නිවහන,






තමාට විමුක්ති මාර්ගය කියා දෙන කෙනෙකු ඇත්දැයි සිදුහත් කුමරු විමසීය. එසේ සොයා යද්දී සිදුහත් තවුසානන්ට ආළාරකාලාම හමුවිය.




අප ලැගුම් ගන්නට පැමිණි වේදනාත්මක අතීතය තුළින්;
එහි කවුළු අපහට දෙයි ආලෝක- මඳ වූ ආලෝක
එයින් අපි බලන්නෙ එපිට අරුණෝදය
බිඳෙයිද කියා, වඩාත් හොඳවූ මාවත යන්නේ කොයි අතටද කියා ?

මෙනයින් ඔවුහු හඬගෑහ, " අප ආර්ය ලෙසින් තෝරාගන්නේ මෙයයි
එහි පියමං කරමු අපි. රාජපුත්‍රය, අවසානය දක්වා-
සියළු ගල්පතුරු ගින්දර වුවද- මරණයේ විශ්වාසය තබා.
පවසන්නැ ඔබ දනී නම් මෙයට වඩා යහපත් මගක්,
එසේ නැතිනම්, අපි පතමු ඔබ යන මග සාමය!"
ඉදිරියටම පියමං කළේ ඔහු.
අතික්‍රමණය කරමින් දුක්ඛිතභාවය, දකිමින් මිනිසුන්
මරණයට ඇතිවූ බියෙන්ම, බිය සැක ඇතිකරගන්නා හැටි භය
වන්නට,
ජීවත් වන්නට ඇතිවූ ආශාවෙන් ම තමන්ගේ ජීවිතයට නොකරනා
සැටි ආදරය,
නමුත් ව්‍යසනයට පත් කරනා සැටි එය දැඩි දඬුවමින්,
සතුටු කරන්නටදෝ දෙවියන් මසුරු සිතින් මේ මිනිසාට සතුට සැප
දුන්,
නිරය නිෂ්ප්‍රභා කරන්නටදෝ තමාම දැල්වූ නිරයන්ගෙන්.
උතුම් වූ උමතුවකින්දෝ, පතමින් ආත්මය
ගැලවී මිදී යා වියැයි වැයවුන සිරුරු මාංසයෙන්.
"අහා! කුඹුරෙහි කැකුළු!" සිද්ධාර්ථ කීය,
"හරවන්නාවූ සිය මුව කමල් හිරු අතට-
ප්‍රමෝදිතව ආලෝකයෙන්, ප්‍රසන්නව මිහිරි සුසුමෙන්
සුවඳ විහිදුවනා, සැරසී උතුම්වූ සළුවෙන්
රිදී, රන් හා දම් පැහැ - ඔබ එකෙකුන්වත්
නොලබා නොසිටිති පරිපූර්ණ ජීවිත, ඔබ එකෙකුන්වත්
පැහැර නොහරින්නේය ඔබ ප්‍රමෝදිත අලංකාරය. අහා! තල් රුක්,
නැගෙනා උත්සුකව අහස සිදුරුකොට උරා බොන්නට පවන
හමා එන්නාවූ මලයාවෙන් හා සිහිල් නිල් සයුරෙන්.
කිනම් නම් රහසක් දන්නේද ඔබ වැඩෙන්නට නිවී සැනසිල්ලේ







ලා දල්ලේ සිට එළදරණා කාලය දක්වා,
මුමුණමින් මියුරු සුයජීගීත ඔබගේ පිහාටු පිරි කිරිටයෙන්?
තුරු මත සතුටින් වෙසෙන ඔබද,
කඩිනමින් පියාඹන ගිරවුනි, බිගුනි කුරුල්ලෙනි, මලිත්තෙනි,
පරෙවියෙනි
ඔබ කිසිවෙකුත් අප්‍රිය නොකරති ඔබ ජිවිතය, ඔබ කිසිවෙකුත්
නොසිතති
වැර ගන්නට වඩා යහපතක් උදෙසා අවශ්‍යතාවයන් මග හරිමින්
නමුත් මිනිසා වනසන්නාවූ ඔබ - අධිපතියා වෙමින් - නැණවත්ය,
එහෙත් නැණවත්කම, රුධිරයෙන් පෝෂිතව, පෙරමුණට එන්නේ
ස්වයං වද වේදනා ලෙසිනි!"

මහසත් කථා කරද්දී

කන්දෙන් ඇද හැලුනේ දුහුවිල්ලය කැළඹෙමින් ගැටෙන පාදයෙන්,
සුදු එළුවන්ගේ හා කලු බැටළුවන්ගේ සෙමින් පහළට ආ
අතර මග රුදෙමින් උලා කන්නට තණ පිඩලි,
වරෙක එපිටට යමින් අඩි පාරෙන්, දිය දිලිසෙනා තැනකට හෝ
වන එල එල්ලෙනා තැනකට හෝ. නමුත් ඔවුන් අයාලේ ගිය හැම
විටෙකම, ගොපල්ලා හඩගෑය, ඒ නැත්නම් ගල් පටින් විද්දේ ගොනු කරනට
නිවට වූ සතුන් රැස ගෙන එන්න උන් තැන්නට.
එක් බැටළු දෙනක් වූවාය ඇගේ පැටවුන් සමග. යම් අයුරකින් එක්
බැටළු පැටවෙකුගේ කකුලක විය තුවාලයක්,
කොර ගසමින් ඌ ගැටුවේ ලේ ගලමින්, උගේ සගයින් ඉදිරියෙන් පැන
යද්දී,
අමනාප වූ ධේනුව එහා මෙහා දිව්වේ,
අර පැටියා හෝ මේ පැටියා හෝ නැතිවේ යැයි බියෙන්;
මෙහිදීය අප මහසත් දුටුවෙ, මහා කරුණාවෙන්
ඔහු කොරගසන බැටළු පැටවා තුරුලට ගෙන
කීවේ: "අසරණ ලෝමක මෑණියනි, සැනසෙන්න!
ඔය යන තැනකට මම ඔසවා යන්නම් ඔබේ භාරය,
එකම සත්වයෙකුගේ සන්තාපය ලිහිල් කිරීම අගනේය.
දකිනවාට වඩා ලොවෙහි ශෝක වේදනා
අර පෙනෙන ලෙන් තුළ යදිනා තවුසන් වෙත."






කහසිවුරු ගෙන සිදුහත් කුමරු තවුසන් සොයා ගියේය. ඔවුන් වෙත වෙසෙමින් තවුසා විවිධ පැන විමසීය. උද්දකාරාම ඔහුට හමුවූ එක් ආචාර්‍ය්‍ය වරයෙකි.




"නමුත්," ඔහු ගවපල්ලන්ට කථා කළේය, "කොයිබට ද මිතුරනි,
එලවා යන්නෙ මේ රැල මධ්‍යාහ්නයේ
සැන්දෑවේ නොවේ ද මිනිසුන් ගොනු කරන්නේ තම බැටලුවන්?"
ගැමියෝ පිළිතුරු දුන්හ: "අපව මෙහි එව්වේ බිලි පූජා සඳහා ගෙන
එන්න එලුවන් සිය දෙනෙකුත්,
බැටලුවන් සිය දෙනෙකුත්, උන්ව අපේ මහ රජු
මරා මේ රාත්‍රියේ බිලි දෙන්නේය පුදනට තම දෙවියන්ට."

මහසත් මෙවිට මෙසේ කීය, "මම ද එන්නෙමි."
මෙසේ සංසුන්ව පියමං කළේ ඔහු, ඔසවා ගෙන බැටළු පැටවා
ගොපල්ලන් සමග දූවිල්ලේ දැඩි අව්වේ
ශෝකී වූ බැටළු දෙන ඔහුගේ පා අසලින් ඇවිද එද්දී පහත් හඬින් බෑ
ගාමින.
ඔවුන් ගං ඉවුරට ආ කල්හි
පරෙවියකුගේ බඳු දෑස සහිත තුරුණු ගැහැණියක්, කඳුළු බර වුවනින්
හා එසවූ දෑතින් - සමාචාර කළේ, පහතට නැමී:
"සාමිනේ! ඔබ විය යුතුය ඔහු," ඈ කීවාය. "ඊයේ දිනදී
මෙතැන ජීවත් වුනෙමි මම හුදකලාව වඩමින් මා දරුවා, නමුත් ඔහු
අයාලේ ගොස් මල් කැකුළු අතරේ නාගයෙකු හමුව,
ඌ මා දරුවාගේ මැණික් කටුවෙහි එතිණි, මා දරුවා හිනැහී
කෙළිබරව සමච්චල් කළේ ඒ සීත සගයාගේ
බෙදුණු දිව හා විවර මුව හා. නමුත්, ඛේදයකි! හදිසියේම
ඔහු සුදුමැලිව ගියේ නිසලව, මට සිතාගත නොහැකි විය
ඇයි දැයි ඔහු නැවතුවේ සෙල්ලම, අතහරිමින් මා පියයුර
ඔහුගේ දෙතොලින්. කෙනෙක් කීවේ, "ඔහු රෝගී වූ බව
තවකෙකු කීවේ, "ඔහු මැරෙයි" කියා.
නමුත් මා, නැතිකර ගත නොහී මා අගනා දරුවා,
යැද්දේ ඔවුන්ගෙන් ඖෂධයක්, ආලෝකය යළිගෙන ආ හැකි ඔහුගේ
දෑසට; ඉතා කුඩා විය.
නාගයාගේ තුඩු සටහන, මට සිතෙන්නේ
ඌට වෛර කළ නොහැක මා දරුවා හට, ඉතා ප්‍රසන්න වූ
රිදවිය නොහැක ඒ කෙලි සෙල්ලමේදී. කෙනෙක් කීවේ,







"කන්දේ තාපසයෙක් වැඩ ඉන්නවා කියා -
බලන්නැ! දැන් ඔහු එන්නේ කසාවතක් හැඳලා -
අහන්න සෘෂිවරයාගෙන් බෙහෙතක් ඇද්ද කියා
මගේ දරුවාගේ රෝගයට." මෙවිටයි මා ආවේ
සැලෙමින් ඔබ වෙතට, වුවන දෙව්යෙකුගේ බඳු වූ,
හඬමින් මා මුව පොරෝණය ඉවත් කළේ මා බිළිඳ වෙතින්
යදිමින් ඔබට කියන්නැයි මා හට කිනම් ඖෂධයක් සුදුසුදැයි.
මහා උතුමාණෙනි, ඔබ මා නොඑලවා, එහෙත් හයා බලා
කරුණා දැසෙන්, අල්ලා ක්‍ෂාන්ත වූ අතින්;
බිළිඳුගේ මුව පොරෝණයෙන් වසා, කීවේ මට,
"එසේය, නැගණිය, ඇතිය සුවපත් කරන්නට යමක්
මුලින් ඔබව, අනතුරුව දරුවාව, ගෙන ආ හැකි නම් ඒ දෙය,
මන්ද යත් වෙදැදුරන් සොයා යන්නෝ ගෙන එති ඔවුන්
ඉල්ලනා දෙය. එහෙයින්, ඔබෙන් ඉල්ලා සිටිමි මම, සොයා
ගෙන එන්නැයි කලු අබැටක්, තෝලාවක්, මතකැතිව
එය ඔබ නොගත යුතුය කෙනෙකුගේ අතකින් හෝ නිවසකින්
පියෙකු, මවක, දරුවෙකු හෝ දස දසියෙකු මිය ගිය,
වඩාත් සුදුසු වේය සොයා ගත නොහැකි නම් ඔබට එවන් අබැටක්."
එසේය ඔබ මා හට කියා සිටියෙ මා සමිඳුනි!"

සමිඳුන් හිනැහුණී

ඉතා ළයාන්විතව. "එසේය, මම එසේ කීවෙමි,
කිසාගෝතමිය! නමුත් ඔබ සොයා ගත්තාද
එවන් අබැටක්?"

"මම ගියෙමි, සමිඳුනි, ලෙහි හොවා
මා බිළිඳව, සීතල වූ සිරුරින් යුතු, අසමින් හැම පැලකින්ම -
මේ වන කරයේ හා පුරවරයේ ඈතට -
"යදින්නෙමි මම, දෙන්න මට අබැටක්, කරුණාවෙන්,
තෝලාවක් - කලු, එවන්නැක් ඇති හැම දෙනාම දුන්නෝය එය,
මන්දයත් දුප්පත් වූවෝ කම්පාවෙති දුප්පතුන්ට,
නමුත් මා ඇසූ කල්හි, "මේ මා හිතවතුන්ගේ නිවසෙහි
යම් කෙනෙකු මැරුණාද කියා -
ස්වාමි පුරුෂයෙකු හෝ බිරිඳෙකු හෝ දරුවෙකු හෝ දැසි දැස්සෙකු?"






සත්‍යයත් විමුක්තියත් සොයන සිදුහත් තවුසානන්ට විවිධ ශ්‍රමණ බ්‍රාහ්මණයන් හමුවිය.
ඔවුන්ගෙන් ඇතැමුන් ඉතා දරුණු ලෙස කයට වදදුන්හ. සිදුහත් එවැනි දේ නොඉවසූහ.




ඔවුන් කීයේ: "අහෝ සොයුරිය! අසන්නේ මේ කිමෙක්ද ඔබ?
මළවුන් බොහෝය, ජීවත් වන්නෝ සුළු ප්‍රමාණයකි!"
ඉතින් ශෝකී වූ ස්තුතියෙන් මම ආපසු දුන්නෙමි අබැට,
යළිත් යදිමින් වෙන අයගෙන්, නමුත් අන් අයද කීවේ,
"මෙන්න අබඇට, නමුත් අපේ දාසයා මිය ගියේය."
"මෙන්න අබඇට, නමුත් අපේ මනුස්සයා මිය ගියේය!"
"මෙන්න අබඇට, නමුත් මෙය වැපුරූ ඇත්තා මිය ගියේය
වස්සාන කාලය හා අස්වැන්න නෙලනා කාලය අතර!"
අහෝ, උතුමාණෙනි! මට සොයාගත නොහැකි විය එකදු නිවසක්
අබැටක් ඇති නමුත් කිසිවෙකුත් නොමළ!
මෙහෙයින් මම අත්හළෙමි මා බිළිඳුව - කිරි නොඋරනා
සිනා නොවෙනා - වන වදුලු යට ගං ඉවුරෙහි,
දකින්ට ඔබේ වුවන, සිඹින්නට ඔබේ පා, වැඳ අසන්නට
කොහි දැයි මට සොයාගත හැක්කේ අබැටක් නොමළ තැනකින්,
දැන් සැබවින්ම මා බිළිඳු නොමළේ නම්
මා සිතනා පරිදි, ඔවුන් මට කී පරිදි."

"මා නැගණීය, ඔබ සොයා ගෙන ඇත," මහසත් කීය,
"සොයමින්ම කිසිවෙකුත් සොයා නොගන්නා දෙය - ඒ කටුක ගුලය
ඔබ හට මා දිය යුතුවූයේ. ඊයේ ආදරය පෑ ඔහු සැතපුණේ
මරණයෙහි ඔබේ ළැමතුර: අද
ඔබ දන්නේය මුළු මහත් ලොවම වැළපෙනා බව ඔබේ ව්‍යසනයේ:
සියලු හදවත් කරගන්නා ශෝකය තුනීවේය එක් අයෙකුට.
බලන්නැ! මම මගේ රුධිරය වගුරු වන්නෙමි නවත්තන්න හැකිනම්
ඔබේ කඳුළු එයින් ජයගන්න රහස ඒ සාපයේ
කරනා අපේ මිහිරි ආදරය අපේ පරිතාපය බවට, ඒ සාපය ඇදී
යන්නෙ
කුසුම් හා තැනිතලා උඩින් යාගයට -
මේ ත්‍රස්තවූ තිරිසනුන් අනුව - මිනිසුන්ය උන්ගේ අධිපතීන්.
සොයා යන්නෙමි මම ඒ රහස; වළලන්නැ ඔබ ඔබේ දරුවා!"
මෙසේ ඔවුන් අවතීර්ණ වූයේ පුරවරයට එක්ව,
ගොපල්ලන් හා කුමරුන්, හිරු සෙමින්







රන් පැහැයෙන් තවරද්දී සෝන පුරයේ ඈත දිය දහර, වතුරුවමින්
දිගු සෙවනැලි මාවත් මත හා දොරටුවෙන් ඇතුළතට
රජුන්ගේ සෙබලුන් මුර කරනා. නමුත් දුටු විට ඔවුන්
අප මහසත් බැටළු පැටවා ඔසවා එනු, මුරකරුවෝ පසෙකට වුහ,
වෙළඳ පල මිනිස්සු ඇද්දෝ තම පනේල පසෙකට,
සල්පිලෙහි ගන්නෝ හා විකුණන්නෝ නැවතුහ
තම වාග් ප්‍රහාරයන් බලා සිටින්නට ඒ ශාන්ත වූ වුවන,
කම්මල්කරු, ඔසවා ගත් ගමන් මිටිය තම අත,
අමතක කළේ පහර හෙලන්නට; සන්නාලියා අතහැරියේ තම වියමන,
ලියන්නා තම පත් ඉරුව, කාසි මාරුකරුවාට අමතක වූයේ
තමා ගණන් කරමින් සිටි කවඩි, කිසිවෙකුත් මුර නොකළ සහලෙන්
ශිවගේ ධවල ගවයා පුරවාගති කුස නිදහසේ; අපතේ ගිය කිරි
ගලා ගියේ ලොව මත්තෙහි, කිරි දොවන්නන් බලා සිටිනාතර
නමුත් ශ්‍රී විභූතියෙන් අත්‍යලංකාරව.
වඩාලාත්ම ගැහැණුන් රොක්වෙමින් දොරටු අසල
ඇසුවේ: "කවුද ඒ ඔසවා එන්නේ බිලිපුද,
එතරම් ශාන්තව, බෙදා දෙමින් සාමය ඔහු යන අතර?
ඔහුගේ කුලය කුමක්ද? කෙසේ නම් ලැබුවේ ද ඔහු එතරම් මිහිරි
දෑසක්?
විය හැකි ද ඔහු ශක්‍රදෙව් හෝ දේවරාජ?"
තවත් අය මෙසේ කීය; "ඒ තවුසාය
ඍෂිවරයන් හා කන්දේ වෙසෙනා."
නමුත් මහසත් පියමං කළේ, භාවනාවෙන්,
සිතමින්, "අහෝ! මගේ සියලු බැටළුවන් නොමැති
එඬේරෙකු; ඉබාගාතේ යන්නෝය රාත්‍රියේ නැතිව කිසිවෙකුත්
මග පෙන්වන්නට, බෑ හඬ නගමින් අන්ධව යමින් පිහිතලය
වෙත මරණයේ, හරියටම මේ ත්‍රස්තවූ තිරිසනුන් සේ උන්ට නෑකම්
කියනා."

අනතුරුව කෙනෙකුන් කීවේ රජුට, "එන්නේය මෙහි
උතුම් තවුසෙකු, ගෙනෙමින් රංචුව
ඔබ ගෙනෙන්නැයි අණ කළ බිලියාගයට."






සිදුහත් තවුසාණෝ හය අවුරුද්දක් දුෂ්කර ක්‍රියා කලහ. ඔහුගෙ සිරුර වැහැරුනේය. වරක් විඩාවෙන් කලාන්ත වී බිම ඇද වැටුනේය. එහෙත් යලි සුවය ලැබුවේය. සිදුහත් තවුසා දුෂ්කර ක්‍රියාවේ යෙදෙන විට මරු ඒ ගැන දැඩි අවධානයක් යෙදුවේය. ඔහුට උවමනාකළේ සම්මා සම්බුදු බව ලබන්නට පෙර සිදුහත් තවුසාණෝ වැනසී යනු දැකීමටය.




රජතුමා සිටියේය තම යාග ශාලාවේ.
දෙපසම වූ සුදු පිරුවට හැඳි බ්‍රාහ්මණයෝ
මැතුරූහ තම මන්ත්‍ර, තවමත් පෝෂණය කෙරෙමින් ගින්න
මධ්‍ය පුදසුන මත බුර බුරා නැගී. එහි
සුවඳ දැව විහිදුවේ දීප්තිමත් දිව ගිණි සිළුවල,
සූ හඬ නගමින් වක්වෙමින් දිවගාද්දී පුද ලද තැගි වූ
ගිතෙල් හා කුළුබඩු හා සෝම දියරය,
ඉන්දුගේ ප්‍රමෝදය. දර සැය අවට
මන්දගාමී, ඝණ වූ තද රත් දහරාවක් දුම් දමමින් ඇදුණි
උරා ගනිමින් වැල්ලට, එහෙත් පෙරටම ඇදෙමින්,
රුධිරයයි එය බෑ හඬ ගෑ යාගයේ. වැතිරුණි එසේ කැපවූ එකෙක්,
තිත් වැටුනු එළුවෙක් දිගු අං සහිතව, උගේ හිස පසුපසට ඇද බැඳී
මුංජ තණ පතින්; උගේ ඇදුණු ගෙළ වෙත විය පිහියක්
පූජකයෙකු අතින් තෙරුපුණු, ඔහු මිමුණුවේ, "මේ භීෂණ වූ දෙවියනේ,
යාගයන් ගණනාවක කිරුල සේ එළඹෙන්නේ
බිම්බිසාරයන්ගෙනි; ප්‍රමුදිත වන්නැයි දකිමින්
ප්‍රාණිය රුධිරය, ලබන්නැ තෘප්තිය සුවඳින්
පෝෂිත මාංස දැවෙනා සුවඳ ගිණි දළු මැද;
පවරන්නැ අප රජුන්ගේ ක්ලේශයන් මේ එළුවා මත,
ගින්නට ගිලගන්නට දෙන්න ඒ පාපයෙන් දවමින්,
දැන් මම සිඳිමි මේ ගෙළ."
නමුත් බුදුරජ පැවසීය සන්සුන්ව,
"ඉඩ නොහරින්න මහ රජුනි හෙලන්න ඒ පහර!" එසේ කියා ලිහිල් කළේ
යාගයේ බැමි, කිසිවෙකුගේ බාධාවක් නැතිව, එතරම් මහේශාක්‍ය
විය ඔහුගේ පෞරුෂය. අනතුරුව සමුගන්නට පෙර, ඔහු කථා කළේ
ජීවිතය පිළිබඳව, ඕනෑම කෙනෙකුට උදුරා ගත හැකි එය කිසිවෙකුට
දිය නොහැකි,
ජීවිතය, සියලු සතුන් ඇලුම් කරනා තබා ගන්නට වෙරදරනා,
අපූර්ව වූ හැම සතාටම ඉතා ප්‍රිය වූ ප්‍රසන්න වූ,
රුදුරුම නපුරුම අයට පවා; එසේය, වරප්‍රසාදයකි එය හැමටම
දයා කරුණාව ඇති තැන, මන්දයත් දයාවය කරන්නේ ලෝකය
සුමුදු දුබලයන්ට, උතුම් කරන්නේ එය බලවතුන්ට,







ගොළු වූ දෙතොලින් යුතු තම රැලට ඔහු දෙසුයේ
ශෝකී ආයාචනාත්මක වදන්, පෙන්වමින් මිනිසා, යදමින්
දෙවියන්ගෙ කරුණාව, කෲර වෙන හැටි
තමා දෙවියන් වෙන අයට; එසේ නමුත් සියලු ජීවිත
බැඳී සම්බන්ධ වී ඇත, අප මේ බිලිදෙන්නා වූ සත
අවනතව දී ඇත කිරි සහ ලෝම,
දැඩි විශ්වාසය තබමින් උන්ව නසනා දෑතෙහිම.
තවද ඔහු දෙසුවේය ශුද්ධ වූ පොතපත
සැබැවින්ම උගන්වනා දේ, ඇතැමුන් මරණයේ දී ගිළෙන හැටි
පක්ෂි හා තිරිසන් තත්ත්වයට, මේවා කෙමෙන් නැගෙන හැටි මිනිස්
බවයට
සැරිසරද්දී මේ ගිණි පුපුර වැඩෙයි දැවෙන ගින්නකට.
මෙසේම බිලියාගය ද මවයි අලුත් ක්ලේශයන්, මෙනයින් ආත්මයේ
දෛවෝපගත ගමන දිගුවන්නේය.
තවද දෙසුවේය ඔහු, නොහැක කෙනෙකුට සෝදා පිරිසිදු කරන්නට
තම සිත රුධිරයෙන්; නොහැකි දෙවියන් සතුටු කරන්නට රුධිරයෙන්,
නොහැක කප්පම් දෙන්නට ඔවුනට, නපුරු වීමෙන්, නොහැක තබනට
බැඳ දැමූ අහිංසක තිරිසනෙකුගේ ගෙළ
එක් කෙස් ගසකවත් බර අප සැම පිළිතුරු වශයෙන් දිය යුතු
අප කරනා හැම වරදකටම පාපයකටම,
තනි තනිව, අප හැම දෙනාම, වගකිව යුතුය.
එම අචල ගණිතයට විශ්වයේ,
එය බෙදන්නේය හොඳ, කරනා හොඳට, දෙයි නපුර පෙරළා නපුරට,
මිණුමට මිණුම, හැම ක්‍රියාවකටම, වදනකටම, සිතුවිල්ලකටම;
සුපරීක්ෂාකාරීව, දැනුවත්ව, නොවැරදීම, අචලව,
සදමින් අනාගත එල සියලු අතීත කර්මයන්ට.
මෙසේ දෙසුවේය ඔහු, කියමින් වදන් කරුණාබර වූ
මහේශාක්‍යව අනුකම්පාවෙන් පිරි ධාර්මිකව,
පූජකයෝ වසාගත්තෝ තම සලුපටින් සිය දෑත්
රතු වූ ඝාතනයෙන්, රජු පැමිණියේ සමීපයට
දෑත බැඳ වැඳගෙන බුදුන්ට බැතියෙන්;
අප මහසත් තවමත් දෙසුවේ, උගන්වමින්






සිදුහත් තවුසා දුෂ්කරක්‍රියාවන් නතර කළ විට එකක් ඔහුට ලැදිව සිටි පස්වග මහණුන් සිදුහත් තවුසා අත්හැර ගියේය. ඔවුන්ට වුවමනා කළේ තමන්ට පුරුදු අයුරින් විමුක්ති මාර්ගය සෙවීමයි




මේ ලොව කෙතරම් යහපත් වේදැයි සියලු සතුන් බැඳුණා නම්
මිත්‍රත්වයෙන්, පොදු සේ බුදිමින් ආහාර
රුධිර රහිතව හා නිමලව; රුවන් ධාන්‍ය, ප්‍රභාමත් එලතුරු,
මිහිරි පලා කොළ, අප සැම වෙනුවෙන් වැඩෙනා, දිය දහර ද පවස
නිවනා,
ඇතිවේය අප හට බීම හා මාංශ වෙනුවට. මෙය අසා සිටියවුන්
යටහත් වෙමින් ඒ උතුම් මහා තත්වයට,
පූජකයෝ තුමුම නිවා දැමුහ සිය පුදසුන් - ගිණිදැල්
මුද හැරියෝය තමුන් බැඳ දැමූ යාග;
පසුද පුරවරය පුරා පැතිරිණි ආඥාවක්
අණබෙර කරුවන් හඬගෑ, මෙවන් නැණ වදන් සටහන් විය
ශිලා ලිපි හා කුළුණු වල; "මෙසේ වේය මහ රජුන්ගේ අභිප්‍රාය:
මෙතුවක් කල් වීය ඝාතන බිලිපූජා උදෙසා,
ඝාතනය වීය මස්මාංස සඳහා, නමුත් අද දින පටන් කිසිවෙකු
විසින් නොසෙල්විය යුතුය රුධිරය ජීවයේ, දිව නොගෑ යුතුය මස්මාංශ,
දකිමින් වැඩෙනා වූ බුද්ධිය, සියලු ජීවිතය එකක්මය;
කරුණාව පැමිණේය කරුණාබර වූවන්ට."
මෙසේ සඳහන් වීය රාජාඥාවේ, මෙයින් පසු උදවූ දිනයන්හි
පැතුරුණි මිහිරි සාමය සියලු සතුන් අතරේ,
මිනිසා සහ ඔහුට සේවය කරනා තිරිසනුන් අතරේ, පක්ෂීන් අතරේ,
සියලු ඉවුරු තෙර ගංගා නම් ගංගාවේ, අප මහසත්
ඉගැන්වූ තැන ඔහුගේ ශුද්ධ වූ කරුණාව,
මහසතුන්ගේ හදවත කෙතරම් කරුණාවක් වීදයත්,
සියලු සතුන් කෙරෙහි මේ පලායන ජීවනයේ සුසුම උරනා,
එකම ගැලකට බැඳී ප්‍රීතියේ සහ වේදනාවේ,
මෙසේ ලියැවී ඇත ශුද්ධ වූ පොත්වල
එක් පොරණ යුගයක මෙවන් පුවතක් - එකල බුදුන් පිළිවූයේ
බ්‍රාහ්මණයෙකුගේ වෙසින්, වෙසෙමින් පර්වතයක් මත
මුන්ද නම් වූ, දලිද්ද නම් ගම අසල -
එකල මහා නියං සායකින් වියැලිනි පොළෝතලය: ලා ගොයම මැරුණි
පළමුව එහි සඟවන්නට හැකි වී ඇටිකුකුළෙකු, වනවදුලුවල
රුදුරු හිරු උරා බිව්වේ සියලු පොකුණු; තණපත් ද පලා ද







ව්‍යාධි විය, සියලු වන සතුන් පලා ගියේ
ඈත මෑත සොයමින් ජීවනය. මෙවන් කාලයක,
වියලි දියකඩිත්තක උණුසුම් බිත්ති අතරේ, ඇදී සිටියා
විවර ගල් මත, නෙත ගැටුණී අප මහසතුනට, ඔහු පියමං කරද්දී,
සයින් හාමත් වූ ව්‍යාඝ්‍ර ධේනුවක්. ඇගේ දැස් තුළ කුසගින්න
දැවුනේ නීල ගිනිසිලුවක්සේ; ඇගේ වියලි දිව එල්ලා වැටුණී වියතක්
පණ අදිනා හකුපාඩාවෙන් හා ඇකිලුණු කම්මුලෙන්,
ඇගේ විචිත්‍ර සම හැකිලී එල්ලුණී ඇගේ ඉලයෙන්,
හරියටම පරාල අතරින් කිඳ බසින්නා සේ වියු අතු
දිරාගොස් වරුසාවට; දුක්ඛිතවූ කෘශවූ ලපැත්තේ
ව්‍යාඝ්‍ර පැටවුන් දෙදෙනෙක්, හාමතේ කෙඳිරිගාමින්, දෙතොලින් අදිමින්
ඉරුවේ,
තොල් නැර විකමින් ඒ කිරි රහිත තනපුඩු කිසිවක් නොදුන්,
මේ අතර ඕ, ඔවුන්ගේ මාංසකෘශ වූ වේල්ල, පිරුණ මව් ගුණයෙන් ලෙව
කැවෙ
කලහ කළ නිවුන් පැටවුන්, දෙමින් ඇගේ ලපැත්ත උන්ට
වැලපෙන්නා වූ උගුරු සහිත වූ, ආදරය දැඩි විය අවශ්‍යතාවයට වඩා,
ඇතුළතින් නැගී මුල්ම වියරු හැඩුම බාල කරමින්
තබා තම හාමත් වූ හොස්ස වැල්ලට ඈ
ගජිනා කළේ රෞද්‍ර ගිගුරුමක් ව්‍යසනයේ.
දකිමින් මෙම කටුක අමාරුවේ දසුන, නොසිතමින් කිසිවක්
හැරෙන්නට බුදුවරයකු තුළ උපදිනා මහා කරුණාව,
අප මහසත් මෙසේ සිතීය, "මගක් නැත වෙනත්
උපකාර කරන්නට මේ වනදහනේ මාරකීය ඇත්තියට එක් මගක් හැර.
හිරු අවරේදී මියෙනු ඇත මුන්, මසක් නොමැතිව:
කිසිදු ජීවි හදවතක් නැත මුන්ට අනුකම්පා,
ලෙයින් නැහැවී උමතුවෙන්, කෘශවූ  ලේ රහිත කමින්.
අහෝ! මා ඇයව පෝෂ්‍ය කරයිනම්, නැති වන්නේ මා පමණි,
කෙසේ නම් ආදරය පරාජිත වේද කරද්දී යමක් තම සත්නට
යමින් අන්තයකටම පවා?" මෙසේ කියමින්, බෝසත්
නිහඬව පසෙකින් තබා සිය පාවහන් හා දණ්ඩ,
ඔහුගේ පුන නූල, ජටාව හා සළුව, පැමිණියේ පෙරටම






උග්‍ර තපෝ වෘත අත්හැර සිදුහත් තවුසා අජපාල නුගරුක් සෙවනෙහි වැඩ සිටියේය. ඔහු දුටු සුජාතා නම් කුළ කුමරිය ඔහු වෘක්ෂ දේවතාවකු යැයි සිතා කිරිපිඩු පූජා කළාය. සම්මා සම්බුදු බව ලබන්නට පෙර සිදුහත් කුමරු වැළඳූ අවසාන භෝජනය එය විය.




වැලිතලාවේ කිරි පඳුරු පිටුපසින්
කියමින් "හෝ! මැණියෙණි, මෙන්න ඔබට මාංස!"
මෙහිදී සාගින්නේ මියෙන්නා වූ සත්වයා හඩ නැගුයේ රළු තියුණු
හඬකින්,
පනිමින් තම පැටවුන් ලගින්, පෙරලමින් පොළවට
ඒ අභිමත ගොදුර, බොඳුන් කරගත්තේ ඔහුව
තම වක්වූ කිණිසි බඳු නියෙන්
ඉරා දමමින් ඔහුගේ මාංස, ඇගේ සියලු කහ ගැහුණු උල් දත්
නැවුණී ඔහුගේ ලෙයින්, ඒ යෝධ බැළලියගේ දැවෙන සුසුම්
මුසු විය ඒ නිභීය වූ ආදරයේ අවසන් සුසුම් හා.

එතරම් විසල් විය අප මහසත්ගෙ හදවත ඒ ඈත අතීතයේ,
දැන් පමණක් නොවේ, මෙසේ ඔහුගේ මහා කරුණාව තුළින්
ඔහු නතර කළේ රුදුරු බිලියාගයෙන් දෙවියන් පිදුම.
බිම්බිසාර රජුන් ද නේක පුද පූජා කළේ අප මහසතුන්ට -
දැන ගනිමින් ඔහුගේ රාජකීය වූ උපත සහ ඔහුගේ ශුද්ධ වූ සෙවුම -
ආරාධනා කෙරෙමින් රැඳෙන්නට පුරවරයේ, කියමින් නිබඳව:
"ඔබගේ කුමාර පැවැත්මට නොහැක උසුලන්නට ඔවැනි උපවාස;
ඔබගේ දෑත නිම වුණේ දරන්නට ජයකොන්තය, හිගනදන් මුළු
අතගාන්නට නොවේ
ප්‍රවාසය කරන්න මා හා, නොමැත මට පුතෙකු රජයට,
උගන්වන්න මා රාජධානියට නැණනුවණ, මා මියෙන තුරා
රැඳෙමින් මා මාලිගයෙහි ගනිමින් කරකාර සුන්දර මනාලියක්."
නමුත් මනස තහවුරු වූ සිද්ධාර්ථ නොසැලී කීය:
"මේ සියලු දේ මට තිබිණි, උතුම් මහරජුනි, හැර ගියෙමි ඒ සියල්ල,
සොයමින් සත්‍යය, තවමත් සොයන්නෙමි එය මම, සොයා ගන්නෙමි එය;
නොරඳන්නෙමි ශක්‍ර දෙවිඳුන්ගේ භවන ඇරුණත්
එහි මුතු දොරටු දෙවගනන් ආරාධනා කළත් එතුළට.
මම යන්නෙමි ගොඩනගන්නට රාජධානිය ධර්මයේ,
යන්නෙමි ගයාවට වනතුරු සෙවනට
එහිදී, මා සිතනා පරිදි, ආලෝකය පැමිණෙනු ඇත මා වෙත:
මන්ද යත් මේ ඍෂිවරුන් අතරේ නොමැත නැණ නුවණ







ඒ ආලෝකය, ශාස්ත්‍රවල ද නොමැත එය, උපවාසවල ද නොමැත
මිනිසුන් කරනා සිහිනැති වෙනා තෙක්, නිරාහාරව ආත්මයෙන්.
නමුත් ඇත්තේය ලගාවිය හැකි ආලෝකයක් දිනිය හැකි සත්‍යයක්;
සැබැවින්ම, සැබෑ මිතුර, මා ලබා ගතහොත්
පෙරලා පැමිණෙන්නෙමි, අත් හරින්න ඔබ ආලය."

මෙහිදී

තුන් යලක් කුමරුන් වටා පැදකුණු කළේ බිම්සර රජු,
බැතියෙන් නැමෙමින් මහසතුන්ගේ දෙපා වෙත,
යන්න අවසර දුන්නෙ යහතින්. මෙසේ ගියේ අප මහසත් ඉවත්ව
ඌරුවෙල දිසාවට, තවමත් නොසැනසී
සුදුමැලිවූ මුහුණින්, දුබලව සය අවුරුදු දුෂ්කර ක්‍රියාවෙන්.
නමුත් වන වදුලේ කඳු මත විසූ -
ආලාර, උද්‍ර, සහ තවුසන් පස්දෙනෙක් -
බලාපොරොත්තු තබා සිටියේ ඔහු වෙත, කියමින් සියල්ල ලියා ඇතැයි
පැහැදිළිව
ශුද්ධ වූ ශාස්ත්‍රයන්හි, කිසිවෙකුත් ජය නොගන්නා බව
ශ්‍රැති හා ස්මෘති වැනි ධ්‍යාන තත්වයන්ට වඩා - නැත,
නායක ඇඳුරන්ට පවා නොහැක! - කෙසේද මියෙන මිනිසා
නැණවත් වන්නේ ඥාන ස්කන්ධයට වඩා, එයයි පවසන්නෙ
බ්‍රහ්මගේ කය රහිත, කම් රහිත බව,
රාග රහිත, නිසල, අපරාජිත බව, නොවනස් වෙනා බව,
නිමල දිවිය, නිමල සිතුවිලි, නිමල ආනන්දය? කෙසේද මිනිසා
යහපත් වන්නෙ කර්මස්කන්ධයට වඩා,
එයයි පෙන්වන්නෙ මුදහරිනා හැටි ආශාව සහ ක්‍රියා
බිඳලන හැටි ආත්මයේ බැම්, එසේ මිදෙමින්
දෙවියන් වෙන හැටි, මුසුවෙමින් මහා දේවත්වයට,
පිඹිමින් මුසාවෙන් සත්‍යයට, අරගලයෙන් අවබෝධයට
සදාකාලික වූ සාමයට, නිසංසලත්වය වැජඹෙනා තැන?

නමුත් කුමරු අසා සිටියෙ උන්ගේ වදන් තවමත් නොසැනසී.






සම්බුදු බව ලබන්නට තමන්ට සෙවන දුන් බෝ රුක බලා යද්දී සොත්ථිය නම් බමුණා සිදුහත් තවුසාට කුස තණ පිළිගැන්වීය. ඒ තණ බිම අතුරා සිදුහත් කුමරා ඒ මත වැඩ හිටියේය.




## භයවන පොත

අ වසානයේ ආලෝකය උදාවන්නා වූ තැන දුටු ඔබ,
ගියේ වයඹතට "දහස් උද්‍යාන"යෙන්
ගංගානම් ගං නිම්නය ඔස්සේ ඔබේ පාතල තැබෙන තුරු
නීල කඳු මත නැගෙනා තැන නිවුන් ජලදහරා උල්පත් නිලාජන හා
මොහාන;
ඒ අනුව යමින් වක්වෙනා මග,
පුළුල් පත් යුතු මහෞ රුක් ගොමු සෙවනේ,
සංසර් හා වේවැල් පඳුරු අතරින්,
තලාවේ දිලිසෙන සහෝදරියන් හමුවෙනා තුරු
එල්ගු ගේ සයනේ, ගලා යන්නා වූ පාෂාණ පිරි ඉවුරු අසළින්
මෙතැනින් ගයාවට සහ රත්පැහැගත් බරභාර කඳු වෙත.
මෙහි ගංගාව ලගින් විහිදේය කටු පඳුරු සහිත නිසරු බිමක්,
පොරණ එය හැඳින්වුනේ උරුවෙලාය නමින්
බිඳුණු වැලිකඳු සහිත, එහි කෙළවර විය වනරොදක්
සයුරු නිලබඳු පත්‍ර වැනෙනා, මල් කැකුළු අහස් හරස් කරනා,
පහත පඳුරු ලතා අතරින් ගලා ගියෙ නිසල දිය දහරක්,
ලපලු වැටී නෙලුම් මලින්, නීල සහ සුදු,
සැදී හදිසියේ පීනන මසුන්ගෙන් හා කැසුබුවන්ගෙන්.
ඒ නුදුරේය සේනානී නම් ගම්මානය පෙන්වූයේ
එහි වහල්තල තණ පත්වලින් තැනූ, ගොනුවෙමින් තල් ගස් අතර,
සාමකාමී විය එය පොදු ජනයාගෙන් හා ගොවි දිවියෙන්.

එහි රුක් දෙවියන් හා හුදෙකලාවේ යළිත් වරක්
බෝසත් තුමෝ විසූහ, මෙනෙහි කරමින් දුක් වේදනා සියලු සතුන්ගේ,
දෛවයේ මාගී, පත පොතෙහි සඳහන් ධර්මතා,
ලඳු පඳුරු අතරේ විසූ සතුන්ගෙන් පාඩම්







මේ සියල්ල එළඹි ආරම්භයේ නිසලතාවයේ රහස්,
මේ සියල්ල යන්නා වූ අන්ධකාරයේ රහස්,
එ අතර ගැවසෙනා ජීවිතය, දේදුන්න සේ එල්ලෙනා
වලාකුළෙන් වලාකුළට අහස හරහා, එහි තිබිණී
ධූපිකා මීදුම් සෙල්කම් ලෙසින්, වීය ජලජධූම තීරස්ථාන,
යළිත් දියවී නැතිවී ගියේ ඒ සුන්දර දැකුම
නිල්මිණී, රතුකැට පච්ච පලිඟු පැහැයෙන්.
පොහොයෙන් පොහොයට අප මහසත් වැඩ සිටියෙ වනදහනෙ,
මෙනෙහි කරමින් මෙවන් දේ ගැන අමතක කරමින්
බොහෝ විට ආහාර වැළඳිය යුතු වේලාව, නැගෙමින් තම සිතුවිල්ලෙන්
අරුණටත් මධ්‍යාහ්නයටත් ඔබ්බෙහි දික්වූ
දකින්නට තම පාත්‍රය හිස්බව වැළඳුවේ නොකර නොහැකි හෙයින්
පලතුරු ඉහළින් වූ අතු ඉති අගින්
සෙලැවී බිමට වැටුණු දොඩන වඳුරන්ගේ අතින් හෝ
දම් ගිරවුන්ගේ හොටින්. මේ හෙයින් ඔහුගේ ශෝභනත්‍වය
කෙමෙන් ඇකී මැකී ගියේය, ඔහුගේ සිරුර වැය විණී සිතට දුන්
වදයෙන්,
දිනෙන් දින අතුරුදහන් විය සලකුණු දෙතිස
ඔහු බුදුවරයෙකු වෙන බව කියනා. හිගවූ පත්‍ර
සැලී වියළී වැටෙනා ඔහුගේ දෙපා මුල
ඉහළ වූ සල් අත්තෙන්, පෙන්වූයේ අල්ප වූ සමානත්‍වයකි
වසන්තයේ ලා නිලක එයටත් අල්පවිය ඔහු වෙත
පෙර වූ කුමර සුකුමාරත්‍වය මලක් බඳුවූ ඔහුගේ දේශයේ.
වරෙක මෙසේ අධිකව දුබල වූ කුමරු
ඇද වැටුනෙ පොළවට මරණීය මූර්ච්ඡාවෙන්, සහමුලින්ම වැය වී,
මිය ගිය එකෙකුසේ, හුස්මෙන් තොරව
රුධිරය ගමන් නොගනිමින්; සුදුමැලි වීය ඔහු,
අචල විය සහමුලින්. නමුත් ඒ මග පැමිණීයේ
ගොපළු කොලුවෙකු, දුටුවේය ඔහු සිද්ධාර්ථ වැටී සිටිනු
දෑස තරයේ පියා, නාම රහිත වේදනා රේඛා
දෙතොල මත ඇඳී - දැවෙන මධ්‍යාහ්න හිරු
ඇද හැලුනෙ ඔහුගේ හිස මත - කොලුවා නෙලා අතු






මාරයා සිය බල ඇණි ගෙන බුදු හිමියන්ට පටහැණිව නැගී සිටියේය. එහෙත් බුදු හිමියෝ මර සෙනග පරදවාලූහ.




වල් දඹ ගසකින්, ඍණව වියා ඒවා එකට
වියනක් සේ සෙවන කරන්නට ඔහුගේ උතුම් වුවන.
තවද ඔහු හෙළුවේ උතුමන්ගෙ දෙතොල මත
උණුසුම් වූ කිරි බිඳු, සිය එලිච්චියගේ බුරුල්ලෙන්,
අඩු කුලයෙහි වූ හෙයින් ඔහු, වරදක් නොකරන්නට සිතා
ඒ උසස් උතුම් ඇත්තාට. නමුත් පොරණ පුස්තක
පවසන්නේය එසේ සිටැවූ දඹ අතු
කඩිනමින් ජීවමානව පත්‍ර හා මලින් සැදුම් ලද හැටි
පලතුරෙන් වියමන්ව ළං ළංව,
මේ නයින් ඒ වියන වැඩුණේ සේද කූඩාරමක්සේ
රජෙකුගේ දඩයම් ගමනකදී නිමැවූ, සැරසුණු
රිදී ලියවැලෙන් හා රතු රන් අබරණින්
කොලුවා වැඳ වැටුණෙ මේ යම් දෙවි කෙනෙකැයි සිතා,
නමුත් අප මහසත්, යළිත් සිහි ලැබ, නැගිට ඉල්ලුවේ
ගොපළු කොලුවා ගේ පැසෙහි වූ කිරි මඳක්. "අහෝ මා සාමිනි,
එය ඔබට දිය නොහැකි" යැයි කොලුවා කීය; "ඔබ දන්නවා නොව
මම ශුද්‍රයෙක්මි, මගේ අතින් ඔබ කෙලෙසනු ඇති!"
ලොවම පුද ලැබූ ඔහු මෙවිට පැවසීය, "අනුකම්පාව ද, අවශ්‍යතාව ද
සියලු සතුන් නෑදෑ කරන්නේය. රුධිරයේ නැත කුලයක්
එය දුවන්නේ එකම වර්ණයකින්, නැත කුලයක් කඳුලෙහි,
එය ගලන්නේ ලවණ රසයෙන් හැම දෙනා වෙතින්; මිනිසා
නොඑළඹෙන්නේය ලොවට තිලක සලකුණු නලළත රඳවා,
හෝ පූණ නූල් ගෙල රඳවාගෙන. හොඳ ක්‍රියා කරන්නා
දෙවරක් උපදින්නේය. නපුර කරන්නෝ දුජීන වන්නෝය.
දෙන්නැ මට බොන්න, මා සොහොයුර, මා මගේ
ජයග්‍රහණයට පැමිණි කල්හි ඔබට ද යහපතක්ම වන්නේය."
මෙහිදී සතුටට පත්වූ ගොපළු හදවත, පිළිගැන්විය ඒ කිර.
තවත් දිනෙක මේ මගින් ආවෝ
මිණි කිංකිණි පැලඳි දැරියන් කංඩායමක්, නලගනුන් විය
උන් පුරවරයේ ඉන්ද්‍ර කෝවිලෙහි, ඔවුන් සමග
පැමිණියහ වාදකයෝ - එකෙක් වැයී බෙරයක්
මොණර පිල් ගැවසූ, එකෙක් වැයුවේය







බන් සුලි නලාවක්, තවකෙක් වැයී
තුන් තත් සිතාරයක්. සැහැල්ලුව පාතබමින්
පැමිණියෙ උන් විසිතුරුව මං පෙත් ඔස්සේ, වැටියෙන් වැටියට
යම් ප්‍රීති සැණකෙළියකට, රිදී සීනු
මුදු හඬින් සෙලැවුනේ උන්ගේ කුඩා දුඹුරු දෙපා වෙත
අත් සලඹ ද, වලලුද දුන්නේ පිළිතුරු ඒ හඬට උස් නදින්
සිතාරය අල්ලා සිටි එකා වයද්දී
එහි තඹ තත් සර, ඔහු අසළින් ආ එකිය ගැයුවාය.

සිතාරයේ තත් හරි හැටි ඇදී කළ නැටුම වේය නිසිසේ;
තාලම අදින්න අඩු හෝ වැඩි නැති සේ අපටා
එවිට නටන්නෙමු මිනිසුන්ගේ හද දිනන්නටා

වැඩියෙන් ඇදි තත බිඳෙයි සැනින්, සංගීතය යයි පියඹාළා;
අඩුවෙන් ඇදි තත ගොළු වන්නේ, සංගීතය මිය යන්නේ,
තාලම අදින්න අඩු හෝ වැඩි නැති සේ අපටා."

මෙසේ ගැයුවාය නළගන නලා හා තත් හඬට,
සැලෙමින් යම් කිසි උඩගු විචිත්‍ර සමනලයකු සේ
පඳුරෙන් පඳුරට වන රොද මාවත ඔස්සේ
සිහිනෙන්වත් නොසිතමින් ඇගේ සැහැල්ලු වදන් දෝංකාර දේ යැයි
සවනට
ඔහුගේ, ඒ තවුසාගේ, හිඳ සිටි සමාධියෙන්
ඇසටු ගස යට අඩි පාර අද්දර, නමුත් බෝසත්
ඔසවා තම උතුම් වුවන ඒ ලලිතයන් පියමං කරද්දී
මෙසේ පැවැසීය: "බොහෝ විට මෝඩයෝ උගන්වති උගතුන්ට,
මා වැර දරනවා වැඩිය මේ ජීවිතයේ තත මත, එසේම,
සිතමින් නිමවන්නට සංගීතය විමුක්තියේ,
මගේ දෑස බොඳ වේය දැන් දකිමින් සත්‍යය.
මගේ ශක්තිය මඳවිය අවශ්‍යතාවය දැඩිම වූ මේ මොහොතෙ;
ලැබුණා ද මා හට උපකාර මිනිසාට අවශ්‍ය පරිදි
මිය යන්නෙම් මම, හැරයමින් මේ දිවිය සියලු සතුන්ගේ
බලාපොරොත්තුව වූ."






මෙසේ සිද්ධාර්ථ තවුසාණෝ සම්මා සම්බෝධි පදවි ප්‍රාප්ත වූහ. එතුමාණන්ගේ මනස නිර්මලව පැහැදිලිව තැන්පත්ව දිදුලු දුන්නේය.




මේ ගඟ බඩ විසීය ඉඩම් හිමියෙක්,
භක්තිමත් වූත් ධනවත්වූත්, හිමියෙකු විය ඔහු නොයෙක් රැල,
ගුණවත් නායකයෙකු වී ඔහු, මිතුරෙකු ද විය දුප්පතුන්ගේ,
ඔහුගේ පෙළපතෙහි මේ ගමට ලැබුනේ නම -
"සේනානි". ප්‍රසන්නව සාමයෙන් විසී ඔහු
බිරිඳ නම් විය සුජාතා, අති සොඳුරු
විය ඈ සියලු අඳුන් නෙත් ඇති ගැමි දියණියන් අතරේ;
ශාන්ත හා අවංක වූවාය ඈ, සරල හා කාරුණික වූවාය ඈ,
උතුම් විය පෙනුමෙන්, කථා කරමින් හැමට දයාවෙන්
හා සුහඳ බැල්මෙන් - මුතුවක් විය ඈ ස්ත්‍රීත්වයේ -
ගෙවමින් සන්සුන් වසර ගෘහස්ථ ප්‍රීති ප්‍රමෝදයේ.
ඇගේ ස්වාමියා පසෙකින් ඒ නිසල භාරත නිවසේ,
එකම අඩුව වී තවමත් පිරිමි දරුවෙකු වාසනා නොවී ඔවුන්ගේ යුග දිවියේ
මේ හෙයින් බොහෝ යාතිකාවෙන්  ඈ යැද්දය
ලක්ෂමිය, බොහෝ රාත්‍රි හිඳී පුරසඳ අවරට ගිය පසු
ඈ පැදකුණු කළාය තබමින් ත්‍යාග, නව වරක් නවයක්,
ශුද්ධ වූ මහා ලිංගය වටා
බත් සහ පිච්ච මල් මාලා සහ සඳුන් තෙල්,
යදිමින් පුතෙකු පතා, තවද සුජාතාව බාරවූවාය
මෙය සැබෑ වුවවොත් පූජා කරන බව දානයක්
රුක් දෙවියාට, නොමද තරම්, ප්‍රණීත වූ
රන්වන් පාත්‍රයක බහා ඔහු වැඩ හිඳින ගසමුල,
දෙවියන්ගේ රසවිඳුම හා භෝජනය සඳහා
ඇගේ පැතුම ඉටුවිය; ඇයට උපනි
ලස්සන පුත් රුවනක්, දැන් තුන් මසක් විය දරුවාට,
සැතපුණ සුජාතාවගේ ලැම, ඈ පියමං කරද්දී
කෘතඥතා පූර්වකව පාදයෙන් රුක් දෙවියන්ගේ දොවොලට,
එක් අතකින් ඈ අල්ලා සිටියාය රන් සාරිපට
බිළිඳව පොරවමින්, එය විය ඇගේ ප්‍රමෝදයේ මිණ,
අනික් අත එසැවුනේ ලගන්නා සුළු අයුරින් වක්ව
රඳවන්න ඈ හිස මත පාත්‍රය හා තලිය







ඒ තුල විය දෙවියන් වෙනුවෙන් ප්‍රණීත භෝජන.
නමුත් රාධා, කලින් යවන ලද්දී බිම අමදින්නට
හා බඳින්නට රන් හුය ගස වටා,
පැමිණියාය උත්සුකව හඬනගමින්, "අහෝ! හිතවත් ස්වාමි දුවණියනි,
බලන්නැ!
අර රුක් දේවතාවුන් වහන්සේ වැඩ හිඳී ඔහුගේ තැන,
දෘශ්‍යමානව, දැත් නවා දෙදණ මත.
බලන්නැ ආලෝකය දිලිසෙන හැඩ ඔහුගේ හිස වටා!
කෙතරම් සෞම්‍ය ද කෙතරම් මහේශාක්‍ය ද බලන්නැ ඔහු,
දිව්‍යමය දෑස් සහිතව!
සැබවින්ම වාසනාවකි මෙසේ දෙවියන් හමුවීම."
ඉතින් - සිතමින් ඔහු දෙවියෙකැයි - සුජාතාව ලංවූවාය
සැලෙමින් ලගට, සිඹිමින් පොළොව මෙසේ කීවාය,
නමා සොඳුරු වුවන පහතට: "උතුම් වූ ඔබ
මේ රුක් ගොමුව වසන්නා වූ , යහපතම බෙදන්නා වූ,
කාරුණික වන්නාවූ ඔබේ මේ අතවැසි වූ මහට,
අනුදක්වමින් දැන් ඔබේ මේ පෙනුම පිළිගන්නේද
අපේ මේ දිළිඳු දානය, හිම මී කිරි, නැවුම්ව සැදූ
අලුත කැපූ ඇත්දළ සේ සුදෝ සුදුවූ කිරෙන්!"

මෙසේ පැවසූ ඈ රන් තලියට හැලුවාය
දී කිරිද, කිරි ද, බෝසතුන් අත් මතට
සැලුවාය සුවඳ පැන් පලිගු බඳුනකින් - ඒ දිය පෙරා
තිබුණේ සෙව්වන්දි මල හඳවතින්; ඔහු වැළඳුවේය
වදනකුදු නොදොඩා, ප්‍රීති වූ මැණිය සිටිද්දී
පසෙක බැතියෙන්. නමුත් ඒ අහරින්
කෙතරම් අපූර්ව විද යත් ගුණය අප මහසත්හට
දැනිණි ශක්තිය හා ජීවය යළි පැමිණෙනු, හරියටම
ඒ නිදිවරමින් ගත කළ රාත්‍රී හා උපවාසයෙන් ගත කළ දවස්
ගතවී ගියා සේ සිහිනයක, හරියටම විඥානයද,
ශරීරය ද හවුල් කර ගත්තා සේ ඒ රස අහර යළිත් ලබන්නට සේ
අලුත් පිහාටු සහිත පියපත්, හරියටම යම්කිසි ප්‍රමෝදිත






බුද්ධත්වයෙන් පසු පළමු සතිය ගත කරන ලද්දේ සිය සම්බෝධි ඥාණය ආවර්ජනය කිරීමෙනි.
දෙවෙනි සතියේදී බුදු හිමියෝ සිය කෘතඥතාවය පළකරමින් බෝ රුක දෙස බලා ගෙන උන්හ.




කුරුල්ලෙක් පැමුණුනා සේ හදිසියේ දිය දහරකට
ගමනින් වෙහෙසව, අනන්ත වැලිකතරක් උඩින්, සෝදාහරින්නට
කතරේ දූලි සිය ගෙළෙන් හා මෞලියෙන්.
සුජාතා තවත් පිදුවාය, දකිමින් අප මහසත්
වැඩෙනු පැහැපත් බවින්, ඔහුගේ වුවන තවත් ආලෝකමත් වෙමින්.
"ඔබ වහන්සේ දෙවියන්මද?" යි ඈ පහත් හඬින් ඇසුවාය,
"මා ගෙන ආ දානය සුදුසු වේද?"
නමුත් බෝසත් ඇසීය.
"ඔබ මා හට ගෙන ආවේ කුමක්ද?" යනුවෙන්.
"ශුද්ධ වූ උතුමාණෙනි!"
සුජාතාව පිළිතුරු දුන්නාය. "අපගේ රැලෙන් මම ගතිමි
කිරි සියයක් එළදෙනුන්ගෙන් මෑත පැටවුන් බිහිකළ
ඒ කිරිවලින් මම පෝෂණය කළෙමි සුදු එළදෙනුන් පණස් දෙනෙක්
අනතුරුව උන්ගේ කිරෙන් තවත් විසි පහක්, අනතුරුව
ඒ කිරෙන් තව දෙළොස් දෙනෙක්, යළිත් උන්ගේ කිරෙන්
අපගේ ගවරැල් අතරේ උන්ගෙන් හොඳම උතුම්ම සයදෙනාට පෙවීමි,
උන්ගෙන් ලද කිර මම උණු කළෙමි සඳුන් හා අගනා කුළුබඩු හා
රිදී බඳුනක, මුසු කරමින් සහල්, මනාව වැඩූ
තෝරාගත් වී ඇටයෙන්, අලුත හානා ලද බිම,
ඇහිලුවේ ඒ සහල එකින් එක මුතුසේ.
මා මේ සියල්ල කළේ බැතිමත් හදකිනි, මන්දයත් වුනෙමි මම බාරයක්
ඔබගේ මේ රුක යට, මට පුතෙකු උපනොත්
පූජාවක් කරන බව සතුටින්, දැන්
මට ලැබිණි පුත් රුවනක් මගේ දිවියම ප්‍රමෝද කරමින්!"

මුදු ලෙස අප මහසත් මැත් කළේ රන් සළුපට
තබමින් ඒ කුඩා හිස මත තම දෑත
ලොවටම උපකාර කරනා, මෙසේ පැවසීය: "ඔබේ ප්‍රීතිය දිගුවේවා!
දිවිමග බර සැහැල්ලු වේවා!
මන්ද යත් ඔබ උපකාර කළේය දෙවියෙකු නොවූ මා හට,
සොහොයුරෙකුම පමණි මා, මෙතුවක් කල් කුමරෙකු වීමි
නමුත් දැන් සැරිසරන්නෙක්මි, සොයමින් දිවා රෑ







මේ දුෂ්කරවූ සය අවුරුද්ද තුළ ඒ ආලෝකය කොතැනක හෝ දිලෙනා
ආලෝකමත් කරන්නට සියලුම මිනිසුන් ගේ අඳුර, දන්නේනම් ඔවුන්!
සොයා ගන්නෙමි මම ඒ ආලෝකය, එසේය දැන් ඒ උදාවිය
දීප්තිමත්ව උපකාරීව, මගේ දුබල සිරුරට කර කියාගත නොහැකි වද්දී
මේ නිමල බොඳුන්, යහපත් සොහොයුරිය, යළිත් ප්‍රකෘති කළේය මා
ඇදී නොයෙක් ආකාරයෙන් ජීවී තුළින් ප්‍රාණවත් කරන්නට ජීවිතය
ජීවිතය පවා ගමන් ගන්නා සේ නොයෙක් උපත් ඔස්සේ
වඩා ප්‍රීතිමත් උච්චස්ථානයන්ට, විශෝධනය කරමින් කෙළෙසුන්.
නමුත් සැබවින්ම ඔබ දකින්නේ ද මිහිරියාව
ජීවත්වීමෙන් පමණක්? ජීවිතය හා ආදරය පමණක් ඇතිවේද?"

සුජාතා මෙසේ පිළිතුරු දුන්නාය: "පූජනීය පමණක් ඇතිවේද?"
සුළුය, පොද වැස්සකින් පවා පිරෙන්නේය
හෙල්මැලි කොපුව, ඒ පොදයට නොහැකි වුවද කුඹුරක් පවා
තෙමෙන්නට.
මට ඇතිය විඳින්නට ඇත්නම් ජීවිතයේ හිරු කිරණ
දිලිසෙනු මා සැමියාගේ වුවන හා මා බිළිඳගේ සිනහා,
සඳනු ආදර වසන්තයක් අප නිවහන,
ප්‍රසන්නය මගේ ගෙවී යන දින පිරෙමින් ගෙදර දොර වැඩපලින්
හිරු උදාවේ මා අවදිව දෙවියන්ට වැඳ
සහලින් පුද, තුල්සී පඳුරු කප්පාදු කොට
මගේ මෙහෙකාරියනට වැඩ පවරා, හිරු මුදුන් වනතුරු
මෙවිට මා හිමි රඳවයි ඔහු හිස මා උකුලෙහි
නැලවෙමින් සුමුදු ගීතයෙන් හා වැනෙන අවන් පතින්;
මෙසේ එළඹේය රාත්‍රි බොඳුන නිසල සැඳෑවෙහි
මෙවිට මම ඔහු ළඟ සිට පිළිගන්වමි ඔහුට කැවුම්.
අනතුරුව තාරකා දල්වන්නේය ඔවුන්ගේ රිදී පහන් අපට
සැතපෙන්නට,
දෙවොලේ වැඳ පිදුම් හා මිතුරන් සමග කථා බහෙන් පසු..
කෙසේ නම් මා සතුටු නොවන්නද, මෙතරම් වාසනා ලද
වදමින් ඔහු වෙනුවෙන් මේ පුතු මේ කුඩා දෑත
පෙන්වන්නේය ඔහුගේ ආත්මයට ස්වර්ගයට මග, එසේ වී නම්
ගස්, මහීන්ගේ සෙවන සඳහා, කනින්නේ නම් ලිඳක්






තෙවන සතියේදී බුදු හිමියෝ රුවන් සක්මනක් මැවූහ. ඒ සිය ආධ්‍යාත්මික බලයෙනි. තෙවන සතිය ගත කෙරුණේ සක්මනෙනි.




ජනයාගේ සැපත උදෙසා, ලබයි නම් පුතෙකු,
එය යහපත් වන්නේය ඔවුන්ගේ මරණීන් මතු
ඉතින් පොතෙහි සඳහන් වෙන දේ, මම යටහත්ව පිළිපදිමි,
නැතිව වඩාත් නැණ නුවණ මහාත්ම වුවන්සේ පොරණ
ඔවුහු දෙඩුවෝය දෙවියන් හා, දත්තෝය යාතිකා හා මන්ත්‍ර,
හා මාගීයන් යහගුණයට හා සාමයට.
තවද මම සිතමි හොඳින් පැමිණෙන බව හොඳම
නපුරෙන් පැමිණේය නපුර - සැබවින්ම - සැමටම -
හැම තන්හි හැම කල්හි - දකිමින් මිහිරි එල
වැඩෙන හැටි පරිපුණී වූ මුල්වලින්, කටුක දේ
විස දෙයින්; එසේය, තවද දකිමින් ක්‍රෝධය
වඩනා හැටි වෛරය, කරුණාව ගෙනෙනා හැටි මිතුරන්, ඉවසීම
ගෙනෙනා හැටි සාමය අප ජීවත් වෙන අතරේ පවා, විය යුතු සේ අපි
මියෙමු. නැත්තේ ද යහපත්, "එවිට" සේම "දැන්ද?"
ඇතැම් විට වඩාත් හොඳින් මන්දයත් එක් සහල් ඇටයකින්
පැන නැගේය පච්ච පියපත් මිණී එබ්බුවා සේ මුතු පණාහකින්,
සුදු සහ රන් පැහැගත් තාරකා බඳු චම්පාවන්
රැඳෙති අර කුඩා, විවර අලුපැහැ වසන්ත කැකුළු තුළ.
ආහ්, උතුමාණෙනි! දනිමි විඳින්නට විය හැකි බව ව්‍යසන
සතපමි හිතැති ඉවසීම ඇගේ වුවන දූලි මත්තේ තබා
මගේ මේ දරුවා මුලින් මිය ගියහොත් මට සිතෙන්නේ මා හදවත
පැලී යාවි කියා - පතමි එවන් මොහොතක මගේ හදවත පැලේවා කියා!
එවිට මට හැකිය ඔහු තුරුළු කොට බලා ඉන්නට මා හිමියෙනි -
යම් කිසි ලෝකයක පතිනියන් වසනා -
යටහත්ව, රැක සිටිමි ඔහුගේ ද හෝරාව එනතුරු.
නමුත් මරණය පැමිණියා නම් සේනානි වෙත, මම නගිමි
ඒ දර සෑයට තබන්නෙමි ඒ දයාබර හිස මා උකුල මත,
හැමදාම සේ ප්‍රමෝදයට පත් වෙමින් ඒ ගිණි පන්දම,
දැල්වෙද්දී හදිසි දැල්ලෙන් පතුරුවමින් හුස්ම හිර කරනා දුම.
මන්ද යත්, ලියා ඇත්තේය මෙසේ, යම් භාරත බිරිඳක්
එසේ මිය ගියා නම්, ඇගේ ආදරය දෙන බව ඇගේ සැමියාගේ
ආත්මයට







ඇගේ හිස හැම කෙස් ගසකටම කෝටිය බැගින්
වසර ගණනාවක් ස්වර්ගය, මේ හෙයින් මම බිය නොවෙමි,
මේ හෙයින්, ශුද්ධ වූ උතුමාණෙනි! මා ජීවිතය සතුටු සහගතය,
කිසිසේත්ම අමතක නොකරමි මම අනෙක් ජීවිත,
වේදනා බර හා දුප්පත් වූ, පව්වූ හා කාලකණ්ණි වූ,
දෙවියන් දෙන්නේය උන්ට කරුණාව! නමුත් මම,
දකිනා හොඳම කරන්නට මම පෙළඹෙමි යටහත්ව,
ජීවත්වෙමි අවනතව ධර්මයට, විශ්වාසයෙන්
පැමිණෙනා දෙය, පැමිණෙනා බවත්, පැමිණෙනා බවත් හොඳින්."

මෙහිදී පැවසීය අප මහසත්, "ඔබ උගන්වන්නේය
ගුරුන්ටත්,
නුවණැත්තිය බුද්ධියටත් වඩා ඔබේ සරල උගැන්මේ.
සැහීමට පත්වන්නීය තවත් දැන නොගනිමින්, දනිමින් මෙසේ
හරිමග හා කටයුතු, වැඩෙන්න, කුසුම
ඔබගේ මිහිරි සමකයන් හා සාමකාමී වූ සෙවනෙහි -
සත්‍ය මධ්‍යාහ්නයේ ආලෝකය ලා දළු වලට නොවේ
ඒ දළු පැතිරී දැඩිමහත් විය යුතුය වෙනත් හිරු එළියේ.
අනාගත බවයන්හිදී ඔසවමින් කිරුළු පළන් හිසක් අහසට
මා නැමදී ඔබට නමදිමි මම!
මාහැගි හදවත! උගත්ති නොදැනීම,
පරෙවියා සේ නිවහනට පියඹන්නා වූ මග සොයා ආදරයෙන්
ඔබ තුළින් පෙනෙන්නේය මිනිසාට බලාපොරොත්තු ඇති බව
පෙනෙන්නේය ජීවන චක්‍රය අල්ලා සිටින හැටි අප අපගේම
අධිෂ්ඨානයෙන්.
යේවා සාමය ඔබ සමග, ලැබේවා දිනපතා සැපත!
ඔබ සමාජත වුවා සේම මම ද අත්පත් කර ගනිමින් ජය!
ඔබ දෙවියන් යැයි සිතූ මම මෙසේ ඔබට සුභ පතන්නෙමි."
"සාක්ෂාත් කර ගනිත්වා ඔබ." ඈ කීවාය, අවංක දෑසින්
යොමා ඇගේ බිළිඳ වෙත, බිළිඳ එසවී සියකොමල මුදු දෑත
බුදුන් දෙසට - දන්නා සේ, සියලු දරුවන් දන්නා සේ,
අප සිනහවාට වඩා, එසේ නැමැදුයේ ඔහු අප මහසත්:






සිවුවන සතියේදී බුදු හිමියෝ රතනඝරයක් මවා එහි වෙසෙමින් ගැඹුරු අභිධර්මය මෙනෙහි කළහ.




නමුත් උන්වහන්සේ නැගිට්ටේ - ඒ රසමසවුලෙන් ශක්තිමත්ව -
නමා දෙපා හිඳින්නට මහා වෘක්ෂයක් වැඩුණු තැන,
බෝධි වෘක්ෂය (මෙයින් පසු හැමදාටමත්
නොමැලවෙන්නාවූ, සදා ලබමින්
පුද පූජා ලෝකයාගෙන්), මේ පත්‍රයන් සෙවනේ
බෝසතුනට සත්‍ය පැමිණෙන බව සනාථ වී.
සම්බුදුන් ද දත්තේය මෙය; මෙසේ ඔහු ගියේ
සක්මන් කරමින්, අචලව, මහේශාක්‍යව,
බුද්ධියේ රුක් වෙතට. ආහ්, සියලු ලෝ!
ප්‍රීතිවන්න! අප මහසත් ගමන් ගත්සේක රුක වෙතට!
යත්ම මෙසේ ඔහු එහි අතිමහත් සෙවනට
ආශ්‍රමයක් සේ වටවූ එල්ලා වැටෙන කඳන් කුළුණෙන්, පියැසි වූයේ
දිලිසෙන පච්ච පත්‍ර ගොන්නෙන් - සිහිලද පෑථිවිය
වැඳ වැටුනේ රලනගන තණ පතින් හා හදිසියේ හටගත්
මලින් ඔහුගේ දෙපා අසල. වන අතු ඉති
නැමුණී ඔහුට සෙවන සදන්නට; ගඟ දෙසින් සුසුම්රලසේ ආවේ
සිහින් පවන් රල නෙලුම් සුවඳින් බරවී
ජලජ දේවතාවුන්ගේ හුස්මෙන්. විසල් විපරම් දෑස්
වන සතුන්ගේ - දිවි, ඌරු, මුව -
සාමයේ විය මේ සැඳෑවේ, බලා සිටියෝ උන්වහන්සේගේ කරුණාබර
වුවන දෙස
ලෙන් තුළින් ද ලඳු වෙතින් ද. එහි සීත සිදුරක දරණ ගසා සිටියේ
ලප වැටුණු මරණීය සර්පයෙක්, නටවමින් උගේ පෙණ ගොබය
අප මහසතුන්ට ගෞරව කරන්නට; ප්‍රභාමත් සමනල්ලු
සෙලැවූයේ උන්ගේ පෙරමුණු, නීල, පච්ච සහ රන්වන්
ඔහුගේ අවන්පත් දරන්නන්සේ; ප්‍රචණ්ඩ වූ උකුස්සා අතහැර
උගේ ගොදුර හඬ නැගීය, තුන් ඉරි ලේනා දිවුයේ තරගෙට
කඳෙන් කඳට බලන්නට, වියන කුරුල්ලා
ගී ගැයී උගේ පැද්දෙන කැදැල්ලෙන්; කටුස්සා දිවි,
කොවුලා ගැයී ඇගේ ගීතිකාව; පරෙවියෝ අවට රුස්වූහ,
බඩගානා ඇදෙනා සතුන් ද අවබෝධයකින් සතුටු වූහ,
මිහිපිට හා නුඹ ගැබ හඬ එක්විය එකම ගීතයකින්.







අසනා සැම සවනකටම එය කීවේ; "සමිඳු හා සුමිතුරු!
දයාකරුණාන්විත හා ගැලවුම්කාර! ඔබ, යටහත් කළ
සියලු තරහ සහ උඩගුකම්, ආශා සහ බිය සැක,
ඔබ හැම එකෙකුන්ට හා සැමට දුන්නේය ඔබ සියලු දෑ,
යමින් වෘක්ෂයට! ශෝකී වූ ලෝකය ඔබට ආශිර්වාද කරන්නිය
ඔබය බුදුන් ඇගේ වේදනා සිඳිනා.
යන්නැ, පෙරටම, ශුභසිද්ධ වෙනා ගෞරව ලැබූ! වෙරගන්න අප
වෙනුවෙන් අගටම,
නිරිඳුන් වූ හා සියල්ල ජයගත්තා වූ! ඔබගේ හෝරාව පැමිණියේය,
මෙයයි රාත්‍රිය යුගයන් පුල පුලා බලා සිටි!"

අනතුරුව පැතිරිණී රාත්‍රිය අප සමිඳු හිඳ සිටිය දී
රුක් මුල. නමුත් කුමරුන් වූ
අන්ධකාරයේ, මාර - හඳුනා මෙ බෝසත් බව
මිනිසුන් මුදා ගන්නා, දනිමින් මේ හෝරාව බව
ඔහු සත්‍යය සොයා ලොව ගලවා ගන්නා -
දුන්නේය අණ තම සියලු පව්වු බලයන්ට.
මෙවිට සියලු ගැඹුරු ආගාධයෙන්ම පෙළ ගැසී ආවේ
ඥානය හා ආලෝකය හා යුද කරන්නා වූ යක්ෂයින්
අරති, තෘෂ්ණා, රාග සහ ඔවුන්ගේ සහ පිරිවර
ආශාවේ, භීතියේ, අවිද්‍යාවේ සහ සරාගයේ
දෝමනස්සයේ සහ භීෂණයේ බුරුත්ත; සියලු දෙන වෛර කරමින්
ඔබට
සිතමින් සොලවා පොළඹන්නට ඔහුගේ මනස; කිසිවෙකු නොදන්නේය
ඉතාම බුද්ධිමත් වුවන් පවා, ඒ නිරයේ යකුන්
සටන් කළ හැටි වලකන්නට ඔබව සත්‍යයෙන්:
ඇතැම් විට උන් මැව් භීෂණයේ කුණාටු, ප්‍රහාරයන්
හූත බල ඇණීවල වලා කළඹවමින් සියලු සුළඟ,
ගිගුරුම් සහිතව, අන්ධ කරනා විදුලි සර ඇදුනේ
කඩතොලු සහිත හෙල්ල සේ දම්පැහැ රෝෂණයෙන්
බෙදී විවර වූ අහසින්, ඇතැම් විට ප්‍රයෝගයෙන් හා වදන්
යහපත් සේ ඇසෙනා, සරසරගානා කොළ අතු අතරේ හා මඳ පවනේ
මායාකාරී වූ සුන්දරත්වයේ හැඬවලින්; රාගනිශ්‍රිත ගීතයෙන්






මාර දුහිතෘන් තිදෙනා වන තණ්හා, රති, රගා සිය රැඟුමෙන් බුදුහිමියන් පොළඹවාලන්නට ප්‍රයත්න දැරූහ. බුදුහිමියන් විසින් සිය පියාණන් වන මාරයා පරදවන ලද හෙයින් තමන් විසින් බුදුහිමියන් පරදවා ලිය යුතුයැයි ඔවුහු දැඩි ලෙස ඇදිටන් කර සිටියහ.




ආදරයෙ මිමිණිල්ලෙන්; ඇතැම් විට රාජකීය වූ පෙළඹවීම් වලින්
පාලනයේ පොරොන්දු දෙමින්; ඇතැම් විට සමච්චල්කාරී සැකයෙන්,
කෙරෙමිනා සත්‍යය අසාර. නමුත් මේ සියල්ල ඇද හැලෙද්දී
පෙනෙමිනා හා නොපෙනෙමින්, ඇතැම් විට බුදුන්
වෙරදරද්දී බිඳ වැටුණු දිරියෙන් හද ගැඹුරේ,
ඔබම තීරණය ගන්න - මා ලියන්නේ පොරණ පොත්වල ලියූ දේමය.
දස බිම්බර කෙලෙස් පැමිණී - මරුගේ බලගතුම වුවන්සේ,
පාපයේ දෙවගනන් - පළමුව අත්තවාද,
මමත්‍වයේ කෙලෙස්, දකින්නීය ඇ විශ්වයේ
තම වුවන පිළිඹිඹු වනසේ
හඬගා කියන්නිය "මම" ලොවම ලවා කියවන්නීය "මම",
සියල්ල වැනසුනත් කම් නැති ඇ රුදෙයි නම්.
"ඔබ බුදුන් නම්" ඇ කීවාය. "අන් අයට ඉඩ දෙන්න
අතපතගාන්න අඳුරේ, ඇතිය ඔබ ඔබ වී නම්
නොවෙනස්ව; නැගිට අරගන්න ප්‍රමෝදය දෙවියන්ගේ
නොවෙනස්වන්නා වූ, නොසොයන්න. වෙර නොදරන්න." නමුත් බෝසත්
දෙසුහ,
"ඔබගේ ඇති "හරි" ය පහත්ය, වරද සාපයකි,
වංචා කරන්නේය ආදරයට පවා." අනතුරුව පැමිණීයේ
පාණ්ඩුවූ සැකයයි,
ඔහුය නිෂේධ කරන්නා - සරදම් කරන්නා වූ පාපය - මෙය ඔහුගේ
කනට පිඹිමින් සමිඳුන්ට කීය; "සියල්ල සංදර්ශනයන්ය,
උඩගුකම නම් ජීවායේ සාඩම්බරත්‍වයේ අවබෝධයයි,
ඔබ එලවා යන්නේ ඔබේම සෙවනැල්ලයි;
නැගිට යන්න මෙතැනින්, හොඳ වූ මගක් නොමැත
නිග්‍රහ ලද ඉවසීම තරම්, නොමැත මිනිසාට සරණක්,
නොහැක නවතන්නට ඔහුගේ කැරකෙන්නා වූ චක්‍රය."
නමුත් අප මහසත් මෙසේ පැවසී, "මට ඔබෙන් වැඩක් නැත,
මුසාවූ විචිකිච්ජාව, ඔබය මිනිසාගේ සියුම්ම සතුරා."
තෙවැනියට පැමිණීයේ අඳුරු විශ්වාසයන්ට බලය දුන් ඇත්තිය,
සීලබ්බත පරාමාස - මායාකාරිය,
නොයෙක් දෙස සැරසී පැහැදුල් සළුවෙන් පහත් වූ භක්තිය ලෙසේ,







නමුත් සද කවයක ගෙවමින් ආත්මයන් පුද පූජා හා යාඥාවලින්
ඇයය යතුර බාර ගත්තී නිරයයන් දොරගුල්ලා වසා
ස්වර්ගයන්හි දොර හරින්නට. "නැත් කරන්නේ නුඹ," ඈ කීවාය,
පසෙකට ලා අප ශුද්ධ වූ පොත්, සිහසුනෙන් පලවා අප දෙවියන්,
ජන රහිත කරවා අප පන්සල්, දෙවොල්, දෙදරා හෙලන්නද
අපගේ ඒ ධර්මය, පෝෂිත කරනා පූජකයන් හා කරුගසනා රාජ්‍යයන්
නමුත් බෝසත් පිළිතුරු දුන්හ; "ඔබ මට තබා ගන්නැයි ඉල්ලන්නේ
ගෙවී ගතවී යන නිමේෂයන්ය, නමුත් නිදහස් සත්‍යය නැගී සිටින්නේය
පලයන් නුඹ නුඹේ අඳුරට." අනතුරුව පැමිණියේ
වික්‍රමාන්විතව ලගටම නිර්භය වූ පොළඹවන්නෙකි, ඔහු විය
කාම, රාගයේ රජු, ඔහුට බලය තිබිණි
දෙවියන්ට ඉහළින් පවා, නිරිඳු විය ඔහු සියලු ආලයන්ගේ,
පාලකයා විය ඔහු ආනන්දයේ රාජධානියේ. සිනාසෙමින් ඔහු පැමිණියේ
ගස වෙතට, අතින් ගෙන ඔහුගේ රන් දුන්න
සරසවා රතු කුසුමෙන්, හීසරද ගෙන ආශාවේ
උල්වූ පස් දිව සහිතව සියුමැලි ගිණි දලු දෂ්ඨ කරනා
හදවතට එය තියුණුව පහර දෙන්නේ විස කටුවකටත් වඩා සැරෙන්;
ඒ හුදකලා තැනට ඔහු වට කොට පැමිණියේ
දීප්තිමත් නිම්මිතයන්ය දිව්‍යමය දෑස් හා දෙතොල් සහිතව
ගයමින් සොඳුරු වදනින් ආදරයේ අරුම
අදිසි සොඳුරු ස්වර මාලාවෙන්,
කෙතරම් මෝහනීය වීදයත් එය, රාත්‍රිය එක තැන නතර වුණා සේය
උන්ට සවන් දෙන්නට, තවද සවන් දුන් තරු හා සඳු
නැවතිණි තම මණ්ඩලයන්හි උන් ගයද්දී බුදුන්ට
උන්වහන්සේ හැරදා ආ ප්‍රමෝදයන් ගැන, ගැයී උන් පුහුදුන් මිනිසාට
සොයාගත නොහැකි බව වෙනත් හිතාදර සුවඳැති පියකරු තරම්
සොඳුරියන්ගේ, ලා රත් ලැම කුසුම්,
වීය ආදරයේ රතු කැට; නැත, නැත වෙනත් උතුම් පහසක්
මධුර එකමුතුව තරම් නිම්මිතසේ
පෙනෙන්නා වූ රේඛාවන්හි හා සුන්දරත්වයේ චිත්තාකර්ෂණයන්
වදනින් විස්තර කළ නොහැකි වුවද, දොඩන්නේය හදින් හදට
අයත් වී බඳනා රුධිරයෙන්, පුද දෙමින් කැමැත්තෙන්ම






බුදුහිමියෝ සයවන සතියේදී බෝ මැඩ වැඩ සිටියහ. එවිට මහා වර්ෂාවක් වැටෙන්නට වන්නේය. මෙහිදී මුචලින්ද නම් නාග රාජයෙක් සිය පෙණ ගොබය විහිදුවා බුදුහිමියන්ගේ හිසට සෙවන සැලසීය.




පනිමින් එය ග්‍රහණය කරන්නට, දනිමින් මෙය බව හොඳම,
මෙයයි සැබෑ දෙව්ලොව මිනිසුන් දෙවියන් සේ වෙනා
නිර්මාණකයන් හා ස්වාමීන් වෙනා, මෙයයි ත්‍යාගයෙන් ත්‍යාගය
සඳ අලුත් වෙන්නා වූ දහසක් ව්‍යසන වටින්නා වූ.
කවුරුන් නම් දුක් වෙයිද සුමුදු දෑත් මැද සුරුවම් වෙනා,
මුළු දිවියම දියවී යද්දී ප්‍රීති සුසුමක,
මුළු ලෝකයම වෙද්දී ප්‍රීති එකම උණුසුම් හාදුවක?
මෙසේ ගැයුවෝය උන් සෙමින් පාවෙමින් සැලෙනා හඩ ගානා දැතින්,
දෑස් දල්වා ආදර සිළුවෙන්, පොළඹවන සිනහවෙන්,
කෝමල නැටුමෙන් ඔවුන්ගේ බුහුටි ලපැත්ත හා දෑත දෙපය ද
වරෙක හෙළිවෙමින් වරෙක සැඟවෙමින් පිපෙන කැකුළු සේ
තම වරුණ කියමින් නමුත් තම හදවත් සඟවමින්.
එකිනෙක පරයන ලාලිතයන් පිනවිය දෑස
බුරුතු බුරුතු පිටින් මෙම මධ්‍ය නිශාවේ නළඟනන් රඟද්දී
ගස මුලට ලංව, හැම එකියකම මනහර විය කලින් එකියට වඩා
මුමුණමින් කීවාය, "ඕ, මහා සිද්ධාර්ථ! මා ඔබගේය,
මා මුව දිව ගා බලන්නැ කුමරි දිවිය රසවත් ද කියා!"
තවද මේ කිසිවකිනුත් නොසැලුන කල්හි අප හිමියන්ගේ මනස,
අහෝ! කාම වැනීය තම විශ්මය දුන්න, අහා! බලන්නැ!
නළඟනන් මැත්වී, එක් සේයාවක්
පැහැපත්ව විරාජමානව කැපී පෙනෙමින් අනික් උන් මැදින් පෙරට ආ කල
මවාගෙන රුව සොඳුරු යශෝධරාවගේ.
සුකොමල විය ආශා ඒ අඳුන් දෑසේ
කඳුලින් පිරුණු; දෑත් විහිදුවා බැගෑබරව
ඔහු වෙතට, සංගීතමය විය ඒ කෙඳිරිය
ඒ සොඳුරු සේයාව මුමුණද්දී ඔහුගේ නම,
සුසුමකින්, "මා කුමරුනි! මම මියෙමි ඔබ නැතිව!
සොයා ගත්තේ කුමන නම් දෙව් ලොවක් ද අප දැන සිටියා බඳු
ඒ ප්‍රභාමත් රෝහිණී ගඟ බඩ ආනන්ද මන්දිරයේ
මේ සියලු වසර තිස්සේ ඔබ වෙනුවෙන් මා වැලපෙනා තැන
යළි එන්න, සිද්ධාර්ථ! අහෝ යළි එන්න! අල්ලන්න







මා දෙතොල යළි, ඉඩ දෙන්න මට ඔබේ පපුතුර සැතපෙන්න
එක් වතාවක්, එවිට මේ එල රහිත සිහින අවසන් වන්නේය!
ආහ් බලන්න! මා නොවේද ඔබ ආදරය කළ?" එහෙත් බෝසත්
පැවසීය:
"ඇගේ ඒ සොඳුරු බව වෙනුවෙන් රඟන්නේය නුඹ
පැහැපත් හා මුසාවූ සේයාව, ඔබගේ රංගනය අසාරය නිරර්ථකය;
මම සාප නොකරමි නුඹට ඔබේ දයාබර නිම්මිතය හඳුනා,
නමුත් නුඹ සේම වේය සියලු මිහිමත රංගන.
දියවෙයන් යළි නුඹේ ශූන්‍යත්වයට!" මෙවිට හඬක්
පිනවා ගියේය වදුළ ඔස්සේ, ඒ සියලු සොඳුරු රූ
බොඳවී ගියේ සැළෙන දුමාරයන් හා ඇදී යන ධූම කෙඳි මැද.
අනතුරුව අඳුරු ගැහෙනා අහස් කුසයට
නැගෙනා කුණාටු හඬ මැද පැමිණියේ වඩාත් දරුණු පාපයක්,
දස අකුසලෙහි පසුපසින්ම ආ, පටිඝය - වෛරය -
සර්පයෙක් දරණු ගසා ඇගේ හිණවට, උන් උරන්නේය
විසවූ කිරි ඇගේ එල්ලෙන දෙතනින්ම,
ඇගේ සාපයන්ට මුසුවන්නේය උන්ගේ ප්‍රකෝප සූ හඬ.
ඒ උතුමන් වෙත ඇ ක්‍රියා කළා නම් මඳකිනි
ඔහු සිය නිසල දෑසින් ගොළු කළේය ඇගේ කටුක දෙතොල
ඇගේ කළු සර්පයන් වෙව්ලුවා සඟවන්නට උන්ගේ දළ.
අනතුරුව පැමිණියේ රූප රාග - දිනකර ආශා -
ඒ කාමනීය අකුසල ජීවිතයට ඇති ගිජු බවින්
අමතක කරන්නේය ජීවත් වන්නට;
ඔහුට අනතුරුව එළඹියේ කීර්තියට වූ ආශාවයි,
වඩාත් ආයජිවූ අරූපරාග - ඇගේ දැහැන
මෝහනය කරයි නැණවතුන් පවා, මාතාවය ඇ ප්‍රගල්භ ක්‍රියාවන්හි
යුද්ධයේ හා පරිශ්‍රමයේ, පැමිණියේය උඩඟු මනෝ
අහංකාරයේ යක්ෂයා, අනතුරුව මටසිලුටුවූ ආත්ම ධර්මිෂ්ඨත්වය,
උද්ධච්ච; අනතුරුව - සමූහයක් ඝොරතර
තුච්ඡ වූ අරූපී වූ, උන් රිංගමින් තටු සැළුහ
ගෙම්බන් සේ, වවුලන් සේ - අවිද්‍යා, එයයි වේල්ල
හීතියේ හා වරදෙහි, අවිද්‍යාව, විරූපී මැහැල්ල






බුදුහිමියන්ට පළමු ආහාරය පිරිනමන ලද්දෝ තපස්සු භල්ලුක නම් වෙළඳ දෙබෑයන්ය. බුදු හිමියන්ගේ පහන් සිරිය දුටු ඔවුහු පැහැදී බුදුහිමියන්ට දන් පිරිනැමූහ. බුදු හිමියෝ දන්




ඇගේ පිය සටහන් තවත් අඳුරු කළේය මැදිරැය,
මුල් බැසගත් කඳු පවා සෙලැව්ණී, ප්‍රචණ්ඩ සුළං උඩුබුරැලෑය,
බිඳුණු වලාකඩ ඔවුන්ගේ ගුහා කුහරවලින් ඇද හෙලී දහරාවන්
          - ආලෝක වරුසාවේ, තාරකා විදිණී දෙව්ලොවින්,
සව්බල වූ දෙරණ වෙව්ලුණී හරියටම යම් කෙණෙක් තැබුවාසේ
ගිණී දැල්ලක් ඇගේ විවර වූ තුවාලයන්ට; ඉරුණු කළු වා ගැබ
පිරුණී සිවුරුවම් කරනා සුළඟින්, විලාප හා අදෝනාවෙන්
එබී බලනා අනිටු වුවනින්, පෙන්වනා විසල් පෙරමුණු
බියකරු වූ විරාජමාන වූ, අධිපතීන් වූ අපායේ
උන් දහසක් පරලෝකයන්ගෙන් දැක්කුවේ තම සේනාවන්
පොළඹවන්නට සම්දුන්.
          නමුත් බෝසත් අවනත නොවී,
හිඳ සිටියෙ ශාන්තව, පිරිපුන් යහගුණ පවුරු බඳවා
බලගතුව එහි දොරටු හා පවුරු මං;
තවද පූජනීය වූ වෘක්ෂය - බෝධිය වූ
නොසෙල්විණී මේ සියලු ආරවුල් මැද, නමුත් සැම පත්‍රයක්ම
දිලිසුණී නිසලව පුරසඳ රාත්‍රීන්හි සේ
පශ්චිම පවන් නොහිරවයි දිලියෙන මිණී පින්නෙහි;
මේ සියලු ඝෝෂා සැර වියරු වූවේ
රුක් කඳන්වලින් සැදි තපස් සෙවනට පිටතිනි.
          තුන්වන යාමයෙහි,
මිහිකත නිසලවෙද්දී, යම සේනා පළා ගියාහ,
මුදු පවනක් ඇදිණී සුසුමක් සේ ගිලෙනා සඳුගෙන්
අප මහසත් අත් කරගත් සම්මා සම්බුද්ධිය; දුටුවේය ඔහු
ආලෝකයකින් පුහුදුන් අපට ඔබ්බෙන් දිලිසෙනා
ඒ රේඛාව ඔහුගේ සියලු පෙර ජීවිත ගමන්ගත් හැටි සියලු ලෝකයන්හි,
ඈතට, ඉතා ඈතට, තව තවත් ඈතට,
ජීවිත පන්සිය පණහක්. කෙනෙකුන්
වෙහෙස නිවද්දී කඳු මුදුනක, දකින්නාසේ
තමා ආ මග නැගෙමින් වක්වෙමින් නිර්මිත හෙල් හා විවර අසළින් -
පසු කරමින් ආ ගණ වන දහන් හැකිලී කුඩා ලඳු ලප්ප සේ, මඩ
ගොහොරු







දිලිසුනේ මුසා - නිලකින්; පාත කුහරයන්හි ඔහු වෙහෙසුනේ
හුස්ම ගත නොහැකි තරමට; හිස බමවන කඳු ගිරිවෙත
පැකිලුනේ ඔහු පය ලිස්සා වැටෙන්නට මෙන්, හිරු දිලෙන
තැනිතලාවන්ට ඔබ්බෙහි,
විය මහා ජල කඳ ගල්ලෙන හා පොකුණ,
යළිත් ඈත අර අඳුරු තලා ඔහු උපන් තැන සිට ලංවන්න නිලට -
මෙසේ බුදුන් මෙනෙහි කළේ
ජීවිතයේ නැගෙන පියපෙළ දිගුවූ සබඳතා, පහත් තැන සිට
සුසුම පදනම් කොටගත්, උස් බැවුම් වෙතට, හා එතැනින් ඉහළට
දසපාරම් බලා සිටිනා තැනට කැඳවා යන්නාවූ
නගින්නා අහසතට. තවද බුදු හිමි දුටුවේය
අලුත් ජීවිත නෙලාගන්නා හැටි පරණ ජීවිත වැපුරු දේ;
එහි ගමන බිඳෙනා තැනින් අලුත් ගමන ඇරඹෙනා හැටි;
අල්ලා ගෙන ලාභ ලැබූ දේ පිළිතුරු සපයමින් නැතිවූ දේට;
දුටුවේය ඔහු හැම දිවියකදීම හොඳ උපදවන හැටි තවත් හොඳ,
නපුර මවන හැටි තව තව නපුර; මරණය වාත්තු කරනා හැටි
අය සහ වැය; මෙහිදී ගිණුම
පින් සහ පව්වලින් මුදා තබන්නේය තමා වෙතම
නිවැරදි ගණිතයෙන් - සුලුවූ දෙයක්වත් නොහැලෙන්නේය මෙහිදී -
සියල්ල සහතිකය සාධාරණය, හැම යම් අලුත් ජීවයකම;
ඒ තුළ ගොනුවී ඇත්තේය ගිණුම් තබා පසුගිය සිතුවිලි සහ
ක්‍රියා,
සියලු වැරවිරිය හා ජයග්‍රහණයන්, මතක හා සලකුණු
පෙර ගෙවී ගිය ජීවිතයන්හි:

මජ්ඣිම යාමයේදී

අප මහසත්හු අත්පත් කරගත්හ අභිඥා - විසල්වූ විදසුන්
පැතිරෙනා වූ මේ තලයෙන් ඔබ්බෙහි නොයෙකුත් නාම රහිත තලයන්ට,
සංයෝජන මත සංයෝජන, අසංඛ්‍යෙය ලෝක සහ සූර්‍යයන්
ගමන් ගන්නාවූ පුවරතර තාලයෙන්, ශ්‍රේණියෙන් ශ්‍රේණියට
බැඳෙමින් විචි බෙදුමෙන්, එකක් මුත් වෙන් වෙන්ව
රිදී දුපත් නිල්මිණි සාගරයක
ඉවුරු රහිත වූ, ගම්භීර වූ, හීන නොවූ, කැළඹෙන්නාවූ






බුදු හිමියන් තමන් වෙත එනු දුටු පස්වග මහණහු බුදු හිමියන් සමග කතා නොකර සිටින්නට
කතිකා කොට ගත්හ. එහෙත් බුදුහිමියන් කෙමෙන් කෙමෙන් සමීප වත්ම ඔවුන්ගේ අදිටන පිරිහී




රළ පහරෙන් පෙරළෙනා අතොරක් නැතිව වෙනස නම්වූ වඩබාදියේ
දුටුවේය ඔහු ඒ ආලෝකයේ අධිපතීන් අල්ලා සිටිනා තම ලෝක
අදිසිවු බන්ධනයන්ගෙන්, දුටුවේය උනුන්ද,
කැරකෙනා හැටි යටහත්ව වඩාත් බලගතු මණ්ඩල වටා
ඒවාද පිදුවෝ තවත් වඩා ගම්භීර වූ ඉසුරන්, තරුවෙන් තරුවට
දිලිසුවමින් අතොරක් නැති ප්‍රභාව ජීවිතයේ
නාභීන් කෙමෙන් විසිරෙමින් වළලුවලට
නොදනිමින් කෙළවරක්. මේ සියල්ල දුටුවේ ඔහු
අමුද්‍රිත දසුනින්, ඒ සියලු ලෝකයන්හිම
කාල මණ්ඩල මත පිටස්තර කාල මණ්ඩල, ඒ සියල්ලෙහි වත්ථුකථා
කල්පයන්හි, හා මහා කල්පයන්හි - කාල පරිමාණයන්
කිසිදු මිනිසෙකු මෙතෙක් ග්‍රහණය කර නොගත්, එසේය දත්තද ඔහු
ගින්නට සියලු දිය බිඳු ගංගා නම් ගඟ උල්පතේ සිට සයුර දක්වා,
ගණන් තැබිය හැකිවූ වදනින් - කිනම් විදියෙන්ද මේවා වැඩෙන්නේ
හීනවන්නේ; කිනම් අයුරින් ද මේ හැම දිව්‍යමය රාශියම
ඉටු කරන්නේ සිය ප්‍රභාවත් දිවිය හා මියෙන්නේ අඳුරු කුටියක.
සක්වලෙන් සක්වලට, ගැඹුරෙන් මුදුනටම ඔහු ගමන් ගත්තේය
නීල අනන්තය ඔස්සේ,
සටහන් කර ගනිමින් - සියලු ප්‍රකාර පසුපස, සියලු පරිමණ්ඩල ඉහළ,
සියලු ලෝකවල දැවෙනා වේගයන්ට එපිට -
එම ප්‍රතිෂ්ඨ වූ නියෝගය නිහඬව ක්‍රියාකරනා හැටි සිය මනාපය.
නික්මවමින් අඳුර ආලෝකයට, මරණය ජීවිතයට,
ශූන්‍යත්වය පූර්ණත්වයට, තවමත් අනාකෘති වූ දෙය මූර්තියට,
හොඳ වඩාත් හොඳට, වඩාත් හොඳ දේ ඉස්තරමට,
වදන් රහිත ආඥාවකින්; නැතිව කිසිවෙකුත් මඟ කියන්නට,
නැතිව කිසිවෙකුත් තහනම් කරන්නට, මන්දයත් මේ සියල්ල දෙවියන්
අභිබවා යන්නේය.
අවිකාරව, අවචනීයව, සර්වාධිපතිව,
බලයකි එය නිර්මාණය කරනා, බිඳ හෙලනා, යළිත් ගොඩනගනා,
පාලනය කරමින් සියල්ල නියමයට අනුව
සදාචාරයේ, එයයි අලංකාරය, සත්‍යය සහ භාවිතය
මෙසේ බලයට සේවය කරනා සියලු දෙය යහපතින් වැජඹේය,







අවහිර කරනා දෙය නපුරට පත්වේය; නැත, පණුවාට හරියාය
තම ජාතියට කීකරුවන්නාවූ; උකුස්සාට හරියාය
තම පැටවුන්ට ලේ ගලනා ගොදුරු ඔසවායන,
පිණි පොදද තාරකාවද එකසේ බැබලේය සහෝදරත්වයෙන්,
එක්ව ගෝලීය වෙමින් පොදු ක්‍රියාවලියෙහි;
මිනිසා, ජීවත්වන්නාවූ මියෙන්නට, මැරෙන්නේය යහතින් ජීවත්වීමට
ඉතින් ඔහු තම ක්‍රියාවන් හසුරුවයි නම් දෝෂ රහිතව
හා ඒකාන්තවූ අධිෂ්ඨානයෙන් අවහිර නොකර උපකාර කරන්නට
වේදනා විඳින සියලු ජීවීන්ට ලොකු මහත්වූ හා කුඩාවූ,
මෙයයි දුටුවේ අප මහසත්හු මජ්ඣිම යාමයේදී.

නමුත් චතුර් යාමය පැමිණි විට එළඹියේ රහස
ශෝකයේ, එයයි නපුරෙන් පලුදු කරන්නේ ධර්මතාව,
හරියටම තෙතමනය හා යබොර පසුබාවන්නා සේ රන්කරුවාගේ
ගින්න.
මෙහිදීය දුක්ඛ සත්‍යය ඔහුට විවර වුණේ
පළමුවැන්නය එය "ආර්‍ය සත්‍යයන්ගේ"; ශෝකය
සේයාවක් වන හැටි ජීවිතයට, යමින් දිවිය යන යන තැනට;
පසෙකින් තැබිය නොහැකිය මෙය කෙනෙකුන් තබනා තෙක්
ජීවත්වීම පසෙක, එහි සියලු වෙනස් වෙන අවස්ථා සහිතව,
උපත, වැඩීම, ජරාව, ආදරය, වෛරය, ප්‍රමෝදය හා ප්‍රසන්න
සන්තාපයන්
දැනුම නොමැතිව අවබෝධ කරගන්නට මේ හැම මළ පුඩු බව; නමුත්
දැන ගන්නා අප
අවිද්‍යාව - මුලාව - අටවනා බව මෙම උගුල්
තවදුරටත් ඇල්ම නොකරමින් ජීවිතයට සොයයි ගැලවීමේ මග.
මෙබඳු අයගේ දෑස් විවරය; ඔහු දකින්නේය
අවිද්‍යාව වඩන හැටි සංඛාර, ස්වභාවය
මුරණ්ඩුවූ; ස්වභාවයේ ඉන්ධන - විඥාන -
මෙයින් පැමිණේය නාම රූප, ස්ථානික හැඩ
නාම සහ ස්වරූප, ගෙන එමින් මිනිසාව
ඉන්ද්‍රියයන් සහිතව විවරව සිහිනුවණ ඇත්තාට
අසරණ වූ පිළිබිඹුවකි ගෙවී යන සියලු දර්ශනයන්හි






බුදු හිමියෝ සිය ප්‍රථම ධර්ම දේශනය පැවැත්වූයේ පස්වග මහණුන්ටයි. ඒ දේශනාව නම් ධම්ම චක්ක පවත්තන සූත්‍රයයි. එය ඉසිපතනේ මිගදායේදී පැවැත් වින. මංගල දේශනාව ඇසූ භද්දිය,




ඔහුගේ හදවත හරහා; මෙසේ වැඩෙයි වේදනා -
"ජීව - ඉන්ද්‍රිය -" මුසාය එහි සතුට. ශෝකයේ ගැල්වුන,
සතුටේ හෝ දුකෙහිදී, ආශාවේ මාතාව,
වෙයි තෘෂ්ණාව, එයයි පවස ජීවත් වන්නවුන්ට බොන්නට පොළඹවන
තව තවත් ගැඹුරට බොරු ලවණ රැල්ලෙන්
පාවෙමින් එහි - සැපතෙහි, යශස්කාමයේ, සම්පතේ,
ප්‍රශංසාවේ, කීර්තියේ, ඒ නැත්නම් ආධිපත්‍යයේ, ජයග්‍රහණයේ, ආදරයේ,
රස මසවුලෙහි හා සළු පිළියෙහි, යහපත් නිවස්නෙහි, හා ප්‍රෞඪත්වයේ
සිය පොරණ පෙළපතේ, දිනපතා තෘෂ්ණාවෙහි, ජීවත්වීමේ අරගලයේ,
අරගලයෙන් උපදිනා ක්ලේශයන්හි, ඇතැම් වේ සොඳුරු,
ඇතැම්වා කටුක වූ. මෙසේ ජීවිතයේ පවස සිඳුවාගනී එය
උගුරු වලින් පවස දෙගුණ කරනා; නමුත් නුවණැත්තා
තම ආත්මයෙන් උදුරා දමයි මේ තෘෂ්ණා, පෝෂණය නොකරයි
තම ඉඳුරන් තවදුරටත් මුසා දසුනෙන්, තියුණු කරයි තම දැඩි මනස
තව තවත් නොසොයන්නට, අරගල නොකරන්නට, වරද නොකරන්නට;
දරමින් නිහතමානීව මෙතෙක් කළ වරදින් උපන් සියලු නපුර,
මෙසේ තවමින් සියලු ආශා ඔවුහු මියයෙති
හාමත්ව; අවසන් වූ ජීවිතයේ සියලු පරිසංඛාව -
කර්මය - ආත්මයක සියලු එකතුව
එය කළ සියලු දෑ, ඇතිකරගත් සියලු සිතුවිලි,
එය වියාගත් "මමත්වය" - ඉමක් නොපෙනෙනා කාලයේ හරස් නූලෙන්
තිරස් කරමින් එය ඇත මැත ඇදෙන අදිසි ක්‍රියාවෙන් -
විශ්වයෙහි ඔහුගේ ප්‍රතිඵලය
නිමලව නික්ලේෂව වැඩෙනතුරු; තවදුරටත් කිසිවිටෙක
අනවශ්‍යව සොයන්නට සිරුරක් හෝ ස්ථානයක්,
ඒත් නැත්නම් දන්වමින් අලුතෙන් ලබාගන්නා වූ සිරුරට මේ බව
අලුත් බවයේ අලුත් ශ්‍රමයන් පෙනී යයි
වඩ වඩාත් සැහැල්ලු බව කෙමෙන් සංහිඳී යන්නට සහමුලින්,
මෙසේ "අවසන් කරමින් මාර්ගය", නිදහස් වෙයි මිහිකතගෙ මුලාවන්ගෙන්
මිදෙමින් සියලු ස්කන්ධයන්ගෙන් සිරුරුවල;
බිඳිමින් සියලු බැමි - උපාදානයන්ගෙන් - බේරී
චක්‍රයෙහි කැරකැවීමෙන්, අවදිව හරි සිහියෙන්







පිබිදුනු මිනිසෙකු සේ අප්‍රසන්න සිහිනයෙන්;
තුටුවෙනා තුරු - රජුන්ටත් වඩා මහත්සේ, දෙවියන්ටත් වඩා මහත්සේ!
-
ජීවත්වෙන්නට ඇති වේදනාත්මක උමතුව සිඳී ජීවිතය ඇදී යයි -
ජීවිතය රහිතව - නාම රහිත නිසංසලත්වයනට නාම රහිත
ප්‍රමෝදයකට
උතුම් වූ නිර්වාණය - කෙලෙස් රහිත, අචල සැනසුම -
ඒ වෙනස යළි කිසිද වෙනස් නොවෙනා!
අහා! අරුණ
උපනි බුදුන්ගේ ජයග්‍රහණයත් සමග! බලන්නැ! පෙරදිග
දැල්වුනි මුල්ම ගිණි ඒ අලංකෘත දිනයෙහි, විසිරෙමින් පෙරටම
පලායන නිශාවෙහි කළු සළුවෙහි රැළිපට අතරින්.
පුලුල් වෙන නිලෙහි ඉහළට උද තරුව
මැකී ගියෙ ලා රිදී පැහැයට විහිදෙද්දි
වඩ වඩාත් දීප්තිමත් වූ රෝස පැහැ කිරණ
අලුයම හරහා, ඈත එපිට සේයාබර කඳු
දුටුවේය මහා හිරු, ලොව අවබෝධ කරගන්නට පෙර,
පළඳමින් රත් පැහැ කිරුළු, මලින් මලට
දැනුණි උණුසුම් සුසුම උදාවේ උන් ඇරඹුවේ විවර කරන්නට
උන්ගේ ලපටි පෙති. පිණි විසිරුණු තණ මත
පැතුරුණි කඩිනම් පිය සටහන් සොඳුරු ආලෝකයේ,
හරවමින් නිශාවේ කඳුළු කැට ප්‍රමෝදිත මිණි කැටවලට
සරසමින් මිහිකත ප්‍රභාවෙන්, ගෙත්තම් කරමින්
ගිලී යන කුණාටු වලාකුළු රන් වාටියකින්;
රන් තවරමින් නෙරළු තුරුවල පිහාටු, ඒවා වැනුනෙ
ප්‍රීති ආචාරයකින්, ඉන්ද්‍රජාලා යෂ්ඨියෙන් අල්ලමින්
දිය දහර හරවමින් එහි රළ රතු කැටවලට, අකුලෙහි
සොයමින් මුදුනෙත් මුවන්ගේ
කියමින්, "මේ දවස" යැයි; සැතපුන කැදැල්ලේ
අල්ලමින් කුඩා ඉස් සැඟවුන පියපත් රැසයට
කොඳුරමින්, "දරුවනේ, ගුණ ගයන්නැ දවස ආලෝකයේ!" යැයි
මෙවිට නැගී ආවේ සියලු පක්ෂීන්ගේ ගීනද!






බුදු සසුනේ පැවිදි බවට පත් වූ ප්‍රථම ගිහියා නම් යසකුල පුත්‍රයායි. ඔහු මහණ කරන ලද්දේ බුදු හිමියන් විසින්මය.




කොවුලාගේ නාළ ගීතය, මලිත්තාගේ ගීතිකාව,
විචිත්‍ර බට්ටිත්තාගේ "උදේ, උදේ" ගීතය,
හිරු කුරුල්ලන්ගේ ආරම්භක කිචි බිචිය
සොයා යන්නට මී පැණී බිඟුන්ට පෙර.
අලු පැහැ කවුඩන්ගේ "කා කා" නද, ගිරවාගේ තියුණු කෑගෑම,
කොළ කෑදැත්තාගේ රිද්මයද, මයිනාගේ සිවුරුම ද,
පරෙවියන්ගේ අතොරක් නැති ආදර දෙඩුම් ද,
එසේය! කෙතරම් පූජනීය වීද යත් ඒ බලපෑම
ජයග්‍රහණයත් සමග පැමිණී ඒ උතුම් උදාවේ
ඈත ද, නොදුරේද, මිනිස් නිවහන් තුළ පැතිරිණී
මෙතුවක් නොදත් සාමයක්. මරන්නා සැඟවීය තම පිහිය;
සොරා තම කොල්ලකාගත් දෙය යළි තැබීය; ගණිතයා
නොසඟවා ගණන් කළේය සියලු කහවණු; සියලු නපුරු හදවත්
වීය කරුණාබර, කරුණා හදවත් වඩාත් සෞම්‍යවී, ගුගුළක් වූ
ඒ දිව්‍යමය අරුණ ආලෝකමත් කරද්දී මිහිකත.
රුදුරු යුද්ධයට වැදි රජුන් අත්හිටවූහ සටන්, රෝගී වූවෝ නැගිට
සිනාසුනේ බසිමින් තම වේදනා සයනයෙන්, මියෙනවුන් සිනාසුනාහ
දන්නා සේ ඒ ප්‍රීති උදෑසන සපැමිණී බව
අත්‍යාධික පෙරදිගටත් වඩා ඈතින් වූ උල්පත්වලින්,
ශෝකී වූ යශෝධරාවගේ හදවත,
ඈ හිඳ සිටිද්දි පාළුවේ සිද්ධාර්ථ කුමරුගේ සයන මත,
උපන්නේය හදිසි සතුටක්, ආදරය කිසිද හීන නොවන්නා සේ
එතරම් මහත්වූ ලතැවිල්ල ආනන්දයකින්ම අවසන් වන්නාසේ.
මුළු ලොවම කොතරම් ප්‍රීතිවීද යත් - නොදත් නමුත් ඇයිදැයි -
පාළු කතර ඔස්සේ ඇදිණී මන්මත් ගීත
ප්‍රමෝදයේ; ඒ විය අසරීර  වූ ප්‍රේතයන්ගේ හා භූතයන්ගේ කටහඬ
පෙර දකිමින් බුදුන්; වා ගැබ දෙවියන් ද
හඬ නැගූ, "එය අවසන් විය, අවසන් විය! යැයි කියමින්
පූජකයෝ ද සිටියෝ පුදුම වූ මිනිසුන් සමග මාවත්හි
බලමින් ඒ රන්වන් ඉසුරු පැතිරෙනු අහස පුරා
කියමින්, "යම්කිසි බලගතු දෙයක් සිදුවී ඇත්තේ" යැයි.
රණ තුළ ද, කැලෑ තුළ ද වැඩිණී එදින







මිත්‍රත්වයක් තිරිසන් සතුන් අතර පවා: තිත්මුවන්
උලා කෑවෝ නිර්භයව ව්‍යාඝ්‍ර ධේනුව ඇගේ පැටවුන්ට කිරි පොවනා තැන,
කොටියෝ දිය බිව්වෝ එකම පොකුණක ගෝනුන් ලග:
උකුස්සාගේ පර්වත ප්‍රාන්තයේ දුඹුරු හාවුන් පිම්මේ දිවුහ
ඒ උකුස්සා සිය රුදුරු හොටෙන් තම අලස පියපත් පමණක් පිරිමදිද්දී:
සර්පයා තම සියලු මිණි තැව්විය හිරු කිරණේ
සගවා තම මරණීය දළ කොපුවෙහි: දෑකැත්තෝ යන්නට හැරියේ
කැදැල්ලේ වූ මොට හොට සහිත මලිති බට්ටි හා කහ කුරුල්ලන්ට ගේ
කුරුල්ලන්ට
මරකත පැහැය වූ දිය පිළිහුඩුවෝ සිහින මවමින් හිඳ සිටියේ පහත
මසුන් රගද්දී,
තාරාවෝ ද හොටෙන් උපුටුවේ නැති, සමනලුන් -
රත්, නිල් කහ පැහැයෙන් - සමූහව සරද්දී
උගේ ලැග්ම අසල, අප සම්දුන්ගේ ප්‍රාණ දහරාව
බලවත් වැතුරුණී මිනිසා ද පක්ෂියා ද තිරිසනා ද මත,
ඔහු බෝධි මූලයේ හිඳ මෙනෙහි කරද්දී පවා
තමා සැම සත වෙනුවෙන් ලද විජයග්‍රහණයෙන් ශ්‍රී විභූතියට පත්ව
ආලෝකමත් වී ආලෝකයකින් දිවා ආලෝකයටත් වඩා ප්‍රබල වූ.

අනතුරුව ඔහු නැගිට්ටේය - රශ්මි විහිදුවා, ප්‍රමෝදිතව, ප්‍රබලව

බෝරුක මුල, මහත්ව ඔසවමින් සිය කටහඬ
මෙසේ දෙසුහ, සර්ව කාලයටම සර්ව ලෝකයනටම ඇසෙන්නට:

අනේක ජාති සංසාරං
සන්ධාවිස්සං අනිබ්බිසං
ගහකාරකං ගවේසනෙ තා
දුක්ඛා ජාති පුනප්පුනං

ගහකාරක දිටෙ ඨාසි
පුණ ගෙහං නකාහසී
සබ්බාතෙ ඵාසුකා හග්ගා
ගහ කූටං විසං ඛිථං






බහුජන හිත පිණිස බහුජන සුව පිණිස චාරිකාවේ යෙදෙන්නැයි බුදු හිමියෝ සිය ශ්‍රාවකයන්ට දේශනා කළහ. බුදු හිමියෝ උරුවෙල් දනව්වට වැඩම කොට එහි සිටි තවුසන්ට දහම් දෙසූහ.




විසං බාර ගතං චිත්තං
තණ්හානංඛය මජ්ඣගා

නේක ජාතීන්හි නිවෙස්
මා බැඳ තැබීය - සොයමින් ඔහුව තැනූ මේ
සිරමැදිරි ඉන්ද්‍රියයන්ගේ, දුකින් බරවූ,
කෙළවරක් නොවූ මා අරෝව වේදනාකර විය!
නමුත් දැන්,
ඔබ නිර්මාණකයා වූ මේ මණ්ඩපයේ - ඔබ!
මම ඔබව හඳුනමි! නැවත කිසිද ඔබ නිර්මාණ නොකරන්නේය
මෙම වේදනාවේ බිත්ති,
නොඔසවන්නේය යළි මෙම පියස ව්‍යාජයන්හි,
යලිත් නොතබන්නේය නව පරාළයන් වරිච්චිය මතුයෙහි;
ඔබගේ නිවස බිඳුණේය, දෙපළු විය මුදුන් ලීය!
වැරදි කල්පනාවය එය මැවූයේ!
නික්ම යන්නෙමි මෙතැනින් - ලබා විමුක්තිය.







## සත්වන පොත

දු කින්ම විසුවේ සුද්ධෝදන රජු
මේ දිගු වසර තිස්සේ ශාක්‍යයන් අතර
නොඅසමින් සිය පුතුගේ කටහඬ නොදකිමින් සිය පුතු;
දුකින්ය සිටියේ සොඳුරු යශෝධරා,
මේ දිගු වසර තුළ, නොවිඳිමින් කිසිදු ප්‍රීතියක් ජීවිතයේ,
වැන්දඹුව ඔහුගෙන් ඇගේ ජීව ගිවිසුමෙන් හා කුමරුගෙන්.
හැමදමත්, අසමින් යම් තවුසෙකු පිළිබඳ පුවතක්
කොහේ හෝ ඈතක දුටු බව ඔටුවන් දක්කනා මිනිසුන් විසින්
ඒත් නැත්නම් නොයෙක් මග ලාභ සොයමින් ඇදුණු වෙළඳුන් විසින්,
රජුගේ පයිණ්ඩ කරුවෝ ගියේ ඈත මෑත
ගෙනෙමින් තොරතුරු නේක තවුසන් පිළිබඳව
හුදෙකලාව නිවහන් රහිතව වෙසෙනා; නමුත් තොරතුරක් නොවි
ඔහු ගැන නම් - ධවල කපිලවාස්තු රජ පරපුරේ කිරුල දරන්නා වූ,
රාජධානියේම ඉසුරවූ, රජුන්ගේ පැතුම වූ,
සොඳුරු යශෝධරාවගේ හදේ සතුට වූ,
ඈත ඈත ගිහින්ය ඔහු, සියල්ල අමතකව, වෙනස් වී ඒ නැත්නම්
මරණයට පත්ව.

නමුත් එක් දිනෙක වසන්ත කාලයේ
අඹ අතුමත රිදී දිය පොද සැලෙද්දී
මුළු මිහිකතම වසන්ත සළුවෙන් සැරසෙද්දී
කුමරිය හිඳ සිටියාය ඒ දීප්තිමත් උයන් දොළදහර වෙත
එහි ඇදෙනා පළිගුව, වාට් සැරසිණී නෙලුම් පත්‍රයෙන්,
සිහිකරමින් ගෙවී ගිය සන්තුෂ්ඨිය
ඔවුන්ගේ බැඳුණු දෑත් හා හමුවූ දෙතොල. ඇගේ ඇසිපිය
ගිලන් විය කඳුලෙන්, ඇගේ සුකොමල දෙකපොල කෘෂ විය,
ඇගේ දෙතොලේ මිහිරි වක්‍රය ඇද විය පරිතාපයෙන්
ඇගේ කෙහෙරළ දිලිසුන ප්‍රභාව සැඟවිණී -






කෝලිය උපතිස්ස නම් කුමරුන් දෙදෙනා බුදු හිමියන් වෙත ගියහ. ගොස් පැවිදි බව ලබා බුදු හිමියන් විසින් දෑ අගසවු පදවියට පත්කරනු ලැබූහ.




තදින් ගැටයකට බැඳි වැන්දඹුවකගෙ සේ, අබරණ
නොපළන්නේය ඈ, මිණි කැට නොවිය රඳවන්න සළුපට -
දළවූ, පරිදේවනයේ ධවල වු - හරස් වූ ඇගේ ලැම මත.
සෙමින්ය ඇදුනේ වේදනාවෙන් ඇගේ කුඩා සුකුමාල දෙපය
මුවැත්තියකගේ ගමන් ඇති, සෙව්වන්දි පතක සැහැල්ලුව ඇති වූ
පෙර දවස ඔහුගේ කටහඬ අසා ඔහු වෙත ඇදුනු.
ඇගේ දෙනුවන්, ආදරයේ පහන් - එකල වූයේ
එහි ගැඹුරුම අඳුරින් හිරු එළිය දිලුනා සේ
ආලෝකමත් කරමින් නිශාවේ නිසල දිවාකල රශ්මියෙන්
දැන් අනාලෝකවිය, සරමින් අරමුණක් නැතිව,
යන්තමින්ය දුටුවේ ගොනු ගැහෙන සලකුණු එළඹෙන වසන්තයේ
සේද ඇසිපිය වැතිරුණේ අක්‍ෂිමත.
එක් අතක විය මිණි සළඹක් මුතු කැටයෙන් බහුල වූ
සිද්ධාර්ථගේය එය - සුරැකියේ ඈ එය ඔහු ගිය රැයේ පටන්.
(අහෝ, කටුක වූ රාත්‍රිය! මාතාව විය වැලපෙන දිනයන්හි!
සුරතල් වූ ආදරය මෙතරම් දයා රහිත වූයේ කවදද ආදරයට
නිගාවක් සේ සීමා කරමින් ආදරය ජීවිතයට?)
අනෙක් අතින් ඈ කැටුව ගියේ තම පොඩි පුතු,
කුමරෙකු දිව්‍යමය සුන්දරත්වයෙන් යුතු, සිද්ධාර්ථ තබා ගිය සටහන
රාහුල නමින් - දැන් සත් හැවිරිදිය ඔහු, පනිමින් ගියේ ඔහු සතුටින් මව
අසලින්ම, සැහැල්ලු වූ හදවතින්
දකින්නට වසන්ත කුසුම් පිබිදෙනු ලොව පුරා.
        මෙසේ ඔවුන් රැඳෙද්දී නෙලුම් පොකුණ අසල
මඳ සිනා පාමින්, රාහුල විසි කළේ බත් උළු
කවන්නට නිල් පැහැ දම් පැහැ මාලුවන්ට, ඇය
ශෝකී දෑසෙන් බලා සිටියාය සීරුවෙන් පියඹා යන කොකුන් දෙස,
සුසුම් ලමින්, "අහෝ සතුනි සරනා පියපතින් යුතු,
ඔබ ලැගුම් ගතහොත් මා ආදර හිමි සැගවී සිටිනා තැන,
කියන්නැ යශෝධරාව මරණාසන්නව දිවිගෙවනා බව
අසන්නට ආශාවෙන් ඔහුගේ මුවින් එක වදනක්, ලබන්න ඔහුගේ අත්ල
එකම පහසක්" -
මෙසේ ඔවුන් කෙලෙමින් හා සුසුම් ලමින්, සිටියදී, මව සහ දරුවා;







එක් සේවිකාවක රජ මැඳුරේ සේවය කරනා පැමිණියාය
කියමින්: "උතුම් කුමාරිකාවනි! පැමිණ ඇත
දකුණු දොරටුවට වෙළඳුන් හස්තනා පුර
ත්‍රපුෂ හා හල්ලුබ නම් වූ, වැදගත් මිනිසුන්ය
බොහෝ දුර ගෙවූ ඝෝෂා සාගර අද්දරින්, ගෙනේය උන්
අරුම වූ සුන්දර වූ දැල් විචිත්‍ර වූ රනින්,
රැලි දැමූ අසිපත් රන් ආලේප වානෙන් නිමැවූ, කැටයම් පාත්‍ර තඹයෙන්
කළ,
කැපූ ඇත් දත්, කුළු බඩු, අමිශ්‍ර ඖෂධ, අප නොදන්නා කුරුල්ලන්
ඈත දෙස්වල මිනිසුන්ගෙ සම්පත්; නමුත් තවද ඔවුහු ගෙන එන්නෝය
මේ සියල්ල පුලන් කරනා තොරතුරක්, ඔවුන් ඔහුව දැක ඇත්තේය!
ඔබගේ හිමි සඳ - අපගේ හිමිසඳ - මුලු දේශයේම පැතුම -
සිද්ධාර්ථ! ඔවුන් ඔහුව මුවට මුව හමුව ඇත,
එසේය, ඔවුන් ඔහුට හිස නමා දණ නමා වැඳ ඇත,
පුද දී ඇත පූජා, මන්ද යත්
පෙර නිමිති කීවා සේ, ඔහු නැණවතුන්ගේ ගුරු වී ඇත.
ලෝකයෙන්ම පුද ලබන, උතුම් වූ අසිරිමත්වූ, බුදුවරයෙකු
මිනිසුන්ට විමුක්තිය ගෙනෙමින් සියලු සත මුදාලමින්
සොඳුරු වදනින් හා සුරලොව තරම් වූ මහා කරුණාවෙන්,
තවද අනේ! ඔහු මේ දෙසට එන්නේ යැයි ඔවුහු පවසති."
        අනතුරුව - සතුටු රුධිරය ඇගේ නලතුළ දුවද්දි
හරියටම ගංගා නම් ගග පනින්නාසේ කඳුකරයේ මුල්ම හිම
දියවද්දි ඇගේ උල්පත් වෙත - යශෝධරාව නැගිට
දෑත් තල ගටා, සිනාසුනාය, උතුරන කඳුළු
ඇගේ ඇසිපිය වෙත මුතු මවද්දී. "අහෝ! ඉක්මනින් කැඳවන්න," ඈ
හඬගෑවාය, "ඒ වෙළඳුන් උගුරකට දියසේ අසන්නට ඔවුන්ගෙන් පුවත්.
ගොසින් ඔවුන් කැඳවා එන්න, - ඔවුන්ගේ කථාව සැබෑනම්
කියන්නැ මා ඔවුන්ගේ බඳපටි පුරවනා බව බොහෝ රනින්,
රජුන් පවා ඊර්ෂ්‍යාවට පත් කරන මිණි කැටයෙන්, ඔබ සැමත්
පැමිණෙන්න,
මා පාද චාරිකාවෙනි, ඔබද ලද යුතුය මෙහි ප්‍රතිඵලය
ඇත්නම් වස්තු කිව හැකි මා කෘතඥ වූ හදවතට."






අභිනිශ්ක්‍රමණයෙන් පසු ප්‍රථම වරට බුදු හිමියෝ කපිල වස්තුවට වැඩම කළහ. එහිදී බුදු හිමියන්ගේ පියාණන් වන සුද්ධෝදන රජු බුදු හිමියන් ගෙන් ගෙට පිඩුසිගා වඩිමින් තමන්ගේ නගරයේ සැරිසරනු දැක බලවත් කම්පාවට පත්වේ. පසුව සුද්ධෝදන රජ බුදුන්ගෙන් බණ




මේ අයුරින් එම වෙළඳුන් ගියෝ ප්‍රමෝද මන්දිරයට,
ඉතා සෙමෙන් පියමං කරමින් එහි රුවන් මං ඔස්සේ
පාවහන් රහිත දෙපයින්, එබී බලනා දසීන් අතරින්
අරුමයෙන් බලමින් නෙක අසිරිය රාජ මන්දිරයේ,
ඔවුන් පූර්දවෙහි සළු රැලිවලට පිටතින් නැවතුන කල්හි
ළපටි එහෙත් උත්සුක වූ කටහඬක්, පිරි ප්‍රමෝදිත වූ
වෙව්ලන ස්වරය කින්, ඇසුවාය: "ඔබලා පැමිණියෝය
ඈත සිට, යහපත් ශ්‍රීමතුනි! දුටුවාහු ඔබ මා හිමියන් -
එසේම නැමදුහ ඔබ - ඔහු බුද්ධත්වයට පත්වූ බැවින්,
ලොවින්ම පුද ලදහ, උතුම් වූ, මිනිසුන් මුදාගන්නා වූ
දැන් ඔහු එන්නේය මෙඅතට. පවසන්නැ! මෙය සැබෑවක් නම්
ඔබලා මා නිවහනට ආදරයෙන් පිළිගන්නා මිතුරන් වන්නාහ."
මෙවිට ත්‍රපුෂ පිළිතුරු දුන්නේය: "දුටුවෙමු අපි
ඒ උතුම් මහසත්, කුමරියනි! අපි නැමී වැන්දෙමු
ඔහුගේ දෙපා වෙත, මන්දයත් කුමරෙකු නැති වූ සඳ
ඇතිවී ඇත්තේය උතුමෙක් චක්‍රවර්තී රජෙකුටත් වඩා උතුම් වූ.
එල්ගු ගං ඉවුරේ බෝධි වෘක්ෂය යට
ලොව මුදා ගන්නා මාර්ගය සොයාගෙන ඇත්තේය
ඔහු විසින් - සැමගේ මිතුරු, සැමගේ කුමරු -
වඩාලාත්ම ඔබගේ වූ, උතුම් කුමරිය! ඔබේ කඳුලෙන් මිනිසුන්
දිනන්නෝය මෙලොව සම්පත ඒ මහසත් දෙසන්නා වූ.
එසේය! ඔහු යහතිනි, සියලු ව්‍යාධීන්ගෙන් ඉවත්ව,
දෙවියෙකුසේ මිදී සියලු මේ දෙරණ ව්‍යසනයෙන්,
දිලිසෙමින් නැගෙනා සත්‍යයෙන්, රුවන්ය, නිමලය.
තවද ඔහු ඇතුලුවද්දී නුවරින් නුවරට,
දෙසමින් ඒ ආරිය මාර්ගය සාමයට මග පෙන්වනා,
මිනිසුන්ගේ හදවත් ඔහු අනුව යන්නේය, ගස් කොළ සේ
සුළඟට වැනෙනා, ඒ නැත්නම් බැටළුවන් සේ අනුවයන්නා වූ
තණ බෙදන්නාවුන්. අපි ද ඇසුවෙමු
ගයාවේ දී චූර්නිකා වන නිල්ලේ
ඒ අසිරිමත් දෙතොලින් කියූ දේ, බැතියෙන් වැන්දෙමු අපි:
ඔහු පැමිණෙන්නේය මෙහි ප්‍රථම වස්සානයෙන් පසු."







ඔහු මෙසේ කී කල, යශෝධරා, සතුටින්
හුස්ම ගන්නට පවා නොහැකිව කීවාය: "ඔබලාට
යහපතක්ම වේවා අදත් සැමදටමත්, අගනා මිතුරෙනි,
මට හොඳ පුවත් ගෙන ආ, නමුත් මේ මහා විමුක්තිය
එළඹියේ කෙලෙසද?"
මෙවිට හල්ලුක තෙපළේය
මිටියාවතේ මිනිසුන් දන්නා සේ
ඒ බියකරු රාත්‍රියේ ගැටුම, වාගැබ
අඳුරු වූ කල්හි රකුසු ජායාවෙන්, දෙරණ
දෙදරිනි, දිය රළ පිම්බුණි මාරයාගේ උදහසින්.
තවද ඔහු පැවසුවේ ඒ උදෑසන අරුණාලු බිඳුණු හැටි
දීප්තිමත්ව නැගෙනා බලාපොරොත්තුවෙන් යුතුව මිනිසාට,
තවද තම වෘක්ෂය යට හිමිසඳු උදන් ඇනූ හැටි.
නමුත් දින කීපයක් ගතවිය මුදන්නට බර
සියලු සැකයේ කුණාටු වලින් ගැලවී ඈතට යන්නට
සුරක්ෂිත වන්නට සත්‍යයේ වෙරළෙහි - තබන්නට, තම දෙසුමෙන්, ඒ
හද
රුවන් බර, කෙසේද මුදන්නේ මිනිසුන් - බුදුහු මෙනෙහි කළෝය -
මෙතරම් තම තමන්ගේ කෙලෙසුන්ට ඇලුම් කරනා, මත්වෙන්නා වූ
ඉන්ද්‍රියයන්ගේ රූවටිලිවලට, දහසක් උල්පතින් වරද බොන්නාවූ -
නැතිව දකින්නට මනසක්, නැතිව ශක්තියක් මිදෙන්නට
මාංශික ශාරීරික වූ දැලෙන් එසේ බැඳ තබනා - කෙසේද
එබන්දෝ ලබාගන්නේ නිධාන දොළස සහ ධර්මය
නමුත් අකමැති වන්නෝය එයින් ලාභ ලබන්නට,
හරියටම අපට මග හැරෙන්නට ඉඩ තිබිණි එවන් උපකාරී වූ
ජයග්‍රහණයක්
මේ සරණක් නොලද මිහිතලයේ, බුදුන්
දිනා ඒ මග, සිතුවා නම් අපහසු වී යැයි
පුහුදුන් දෙපයට, එසේ සිතා ගියා නම්, කිසිවෙකුත් ඔහු අනුව නොයා.
නමුත් අප මහසත් කරුණා වෙන් කටහඬක්
ප්‍රසව වේදනාවේ හඬක් සේ, හරියටම මිහිකත
අඳෝනා දුන්නාසේ විලිරූජාවෙන් "නස්සාමි අහං හූ
නස්සති ලෝකං! "සැබවින්ම මම අතරමං වීමි,






බුදු හිමියන්ගේ කපිල වස්තු ගමනේදී යසෝධරා කුමරියත් සෙසු නෑදෑයෝත් බුදු හිමියන් දකින්නට ආහ.




මා සහ මගේ සතුන්, අනතුරුව විරාමයක්, ජලගට
අයැදින සුසුමක් ඇදී ආ බටහිර සුළගේ,
"ශ්‍රැයතාම් ධම්, භගවත්!" අහෝ, මහෝත්තමයාණෙනි!
ඔබගේ උතුම් දහම පවසන්නැ! මෙහිදී
හිමිදු දිවැසින් බැලු සත දෙස,
දුටුවේය කවුරුන් ඇසිය යුතු ද කවුරුන් බලා සිටිය යුතුදැයි අසන්නට,
හරියටම තීක්ෂණවු හිරු ගමන් ගන්නාසේ නෙලුම් පොකුණක් මත්තේ
දකිමින් කොයි කැකුල පිබිදෙන්නේ ද කියා තම කිරණින්
කොයිවා තවමත් නැගී නැද්ද කියා තම මුල්වලින්,
අනතුරුව ඔහු කීයේ දිව්‍යමය මදහස පා, "එසේය, මම දෙසමි!
අසන්නා වූ කවුරුන් හෝ උගත්වා මේ දහම."
අනතුරුව ඔහු ගිය බව, ඔවුහු කියති, කඳු වෙතින්
බරණැසට, මෙහිදී ඔහු ඉගැන්වීය පස්වග තවුසන්ට
පෙන්වමින් උපත හා මරණය විනාශ කළ යුතු අයුරු
පෙන්වමින් මිනිසාට වෙනත් දෛවයක් නැති හැටි පෙර කරුමයන්ගෙන්
හැරෙන්නට
නැති බව නිරයක් තමාම මවනා දෙයකින් හැරෙන්නට,
නැති බව උසස් නොවෙනා දෙව්ලොවක්. සියලු ආශා තවන්නවුන්ට.
මෙය විය පසලොස්වන දින වෛශාඛ මාසයේ
මධ්‍යාහ්නය, ඒ රාත්‍රියේ විය පුර සඳ.
නමුත් ඍෂිවරයන් අතරින්, පළමුව කොණ්ඩඤ්ඤ
අවබෝධ කරගත්තේය චතුරායඹ සත්‍යය එළඹෙමින් මාගීයට,
අනතුරුව විය භද්දිය. අස්සජි,
භාසව, මහානාම, තවද එදා
මිගදයෙහි, බුදුන්ගේ සිරිපතුල් අසල වුහ
යසද කුමරු ආයඹියන් පණස් සතර දෙනෙකුන් සමග
අසමින් උතුම් වදන් අප මහසත් දෙසූ
වැඳ ඔහු අනුව ගියෝ උන්, උදාවිය සාමය
සහ මිනිසාට නවයුගයක් උදවු බව අවබෝධය
ඇසූ හැම දෙනා තුළ, හරියටම උපදින්නාසේ මල් සහ තණ
දිය දහරා ගලද්දි වැලිතලා ඔස්සේ.
මේ සැම දෙන - ඔවුන් කීහ - යැවී පෙරටම අප මහසත්







පරිපූණ් වූ ඔවුන් සංයමයෙන් හා ආශාවෙන් නිදහස්ව,
උගන්වන්නට මාර්ගය, නමුත් ලොවෙන් පිදුම් ලද උතුමන් හැරුණෝ
දකුණු දෙසට හා බිම්බිසාර රජුන්ගේ රාජධානියට,
මෙහිදී දින ගණනාවක් ඔහු ඉගැන්වීය, මෙයින් පසු
බිම්බිසාර රජුන් ද ඔහුගේ පුර වැසියන් ද විශ්වාස කළේ
උගෙන ගණීමින් කරුණාවෙන් සංයම දිවියේ ධර්මය.
තවද රජු දුන්නේය හිමිසඳුන්ට, ත්‍යාග ලෙසින් -
බුදුන්ගේ දෑතට පිණිදිය ද සලා -
උණ පඳුරින් සැදි උයනක්, නමින් වේළුවනය නම් වූ,
මෙහි විය දිය දහරා, ලෙන් සහ සොඳුරු වන වදුළු;
මෙහි මහ රජු තැබීය ශිලා ලිපියක්, මෙසේ සටහන් තබා,
යෙ ධම්මා හේතු පභවා
යෙසං හේතුං තථාගතො, ආහ.
තෙසං ච යො නිරෝධො
එවං වාදි මහා සමණො.
"ජීවිතයේ මාර්ගය ද එය පැවැත්වීමේ හේතුව ද
මේ දෑ තථාගයන් වහන්සේ පැහැදිලි කළාහ,
ජීවිතයේ දුකින් මිදෙන මාර්ගය
අප මහසතුන් අපට දැන්වූහ."
ඔවුන් කියනා පරිදි -
මේ උයනේ - රැස්විණී
මහා සමුච්චයක්, මෙහිදි අප ගුරුන් දෙසූහ
බුද්ධිය හා බලය, දිනමින් සියලු සත්හු අසා සිටි,
මෙසේ නවසියයක් වූහ කසාවත් ධාරීන් -
හිමිසඳ අඳින්නා සේම, - ඔවුහු පතළ කළහ ඔහුගේ ධර්මය,
මෙවන් ගාථාවකිනි ඔහු තම දෙසුම අවසන් කළේ:

සබ්බ පාපස්ස අකරණං
කුසලස්ස උපසම්පද
සචිත්ත පරියෝ දපනං
ඒ තං බුද්ධාන සාසනං
"අකුසල තරකරවයි ගෙවිය යුතු ණය,






බුදු හිමියන්ගේ ඥාති සහෝදර නන්ද කුමරා බුදු හිමියන් පසුපස වෙහෙරට ගියේය. ජනපද
කල්‍යාණි ඔහුට වහාම ආපසු එන්නැයි කියද්දී පසු පස ගියේ බලවත් අකමැත්තෙනි.




කුසලය මුදවා නිදහස ලබාදේ;
පාපය හැරලන්න, කුසලයම අනුගමනය කරන්න;
තමාගේ සිත හසුරුවන්න. මාර්ගය මෙයයි,"
මෙසේ, ඔවුන් අවසන් කරද්දී, බුදුන් පිළිබඳ පුවත්,
දෙමින්ම ඔවුන්ට ත්‍යාග හා තුති පුද, කෙරෙමින් සියලු මිණිරුවන් මනඳ,
කුමරිය ගෙව්වාය වන්දි. "නමුත් කුමන මගකින් ද
එන්නේ මා හිමි?" ඇසුවාය: වෙළඳු පිළිතුරු දුන්හ,
"යොදුන් සැටක් දුර වේය නුවර පවුරුවල
සිට රජගහට, පහසු මග
යන්නේ සෝණ ගංගාව අසලින් හා කඳු අසලින්.
අපේ ගැල්, දිනකට ගාමින් සෙමින් කොස අටක්,
පැමිණියේ එක පොහොයකින්."
          අනතුරුව පුවත ඇසූ රජු
යැවී තම මඩුල්ලේ ආයඡියන් - සෙන්ධවයන් මත ඇමතිවරුන් -
වෙන් වෙන්වූ සංදේශ කරුවන් නව දෙනෙක්, හැම
තානාපතිවරයෙකුටම
අණ කරන ලද්දේ පවසන්නට: "සුද්ධෝදන රජු
මරණාසන්නය ඉතා දිගු වූ සත් වසරක් තිස්සේ ගැහැට විඳ
අත් නොහරිමින් ඔබ වහන්සේ සොයන්නට ගත් වෑයම -
යදින්නේය සිය පුතුට පැමිණෙන්නට තමා වෙතට,
සිහසුනට හා පුරවැසියන් වෙතට මේ පුල පුලා සිටින රාජ්‍යයේ,
එසේ නොවුවහොත් ඔහු මිය යන්නේය නොදකිමින් ඔබ වුවන."
යශෝධරාව ද යැවුවාය අසරුවන් නවදෙනෙක්
අණ දී මෙසේ කියන්නට, "ඔබගේ මන්දිරයේ කුමරිය -
රාහුලගේ මාතාව - උදක්ම ආශාවන්නීය දකින්නට ඔබ වුවන
නිශා මාරුතයේ සඳ කුසුම්හි නෙරනා හදවත්
දොළදුකින් පසුවන්නාසේ සඳට, සියුමැලි අශෝක කැකුළු
බලා හිඳින්නාසේ යුවතියකගේ පා පහසට: සොයා ගත්තේ නම් ඔබ
නැතිවූවාට වඩා යමක්, ඇය යදින්නීය මෙහිදී ඇගේත් කොටස,
රාහුලගේ කොටස, එයටත් වඩා ඔබව."
මෙසේ ගියෝය කඩිනමින් ශාක්‍ය අධිපතීන්, නමුත් සිදුවූයේ
ඒ හැම පයිණ්ඩ කරුවෙකුම සංදේශය රැගෙන මුවින්







ඇතුළු වූයේ වේළුවනයට ඒ හෝරාවේ
බුදුන් දෙසද්දි සිය ධර්මය, අසමින් මෙය - ඒ හැමකෙක්ම
අමතක කළේ සිය පයින්ඩය, අමතක කළේ රජු හා සිය කාර්යය,
අමතක කළේ ශෝකී වූ කුමරිය පවා, බලා සිටියෝ උන්
දෑස් දල්වා හිමියන් දෙස; රැඳුනේ උන්
හදවත් බැඳි ඒ දේශනයට, කරුණාබරවූ
තේජවන්තව, පරිපූර්ණව, නිර්මලව, සියල්ලන් පහදවමින්,
ගලා ආ ඒ උතුම් මුවගින්. බලන්නැ! හරියටම බිඟුවෙකුසේ
පියාසලනා මී වදයට, දකිමින් මෝස්‍ර පැතිරීයනු
විහිදුවමින් මිහිරි සුවඳ වා ගැබට,
ඔහු පිරී සිටියේ නම් පැණියෙන්, ඔහුට වෙනත් එලයක් නොවේය;
රාත්‍රිය ළගාවුවද, වැස්ස ද, ඔහු නොසලකන්නේය ඒ
සැපත්විය යුතුද ඔහු ඒ සුමිහිරි කුසුම් මතට
සිඳින්නට ඔවුන්ගේ මධු, මෙසේ මේ සංදේශකරුවෝ
එකිනෙකා, අසමින් බුදු වදන්,
අමතක කළේය තම තමන්ගේ ගමනෙහි හදිසිය, මුසුවූහ උන්
අමතක කරමින් සියල්ල, හිමියන්ගේ සහ පිරිවර සමග.
මෙහිදී මහරජු කැඳවීය උදයී - මඩුල්ලේ ප්‍රධාන වූ, වඩාත්ම හිතවත් වූ,
සිද්ධාර්ථගේ යහලුවෙකු විය ඔහු එකල ප්‍රීතිමත් කෙළිවියේදී -
හෙතෙම, වේලුවනයට ලංවද්දී නෙලා
සුලගේ ගිය රුක් පුලුන් උයනෙන්, රැඳවූයේ ඒවා
තම දෙසවන් ද්වාරයන්හි, මෙසේ නොඅසමින් බුදු වදන්
ඔහු සුරක්ෂිතව පැමිණියේ ඒ උතුම් වූ අන්තරායෙන් මිදී
දෙන්නට පණිවිඩය රජුන්ගේ හා ඇයගේ.
යටහත්ව හිස නැමූ අප හිමි පැවසුයේ මෙසේ
මිනිසුන් ඉදිරියේ: "සැබවින්ම මම යන්නෙමි!
එය මගේ යුතුකම සේම මගේ කැමැත්තයි,
කිසිද මිනිසෙකු අමතක නොකළ යුතුය දෙන්නට ගෞරවය
තමනට දිවිහිමියෙන්ම උපකාරී කළවුන්ට, මෙයින් පැමිණේය මාර්ගය
යළි ජීවත් නොවන්නට හා නොමියෙන්නට, සුරැකිව එළඹෙමින්
ප්‍රමෝදිත වූ නිර්වාණයට, ඔබ ධර්මය සුරකිනම්,
නිදොස් කරමින් පසුගිය වරද හා එකතු නොකරමින් වෙනත් කෙලෙස්,






සුද්ධෝදන රජ අභාවයට පත්විය. රජමාළිගයෙහි වුවෝ අඬා වැලපුනහ. අභාවයට පත්වන්නට පෙර සෙස්සන්ට උපදෙස් දෙමින් කළකිය යුතු දේ දන්වාලුයේය.




ආදරයෙන් හා කරුණාබර දනයෙන්ම පරිපූණී වෙමින්.
දන්වන්න රජුන්ට හා පවසන්න කුමරියට
මා එන වග." මෙය පැවසූ කල්හි පුරවැසියෝ
ඒ සුදු කපිල වාස්තුවෙහි සහ කුඹුරු පෙත්හි
සැරසුය මග එළඹීම සඳහා තම කුමරුන්ට.
දකුණු දොරටුව වෙත නැංවිණී දීප්තිමත් මණ්ඩපයක්
මලින් වෙලූ කුළුණෙන් හා සේද බිත්තියෙන්
එහි රතු කොළ පැහැ වල සිත්තම් විය රන් වියමන්.
තවද මහා මාර්ගවල ද ඇතිරිණී සුවඳවත්වූ අතු ඉති
කොසඹ සහ අඹ රුක්වල, ධූලි මත වැතුරුණී
සඳුන් සහ දෑසමන්, ධජ පතාක
වැනිණී, තවද ඔහු පැමිණෙනා දිනයෙහි
අණක් ලැබිණී කෙතරම් හස්තීන්
රජත හමුදයෙන් සැරසී, දල කොන් රනින් වැසී
බලා සිටිය යුතු ද කියා තොටෙන් ඔබ්බෙහි, කොතැනක නැගිය යුතු ද
කියා බුන් බෙර නඳ හඬ ගාමින් "සිද්ධාර්ථ පැමිණෙන්නේ" යැයි,
කොතැනකදී අධිපතීන් බැස වැන්ද යුතු ද කියා, නළගනන්ට ද දැන්විණී
කොතැනක ඔවුන් සැලිය යුතු දැයි මල් පියලි නැටුමෙන් හා
ගීතයෙන්
මේ අයුරින් ඔහු ගමන් ගන්නා සෛන්ධවයා දණක් උසට එරෙන්නට
සෙව්වන්දි හා ගුග්ගුල අතරේ, යහපත් කෙරෙමින් ඔහු යන මග,
පුරවරය පුරා රැව් දෙද්දී සංගීතය හා උච්චවූ ආනන්දය,
මෙසේ අණ ලැබී සියලු මිනිසුන්ගේ දෙසවන් තුළට
අරුණක් අරුණක් පාසා අසන්නට සැලැස්විණී ඒ මුල්ම බෙර හඬ
පවසන්නා වූ "දැන් ඔහු සැපත් වන්නේය!" යන වදන.

නමුත් සිදුවිය මෙසේ -

අන් අයට පෙරාතුවන්නට උනන්දුවෙන් - යශෝධරාව
ගියාය ඇගේ දෝලාවෙන් නුවර පවුරු වෙතට
විචිත්‍ර වූ මණ්ඩපය නැගි තැනට. ඒ අවට සැම තැන
අලංකාර උයනක් හිනැහිණී - නිග්‍රෝධ නම් වූ -
සෙවන විය එය බෙලි රුකෙන් හා පච්ච පියාපත් අතුවලින් සැදී
ඉඳිගසින්







අලුත කප්පාදු කරන ලදුව, ප්‍රමෝදව වක්වෙමින් යන මංපෙතින් හා
පලතුරු ගස් හා මල් පඳුරු වලින් ඉවුරුව, දක්ෂිණ මාවත
මෙහි තණ පෙත් වටා දිවිය, මෙ අත විය තුරු පත්‍ර හා කැකුළු
එ අත විය පිටනුවර පැල්පත් කුලහීන වුවන් ජීවත් වූ
දොරටුවෙන් පිටත, ඉතා ඉවසිලිවන්ත ජනයා වුහ ඒ දුප්පතුන්,
ක්ෂත්‍රියයන්ට හා බ්‍රාහ්මණයින්ට උන්ගේ අතක පහස පවා
වේදනා බර කිලුටු වීමක් විය. නමුත් ඔවුන් පවා, කඩිනම් වුහ
බලාපොරොත්තුවෙන්, අවදිවෙමින් උදෑසනින්ම
බලා සිටින්නට මග දෙපස, නගින්නට ගස් මතට
අසන්නට කොහේ හෝ  ඈතක නැගෙන කුංචනාදයක්
හෝ වැයෙන දේවාල බෙරයක්; නොපැමිණී කල මේ කිසිවක්
යුහුසුලු වුහ උන් සිය පහත් කාර්යයන්හි සතුටු කරන්නට කුමරුන්ව,
අමදිමින් තම තමන්ගේ දෙර පඩි, නංවමින් සිය කොඩි,
අමුනමින් එල දරණ උදුම්බරා කොළ අතු දම්වැල්වලට,
ලිංගයන් අලුතින් ඔප නංවමින්, යළි සරසවමින්
ඊයේ මිලිනව ගිය අතු තොරණ, ඒ අතරම විමසමින් මගීන්ගෙන්
ඇසුවාද කියා සිද්ධාර්ථ එන හඬක් මග, මේ සියල්ල
කුමරිය සටහන් කරගත්තාය ඇගේ සොඳුරු මලානික දෑසින්,
පිරික්සා බලමින්, ඔවුන් සේම, දකුණු දිග මිටියාවත හා නැම්ම
ඔවුන් සේම අසමින් ඒ දෙසින් ආ මගීන්ගෙන්
වේ දැයි මග පුවතක්. මෙසේ හිඳිද්දී ඈ දුටුවාය
සෙමින් ලංවෙමින් එන කෙනෙකු මුඩු හිසින් යුතුව,
උරවසා කසාවතක් හැඳ,
තවුසෙකුසේ සැරසී, අතක විය
මැටි පාත්‍රයක්, පුහුලක හැඩය ගත්, මෙය
යටහත්ව හැම පැල් දොරකදීම ඔහු අල්ලා සිටියේ ඉදිරියෙන්
ගනිමින් දෙන දෙයක් නිහතමානී තුති පුදෙන් යුතුව
එසේම සන්සුන්ව යමින් කිසිවක් නොලද තැනින් ද.
දෙදෙනෙක් ඔහු පසු පසින් ආහ කසාවත් හැඳ.
නමුත් පාත්‍රය රැගෙන ගිය ඈත්තා වෙත විය උත්කෘෂ්ට පෙනුමක්,
අති පූජනීය වූ, ඔහු කොයි ආකාරයෙන් ගමන් ගත්තාදයත්,
ඒ තෙදවත් පෙනුමෙන් වා ගැබ පිරුණී.






බුදුහිමියන්ගේ සුලුමව ප්‍රජාපති ගෝතමී තමාට මෙහෙණි පදවිය දෙන ලෙස බුදු හිමියන්ගෙන් ඇයද සිටියාය. බුදුහිමියෝ දෙවරක් ඒ ඉල්ලීම ප්‍රතික්ෂේප කළහ. එහෙත් තෙවන වර ඒ ඉල්ලීමට ඉඩ දුන්සේක




උතුම් වූ මිහිරි දැසින් හැම දෙන පහර ලද්දසේ
ඔවුන් ඒ වුවනින් මන්දස්මිතව, ඇතැමුන් නැමුණෝ
වඳිමින්, තවත් අය දුව ගියේ ගෙනෙන්නට තවත් පුද පූජා
තැවෙමින් තමන්ගේ දිළිඳු බව ගැන, සෙමින් සෙමින් කාණ්ඩ පිටින්
ළමුන් ද, ගැහැණුන් ද, මිනිසුන් ද සියලු දෙන ඔහු අනුව
ආවෝ පිටුපසින්, වැසූ දෙතොල් අතර මුමුණමින්,
"කවුද ඔහු? කවුද? ඍෂිවරයෙක් කවදද මෙසේ පෙනුනේ?"
සන්සුන් දෙපයින් ඔහු පැමිණ
ළංවෙද්දි මණ්ඩපයට, බලන්නැ! සේද දොර
එසැවිණ, තිර කඩ මැත්වී, යශෝධරාව
නැගී සිටියාය ඔහුගේ මග හඬමින්, "සිද්ධාර්ථ! මා හිමියනි!"
ඇගේ පුළුල් වූ දෑස කඳුළු ගලමින් දෑත් එක්ව බැඳ,
හඬමින් වැටුණාය ඈ ඔහුගේ දෙපා මත්තේ.
පසුව මේ වැලපුණ වනිතාව එළඹි කල්හි
ආයජීමාගීයට, කෙනෙක් යැද
ඇසූ කල්හි පිළිතුරු බුදුන්ගෙන් මක්නිසාදැයි - ප්‍රතිඥා දී ඇතත්
සියලු ලෞකික ආශාවන්ගෙන් හා පහසින් ඈත් වන්නට,
මලක බඳු පහසඳ, අභිබවමින් යුවතියකගෙ අත්ලක -
උන්වහන්සේ වින්දේ එවන් වැළඳ ගැන්ම, හිමියන් මෙසේ පැවසූහ:
"අතිමහත් වූ ආදරය ඉවසන්නේය සුලුවූ ආදර
ඔසවන්නට එය වඩාත් ඉහල තත්වයකට.
මෙය ද සිතට ගන්න, කිසිදු මිනිසෙක්, සියලු බැම්වලින් මිදෙන්නේ ද,
නිදහස ගැන පාරට්ටු කරමින් බැඳුණු ආත්මයන් අමනාප
නොකරවන්නේය.
නිදහස් වන්නේ ඔබ පතුරුවමින් ඔබ නිදහස
ඉවසිලිමත් ජයග්‍රහණයෙන් හා මිහිරි බුද්ධියේ නිපුණත්වයෙන්,
තුන් යුගයක් දිගු පරිශ්‍රමයෙන් එළඹෙන්නේය බෝධිසත්වයින් -
ඔවුන් උපකාර කරන්නෝය මග පෙන්වමින් මේ අඳුරු ලොවට -
ගෙනෙමින් විමුක්තිය, මෙයින් මුල්ම දෑ නම් වේය
ගැඹුරු වූ "අධිෂ්ඨානය" දෙවැන්න වෙයි "වෑයම"
තෙවැන්න වෙයි "පත්වීම", එසේය! මම ජීවත් වුනෙමි
ඒ අධිෂ්ඨාන යුගයේ පතමින් හොඳම







සොයමින් බුද්ධිය, නමුත් මා දැස තිබුණේ පියැවි
ගිණිය හැකි නම් අලුපැහැවු ඇට අර පෙනෙනා එඬරු පඳුරෙහි -
එතරම් වස්සානයන්ට පෙරාතුවය මා වූයේ රාම්,
එකල වෙළෙන්දෙකු වීම් මම දකුණට මුහුණ ලු වෙරළ බඩ
ලංකා අතට හා මුතු සැගවුනු තැනට.
තවද එකල යශෝධරාව
විසුවාය මා සමග අප ගම්මානයේ මුහුද අද්දර,
දැන් සේම සුකොමලය, ලක්ෂමී නම් වූවාය ඈ.
මතකය මට මා ගමන් ගත් හැටි එකල
සොයමින් ලාභ, මන්දයත් දුප්පත්විමු අපි
යටහත් පහත්විමු. නොමද වූ ශෝකී කඳුලින්
ඈ යැද්දය මා නොයා යුතු බවට වෙන්වී, මුහුණ නොදෙන්නැයි
අනතුරුවලට ගොඩ හෝ දිය. "කෙසේද ආදරය හැරයන්නේ
ආදරය කරනා දෙය?"යි ඈ හැඬුවාය, නමුත් බුහුට්වූ මම
ගියෙමි සමුද්‍ර සන්ධියට, කුණාටුවෙන් හා පරිශ්‍රමයෙන් පසු
අරගලයක යෙදෙමින් ගැඹුරේ මාරක සතුන් හා,
මැදියම් රැයේ හා මධ්‍යාහ්නයේ දුක් ව්‍යසන යටතේ,
සොයමින් රළ පතර අතර මම දිනුවෙමි මුතු කැටයක්
සඳ සේ දිලෙමින් ප්‍රභාව, රජුන් වුව මිලදී ගන්නා එකක් බඳු
සිය භාණ්ඩාගාරය පවා හිස්කොට, අනතුරුව මම පැමිණියෙමි සතුටින්
පෙරලා මා කඳුකරයට, නමුත් සියලු දේසය පුරා පැතිරිණි
වසංගතයක් කටුකව, සාංකාවෙන්ය මා විසුවේ
ගෙදර එනතුරා, ගෙදෙරට ළංවුවා පමණී -
සාගින්නෙන් - රඳවා ගෙන මා වෙත අර සුදු සම්පත සයුරෙන් ගත්
මා හිණ පට. නමුත් අහරක් නොවී මෙහි;
එලිපත්ත මත සිටියාය ඈ මෙනෙක් මා දුක් විඳි උදෙසා වූ
මා වෙනුවට වඩා - වැතිරුණාය ඇගේ ගොළුවූ දෙතොලින්
මරණාසන්නව නොලැබ එක් කුඩා ධාන්‍ය පොදක්.
මෙවිට හඬ ගෑවෙමි මම, "යම් කෙනෙකු වෙත ඇත්නම් ධාන්‍ය,
මෙහි ඇති රාජධානියක්ම මුද ගැනීමට තරම් වූ වස්තුවක් ජීවිත
කාලයකට පමණ,
ලක්ෂ්මියට දී රොටියක් ලැබගන්නේ මගේ සඳඑළි මුතුව."






බුදුහිමියන්ගේ සුලුමව ප්‍රජාපති ගෝතමී තමාට මෙහෙණි පදවිය දෙන ලෙස බුදු හිමියන්ගෙන් ඇයැද සිටියාය. බුදුහිමියෝ දෙවරක් ඒ ඉල්ලීම ප්‍රතික්ෂේප කළහ. එහෙත් තෙවන වර ඒ




මෙහිදී එක් අයෙකු ගෙන ආවේය ඔහු සතු සියල්ල
මෙනේරි - නැළි තුනක් - සියතට ගත්තේය ඒ සොඳුරු වස්තුව.
ලක්ෂමිය ජීවත් වූවාය, සුසුම් ලෑවාය නව ජීවයකින් කියමින්,
"අහෝ! සැබවින්ම ඔබ මට ආදරය කරන්නේ!" යැයි. මම වැය කෙළෙමි
මා මුතුව
ඒ දිවියේ දී නිසි ලෙස සනසන්නට හදවත හා මනස
හරිහැටි නොසැනසුනු, නමුත් මේ නිමල මුතු,
මගේ අවසන් විසල් ලාභය, දිනාගත් වඩාත් ගැඹුරු වූ රළකින් -
දෙලොස් නිධාන හා ආයර්‍ය ධර්මය -
වැය කළ නොහැක, හීනකළ නොහැක දීප්තියෙන්, වඩාත්ම සපුරන්නේය
උන්ගේ පරිපූර්ණ වූ සුන්දරත්වය නිදැල්ලේ දීමෙන්.
තෙළ පෙනෙන කඳු ගැටය එය ගොඩ ගැසූ
කුහුඹුවන්ට මහාමේරුවක් වන්නාසේ, දිවයන මුවැත්තියකගේ පා
සටහනක
වැටුණු පිණිපොද වන්නාසේ නිමක් නැති සයුර අභියස, ඒ ත්‍යාගය
සුලුවන්නේය අද මා දෙන දයාදය හමුවේ, එසේම ආදරය -
අතිමහත් වූ ශ්‍රමයෙන් හා ඉඳුරන්ගෙන් නිදහස් වී -
වඩාත්ම නැණවත් වන්නේය නැඹුරු වීමෙන් වඩාත් දුබල වූ හදකට;
මෙසේ සොඳුරු යශෝධරාවගේ දෙපා
ගමන් ගත්තීය සාමයට හා ප්‍රමෝදයට, මෘදු ලෙස මග පෙන්වී."
නමුත් මහරජු ඇසූ කල්හි සිද්ධාර්ථ පැමිණි ආකාරය
හිස මුඩු කොට, හැඳලා තවුසෙකුගේ ශෝකී පැහැ සළුව,
දිගු කෙරෙමින් පාත්‍රයක් එකතු කරන්නට අහර
නීච කුලයන්හි උපත ලද වුන් ඉතිරි කළ, උදහසින් පිරි ශෝකයෙන්
නෙරුපුවේ ආදරය හදවතින්. තෙවරක් බිමට කෙළ ගැසූ ඔහු
ඇද්දේ තම රිදී රැවුල් ගස්, ගියේ පෙරටම එකළුල්ලේ
පිරිවරා තම වෙව්ලනා ඇමතියන්. නලළ රැළි කොට රවා නැග
තම යුද අසුපිට, උසිගන්වා ඌ සන්කටුවෙන්, ගියේ වේගයෙන්
කෝපව, පුරවර විදි හා මාවත් ඔස්සේ.
බලාසිටියෝ මඳ හුස්මෙන් කීවෝ, "මහරජු! වැඳ නැමෙන්න!"
හඩ නැගූ අසරු පෙළ සටසට ගා යද්දී;
අසරු පිරිවර පන්සල පවුර අසලින් හැරෙද්දී







දකුණු ද්වාරය පෙනෙනා තැන - දුටුවෝය
පිරිසක්, එහි කෙළවරට හැම අතින්
එක්වුනේ තව තවත් මිනිසුන් කඩිනමින්, සියලු මාවත් නොපෙනෙනා තෙක්,
ඒ මහා සමුදයෙන් ගැවසෙනා
හා වැඩෙනා, අනුව යමින් ඒ ශාන්ත වූ බැල්ම
වයස්ගත වූ රජුගේ දෑසට හමුවූ පියාණන්ගේ උදහස
දිගුවේලා නොරැඳිණි බුදුන්ගේ කරුණා දෑස
පිදුමකින් වෙලෙද්දී ඒ සංවේගී වූ නලල් පට
නෙත් යොමා බිමට, තම තථ්‍ය දෙදණින්, වැටුණි පොළවට
ප්‍රෞඪ වූ නිහතමාණීත්වයෙන්. ලයාන්විතවිය ඒ දසුන
දකින්නට කුමරුන්, හඳුනන්නට ඔහු සහමුලින් සටහන් කරගන්නට
ඒ ඉසුර ඉමහත් වූ සියලු මෙලෝ තත්වයකට වඩා
කිරුළු පලඳනා ඔහු සිරස, ඒ මහේශාක්‍ය බව ගෙනෙන්නා වූ
සියලු මිනිසුන්, ගෞරවාදරයකින් හා නිහඬ තාවයෙන් ඔහු අනුව යන්නට
එනමුදු මහරජු තෙපළේය: "අවසන් වේද එය මෙතැනින්,
ඒ මහා සිද්ධාර්ථ එළඹෙන්නාවූ තම රාජ්‍යයට,
ගත වෙලී පිලිකඩකින්, හිසමුඩුකොට, වහන් සගල දෙපයලා, අයැදිමින් අහර
කුලහීනයන්ගෙන් හෙතෙම, ජීවිතය දෙව්යෙකුගේ බඳුවූ,
මා පුතණු! හිමිකරුය ඔහු මේ විතීණ්වූ බලයෙහි, හිමිකරුය ඔහු
අන් රජුන්ගේ දැත ගටා මේ මිහිපිට ඕනෑම දෙයක් ලබාගත හැකි,
ඕනෑම සේවකයෙක් තමා වෙතට කැඳවා ගත හැකි වූ
ඔබ පැමිණිය යුතුව තිබුණේ සැරසී සුදුසු සේ තම තත්වයට,
දිලිසෙන හෙල්ල හා අසරු පාබල සේනා සහිතව.
බලන්නැ! මගේ සියලු සෙබලුන් කඳවුරු බැඳ සිටිති මග ඉහත,
මගේ මුලු පුරවරයම බලා සිටිති දෙරටු වෙත;
කොහිද ඔබ සැරිසැරුවෙ මේ පසුගිය අනිෂ්ට වසර තුළ
ඔබගේ කිරුළු පලන් පිය රජු වැලපෙද්දී? ඇය ද,
විසුවාය වැන්දඹුවක සේ. මග හරිමින් ප්‍රීති ප්‍රමෝදයන්;
කිසිවිටෙකත් නොඅසමින් ගී හඬ හෝ වෙණ නද,






බුදුහිමියන්ගේ සුලුමව ප්‍රජාපති ගෝතමී තමාට මෙහෙණි පදවිය දෙන ලෙස බුදු හිමියන්ගෙන් ඇයද සිටියාය. බුදුහිමියෝ දෙවරක් ඒ ඉල්ලීම ප්‍රතික්ෂේප කළහ. එහෙත් තෙවන වර ඒ




වරක්වත් නොහඳිමින් මංගල සළුපිළි, මේ දැන් වෙනතුරු
දැන් ඇ පළඳිනීය සිය රන් සළුව පිළිගන්නට නිවහනට
පුලන්වූ හිමියෙකු කසාවත් පොරවාගත්.
"පුත! ඇයි ද මේ?"
"මා පියාණෙනි"! පැමිණියේ පිළිතුර
"මෙයයි මා වංශයේ චාරිත්‍රය."
"ඔබේ වංශය?"
පිළිතුරු දුන්නේ රජු, "ගණින්නේ සියයක් සිහසුන් මහා සම්මත රජුන්ගේ
සිට, නමුත් නොවී කිසිකලෙක මෙවන්
කාරියක්."
"මියෙන්නා වූ පෙළපතක් ගැන නොව," හිමිසඳු කීහ.
"මා කථා කරන්නේ, නමුත් නොපෙනෙනා වූ පෙළපතකි,
බුදුවරුන්ය ඔවුහු පෙරත් මතුවටත්:
මම ද එයින් එක් අයෙක්මි, ඔවුන් කළදේය මාත් කරන්නේ,
මේ සිදුවූ දෙය පෙර ද සිදුවිය,
තම පුරවර දොරටුව වෙතදී යුද ඇඳුමින් සැරසුණු රජෙකු
හමුවිය තම පුතු වූ, තවුස් වැරහැලි හැඳි කුමරෙකු:
හෙතෙම, කරුණාවෙන් හා ආත්ම සංයමයෙන්
බලගතුවිය බලගතුම රජුන්ට වඩා උන්ගේ සියලු පරාක්‍රමයේ
නියමයෙන් පත්වූ උදව්කරු සියලු ලෝකයන්ට නැමිය යුත්තේය -
මා දැන් මේ කරන්නා සේ - සියලු පහත් වූ ආදරයෙන්
දෙන්නට තැත් කරන්නේය, අයවිය යුතු මුදු ණය තුරුස් උදෙසා,
ඔහු ගෙන ආ සම්පතෙහි මුල්ම එල:
දැන් මම දෙන්නට තැත් කරන්නෙමි."
මෙහිදී මවිත වූ රජු
විමසීය "කුමන සම්පතක් දැ?"යි. මහඇදුරු ගත්තේය
යටහත්ව රාජකීය අත්ල, ඔවුන් ගමන් ගනිද්දී
වැද වැටෙනා සෙනගින් ගහණ වීදි ඔස්සේ - කුමරිය හා රජු
දෙපසින් එද්දී - ඔහු පැවැසීය ඔවුන්ට සියලු දේ
සාමය හා නිර්මලත්වය ගෙනෙනා, ඒ චතුරාර්‍යය සත්‍යය
සියලු බුද්ධිය රඳ ගන්නා, වෙරල නවතන්නාසේ සයුරු,
ඒ ආර්‍ය්‍ය අෂ්ඨාංගික මාර්ගය කෙනෙකු ගමන් ගත යුතු -







මහරජු හෝ දාසයෝ - එයයි උතුම්ම මාර්ගය
සතර අවස්ථා හා ශික්ෂා අටකින් යුතු, ඒ අයුරෙන් ජීවත් වන්නා -
ශක්තිමත් වූ හෝ නීච
බුද්ධිමත් වූ හෝ නුගත්, පුරුෂ හෝ ස්ත්‍රී, තරුණ හෝ මහලු -
ඉක්මනින් හෝ පසුව යම් දිනෙක මිදී යන්නේය ජීවන චක්‍රයෙන්,
මාළිගයෙහි ද්වාර මණ්ඩපයට, ශුද්ධෝධන තවදුරටත්
නොනගා නලළත රැළි උරා ගනිමින් ඒ බලගතු වදන්,
ඔසවා ගෙන සිය දෑතින් බුදුන්ගේ පාත්‍රය,
මෙ අතර නව ආලෝකයකින් බැබලිණි සොඳුරු දෑස
මිහිරි යශෝධරාවගේ හිරුගෙන් සේ වියැළිණි ඇ කඳුලු,
මේ රැයේ ඔවුහු අවතීර්ණ වූහ සාමයේ මාර්ගයට.






දෙව්දත්, සිදුහත් කුමරුට සතුරුකම් කළේය. සිදුහත් කුමරු බුදු වූ පසුවත් ඒ සතුරුකම් අත් නොහළේය. දෙව්දත් බුදු හිමියන් නසන්නට කුමන්ත්‍රණ කළේය. එහෙත් ඒ ප්‍රයත්න සියල්ලම




# අට වන පොත

පුලුල් වූ තැන්නක් විහිදෙන්නේය වේගයෙන් ගලනා කොහා නදිය බඩ
නාගර වෙතදී; දින පහකින් මිනිසෙකුට ආ හැකිය
ගැලකින් බරණැස් පුර පුදබිම් වල සිට මෙතැනට
නැගෙනහිරට හා උතුරට ගමන් කිරීමෙන්,
ධවල හිමාලයේ කොත් ඉහළින් බැලුම් හෙලන්නේය මෙතැනට;
වසර පුරා කුසුමින් ප්‍රමෝද වූ,
ඒ ප්‍රභාමත් දිය රළෙන් නීලවණ් වූ වන වදුළෙන් වට වූ,
සුමුදුය එහි බැවුම්, සිහිල්ය එහි සුවදැති සෙවන,
පූජණීය විය ප්‍රාණ වායුව මෙතැන
මේ කල් දක්වා: සැඳෑ සුසුම් පැමිණෙන්නේය සරසරින්
ගෙතුනු ලිය වැල් පඳුරු ඉහළින්, ඇදී ඇදී යන උදුම්බරා ගස්හි
මුල් වලින් හා කඳින් දලිත වී කැපී කෙටුනු උස් වූ රත්ගල් ගොඩැලි
සහ රල නගන පත්‍ර හා තණ පෙත්හි දුහුලින් සැරසී පරිසරයට.
අචල නාගයා දිලිසෙන්නේය පෙරටුවට අබලන් වූ ලතු කැටයම් හා
දේවදර පරාළයෙන් සිය දරණු ගසන්නට ගැඹුරු කැටයම් කැපූ ශිලා
පුවරු වෙත; කටුස්සෙක් අරක්ගෙන දුවන්නේය විචිත්‍ර පොළව මත්තේ
වෙනද රජුන් පා තැබූ තැන, අලු සීවලිය වඳන්නීය පැටවුන් සුරැකිව
කැඩී බිඳී ගිය සිහසුන් යට; කඳු මුඳුන්,
දොළ පහර, බැවුම් වූ තණ තලා, හා මුදු පවන පමණකි
නොවෙනස්. අන් සියල්ලම, සියලු හොඳ දසුන්සේ
ජීවිතයේ, පලා ගොසිණි - මෙතැනය නැගුණේ පෙර
ශුද්ධෝදන රජුන්ගේ පුරවරය, කඳු ගැටය මෙතැනය
රනින් හා නිලෙන් දිලි සැදෑවක හිරු බැස යන යාමයේ බුදුහිමි වැඩ හිඳ
දෙසුවේ දහම් අසා සිටි පිරිසට.
බලන්න! ඔබට කියැවිය හැකිය ශුද්ධ වූ පොතපතෙහි
ඒ ආනන්ද ජනක වූ ප්‍රසන්න ස්ථානයෙහි -
පෙරදී ඒ ලෙන සංක්‍රමණ මංවලින් යුතු උයන් ද
දිය උල්පත් ද, පොකුණ ද, සෙව්වන්දියෙන් වට වූ අංගනයන් ද,







ප්‍රමුදිත සඳලු මණ්ඩප ද, විහිදී ගිය
මහේශාක්‍ය වූ මාලිගා අභිමුඛ ද සහිත වූ එතැන - අප හිමි හිඳ සිටියේ
විශාරදව, පුදලබමින්, සියලු සැදැහැතියෝ රැස් වෙද්දී
ඔහුගේ විවර වූ මුවින් අසන්නට
අප ආසියාවම මෑදු කළාවූ ප්‍රඥාව;
මෙනයින් හාරසිය ලක්‍ෂයක් වූ සත්හු අද
අත් විඳින්නේය ඒ නුවණ. රජුගේ දකුණතට ඔහු
හිඳ සිටියේ, ඒ අවට කවයක හිඳ සිටියාහ ශාක්‍ය අධිපතීහු
ආනන්ද, දේවදත්ත - සියලු මැති ඇමති මඩුල්ල,
පසුපසින් සිටියෝ සැරියුත්, මුගලන්, අගසව්වන්
සන්සුන් වූ සංඝ පෙරමුණෙහි කසාවත් දැරූ,
යහපත් සමාගමයකි එය. ඔහුගේ දෙදණ අතර විය
රාහුල හිනැහෙමින් අරුම වූ ළදරු දෑස්
හැරී ඒ අයෝමය වුවන වෙත, ඔහුගේ දෙපා වෙත
හිඳ සිටියාය මිහිරි යශෝධරාව, ඇගේ හද වේදනා සිඳී,
දකිමින් සැබෑ උතුම් ආදරය නොබුදින්නා වූ
පලායන ඉඳුරන්ගේ ආශාවෙන්, වියපත්වීම නොදන්නා වූ ඒ ජීවයෙන්,
ඒ උතුම් වූ අවසන් වියෝව, මරණය මියගියා වූ,
ඔහුගේ සහ ඇගේ විමුක්ති ජයග්‍රහණය ලැබ. මෙහිදී ඈ තැබුවාය
තම සුරත ඔහුගේ දෑත මත,
සිය රිදී උර සළුව වටා දවටමින් ඔහුගේ කසාවත,
සියලු ලොවින් වඩාත්ම සමීප වූ ඔහුට, ඒ වදන් දෙසූ
තුන් ලොවම අසන්නට බලා සිටි. කිව නොහැක මට
කුඩා කොටසක් ඒ අසිරිමත් දහමෙහි ඇද හැලුණු
බුදුන්ගේ මුවගින්, පමාවූවෙක්මි මම
ආදරය කරනා සම්බුදුන්ට ද ඔහුගේ ඒ සියලු සතවෙත පෑ කරුණාවට ද
නැතිව සාමර්ථ්‍යය පවසන්නට යමක් පොතපතින් එපිට;
කාලය විසින් බොඳ කර ඇත්තේය එහි ලේඛන හා පොරණ වේදත්‍රය,
කලෙක එය අලුත් විය බලගතු විය, සියල්ලන්ම සසල වමින්.
ඒ විසල් දහමින් බිඳක් දනිමි මම
එද ඒ මුදු භාරතීය සන්ධ්‍යාවේ බුදුන් දෙසූ.
තවද දනිමි මම ලියා ඇති බව එය ඇසුවන්






දෙව්දත් තෙමේ බුදුහිමියන් නසාලන්නට නාලාගිරිනම් බීමත් ඇතෙක් එවුවේය. බුදු හිමියෝ නොබියව නාලාගිරි ඇතුට මුනපාමින් සිය මෙත් බලයෙන් දමනය කළේය.




විශාල පිරිසක් බව - ලක්‍ෂ ගණන්, දස ලක්‍ෂ ගණන් වඩා -
දැකිය නොහැකි තරම් පිරිසක්,
මන්ද යත් දෙවියන් ද මළවුන්ද රැස්වූහ එතැන
හිස්වෙනා තුරු සියලු දෙව්ලොව සත් මණ්ඩල
ගැඹුරුම අඳුරු නිරයන් ද විවර කළෝ සිය යදම් දොර,
තවද දිවා ආලෝකය ද රැඳිණී සිය කාල ඉමට ඔබ්බෙහි
හරියටම රාත්‍රිය අසා සිටියා සේ වදුළු වල,
මධ්‍යාහ්නය රැඳෙද්දි කඳු මත, එසේය! ඔවුහු ලියන්නෝය මෙසේ,
සන්ධ්‍යාව රැඳුණීය ඔවුනතර හරියටම යුවතියක සේ
දිව්‍යමය, ආදරයෙන් බැඳී, මෝහනීයව, සුමුදුව ඇඳුණු වළාපෙළ
විය ඇගේ ගෙතූ කෙස් රළ, දිලෙන තාරකා විය මුතු
හා දියමන්ති ඇගේ කිරුළෙහි, සඳ විය
ඇගේ නළල් පට මිණ, කෙමෙන් දැඩි වූ අඳුර විය.
ඇගේ සළුව. ඈ අල්ලා සිටි සුසුමය
පැමිණීයේ සුවඳවත් සුළං රළසේ තැනිතලා හරහා
අප සම්දුන් දෙසද්දි, උන්වහන්සේ මෙසේ දෙසද්දි,
අසා සිටියවුන් -
දේශයට අමුත්තෙකු වුව, වහලෙකු වුව
උසස් කුලයක හෝ පහත් කුලයක වුව, ආයජී ලෙයින් යුතුවූ හෝ
ම්ලේච්ඡ හෝ වනවාසී වූ හෝ - ඔවුන්ට ඇසුණේ
තම තමන්ගේම බසින් වූ දෙසුමක් ලෙසිණි. තවද, පිටත
ගංගා ඉවුරෙහි රැස්වූ සමූහය ද, විසල් වූ හා කුඩා වූ
පක්ෂීන් ද, තිරිසනුන් ද, උරගුන් - පුස්තකයන්හි ලියැවී ඇති පරිදි -
උන් සැමට ද දැනිණි බුදුන්ගේ මහා කරුණාව
ගත්තෝය උන් ඒ දයා දේශනයේ ප්‍රතිඝෝවන්,
මේ අයුරින් උන්ගේ ජීවිත - සිරවී ගත් නොයෙක් හැඩයන් තුළ -
වානර, ව්‍යාඝ්‍ර, මුව ආදී, දළරෝම සහිත වළස්, කැණහිල්, හිවල්
මළකුණු බුදිනා උකුසු, මුතුපැහැ පරෙවි, මිණි පළන් මොණරු,
උක්කුටිකයෙන් හිඳි මැඩියෝ, ලපලු තිත් වැටුණු නාගයෝ, කටුසු, වවුල්,
ඒ සියලු සත්හු සේම, ගඟ රළ පවන් සැලු මත්ස්‍යයින් ද -
ආදී සියල්ලෝ යටහත්ව රැඳුණා වූ සහෝදරත්වයේ අද්දරයන්හි
මිනිසා සමඟ, උන්ටත් වඩා අඩුවෙන් අහිංසකත්වය දරණා;







ගොළු වූ ප්‍රමෝදයකින් උන් හැම දත්තෝය සිදුණු බව බැඳුණු බැම්
අසා සිටියදී මෙසේ රජු ඉදිරියේ බුදුන් දෙසද්දි මෙවන් කරුණු:
ඕම්, අමිතාභ! නොමනින්න වදනින්
මිණිය නොහැකි දෙය, නොගිල්වන්න සිතුම් මාලාව
ඉමක් නැති ගැඹුරට, විමසන්නෝ වරදේ බැඳෙති
එසේම පිළිතුරු දෙන්නෝ ද, වරද කරති. නොකියන්න කිසිවක්!

පුස්තක පවසන්නේ අඳුර වූ බව හැම තැන මුලින්ම,
බ්‍රහ්ම තනිව මෙනෙහි කෙරුවාලු ඒ රාත්‍රියේ:
නොසොයන්න බ්‍රහ්ම සහ ආරම්භය එතැන!
ඔහුව හෝ කිසිදු ආලෝකයක්

නොදකින්නේය දෑස් දල්වා බලන්නෙකු පුහුදුන් නෙතින්
සොයා යන්නෙකුද අවබෝධ කර නොගන්නේය මර්ත්‍ය මනසකින්,
තිරයක් පසුපස තිරයක් එසවෙන්නේය - නමුත් ඇත්තේය
ඒ පසුපසින් නව තවත් වහන්තරාවන්.

තාරකා ඇදෙති නොනගන් ප්‍රශ්න. මේ ඇතිය
ජීවිතය හා මරණය හා ප්‍රමෝදය සහ දුක් වේදනා රුඳෙනා හරිය,
හේතු සහ ඵල, සහ කාලයේ ගමන,
සහ සත්‍වයාගේ නිමක් නැති වඩබාදිය රළ,

මෙය, නිරතුරුව වෙනස් වෙමින්, දුවයන්නේය, ඇමිණී ගඟක් සේ
රළ අනුව එන රළින්, කඩිනමින් හෝ සෙමින්
එම සේම එහෙත් එයම නොවී - ඈත කඳුරකින්
එහි ජල දහර ගලනා තැනින්

මහා සයුරට, මේ සියල්ල, වාෂ්පී වෙමින් හිරුගෙන්
අතරමං වූ රළ පෙළ පෙරළා දෙන්නේය වළාකුළු ලෙස
යලි ඇද හැලෙන්නට කඳු වෙත, යළිත් ඇදි එන්නට,
නොනැවතී නොමැතිව සැනසුමක්.






සංඝයා භේද කරන්නට දේවදත්ත කීප වරක් ප්‍රයත්න දරුවේය. එහෙත් ඒ ප්‍රයත්නය සාර්ථක නොවීය.




ඇතිය දැනගත් කල, මේ සියලු මායාවන් බව;
සුරලෝ, මිහිතල, ලෝක, වෙනස්වීම් වෙනස් කරනා බව මේ සියල්ල
බලගතුව කැරකෙනා චක්‍රයකි මෙය ව්‍යසනයේ හා අමාරුවේ
කිසිවෙකුට නැවතිය නොහැකි හෝ විරුද්ධව යා නොහැකි.

නොයදින්න! අන්ධකාරය ලිහිල් නොවන්නේය! නොඅසන්න
කිසිවෙකුත් නිහඬතාවයෙන්, මන්දයත් එයට නොහැකිය
තෙපලන්න!
වද නොදෙන්න ඔබගේ වැලපෙන මනසට බැතිබර වේදනාවෙන්!
ආහ්! සොයුරු සොයුරියෙනි! සොයන්න.
අසරණ වූ දෙවිවරුන්ට තෑගි පුද දී හෝ යාතිකාවෙන් නොව,
රුධිරයෙන් උන්ට කප්පම් දෙමින් නොව, කවමින් පලතුරු හා
කැවුම්වලින් නොව;
විමුක්තිය සෙවිය යුත්තේ ඔබ තුළමය;
හැම මිනිසාම මවාගන්නේය තමාගේම සිපිරි ගෙය.
හැම දෙනාම වෙත ඇත්තේය මහාජවය ඉතාම උත්කෘෂ්ට වූ ඇත්තාට
සේම,
ඉහලින්, අවටින් පහතින් ඇති බලයන්ගෙන් නොව,
සියලු සතුන් හා ප්‍රාණීන්ම,
ක්‍රියාවෙන් ඇති කරන්නෝය සතුට හා දුක් වේදනා.

අප ගෙනෙනා දෙය වන්නේය ඒ සේම, දැනුදු,
නරකට හෝ හොඳට - අවසානය මුලින්ම වූ දෙයට, මුලින්ම අවසානයේ
දෙයකට;
සුරලොව සුරදූතයන් සතුටින් රස විඳින්නේ
උතුම් වූ අතීතයක ඵලයන්ය.
නිරයන්හි යකුන් වැය කරන්නේ
පසුගිය අවදියක කළ පව්වු ක්‍රියාවන්ගේ ප්‍රතිඵලය.
කිසිවක් නම් සඳ නොරුදෙන්නේය: පින්කිරිය පවා වැය වන්නේය
කාලයේ ඇවෑමෙන්,
ඒ සේම පාප අකුසල ද සේදෙන්නේය කෙමෙන්.







වහලෙකුසේ වෙහෙසුනෙකු පැමිණෝය යළි කුමරෙකුසේ
දිනූ පිනෙන් හා යහපත්ව කළ ක්‍රියාවෙන්;
වරෙක රජකම් කළ කෙනෙකු ඉබාගාතේ යාය වැරහැලි හැඳ
කළ නොහොඳ නපුර නිසා.
හැකිය ඔබට ඔසවන්නට ඔබගේ ඉන්ද්‍රටත් වඩා ඉහලට
ගිල්ලවිය හැකිය එය පණුවෙකු හෝ මැස්සෙකු තරම් පහළට;
බොහෝ සංඛ්‍යාවක් ජීවීන්ගේ අවසානය විය හැකිය එය,
තවත් සංඛ්‍යාවකගේ අවසානය විය හැකිය අනෙක.
මේ අදිසි චක්‍රය කැරකැවෙද්දි
නොනැවතී, නිවණක් සාමයක් නැතිව, නවතින්නට තැනක් නොවේ;
උඩට නැගෙන්නා වැටෙයි, වැටෙන්නා නැගිය හැක, චක්‍ර අරයන්
වටයට යන්නේය නිම නැතිව!

ඔබ බැඳි සිටී නම් වෙනස නම් චක්‍රයේ
නැතිව මිදී යන්නට යදම් වැලෙන්,
ඉමක් නැති සත්‍වයාගේ හදවත වේය සාපය,
හැම දෙයෙහි ආත්මය ඇත වේදනා.

ඔබ බැඳී නොමැත! සියල්ලෙහි අභ්‍යන්තරය ආත්මය සුන්දරය
පැවැත්මෙහි හදවත නම් ස්වර්ගීය නැවතුමකි;
දුකට වේදනාවට වඩා බලවත් වන්නේ අධිෂ්ඨානයයි: හොඳ වූ දෙය
යන්නේ වඩාත්  හොඳට - හා යහපත්ම වූ දෙයට.

මා, බුද්ධ,, වැළපුණ මා සියලු සොහොයුරන්ගේ කඳුළු හා,
මා හදවත බිඳුණේ සියලු ලෝකයේ දුක් වේදනා නිසා
හිනැහෙන්න මම තුටුවෙමි, මන්දයත් ඇත්තේය විමුක්තිය!
අසව්! දුක් විඳින්නා වූ ඔබ! අවබෝධ කරගන්න

ඔබ දුක් විඳින්නේ ඔබ නිසාමය, වෙන කිසිවෙකුත් බල නොකරන්නේය,
වෙන කිසිවෙකුත් ඔබව අල්ලා නොසිටින්නේය ජීවත් කරවන්නට හෝ
මැරෙන්නට,
ඔබ යමින් මේ චක්‍රය මත කැරකැවෙමින්, බඳ සිපගන්නේය






සිය ජීවිතයේ අග භාගයේදී දෙව්දත් තෙමේ බුදුහිමියන්ගෙන් සමාව ලබාගන්නට අදහස් කළේය. දෙව්දත් ගිලන්ව සිටි හෙයින් ඔහුගේ ශ්‍රාවකයෝ ඔහු දෝලාවකින් ගෙන ගියෝය.




එහි ගරාදි වේදනාවේ,
එහි කඳුළු පට්ටම, එහි ශූන්‍ය වූ රෝද නාභිය.
බලන්නැ! මම පෙන්වමි ඔබට සත්‍යය! නිරයට වඩා පහත් වූ,
සුරලොවට වඩා උස් වූ, පිටතින්ම ඇති තාරුකා වලටත් පිටත වූ;
මහ බඹුන් ජීවත් වෙන තැනටත් වඩා ඈතින් වූ,

ආරම්භයටත් පෙරාතුව වූ, අවසානයක් රහිත වූ
සදාකාලික විශ්වයේ සේ නිශ්චිතයෙන්ම ස්ථිර වූ,
ඇත්තේය දිව්‍යමය බලයක් හොඳ අතටම ගමන් ගන්නා,

එහි ධර්මයන් පමණි පවතින්නේ.
මෙයයි එහි පහස පිපුණු සෙව්වන්දිය මත්තේ,
එහි හස්තයයි හැඩ කළේ නෙළුම් පත්;
අඳුරු පසෙහි හා බීජයන්හි නිහඬතාවයේ
වියන්නේය එය වසන්තයේ සළුව;

අර ඉසුරුමත් වළා ගැබෙහි ඇති විචිත්‍ර දසුන එය සතුය,
මොණර පිළෙහි ඇති මරකත මිණි එය සතුය;
තාරකා වෙත ඇත එහි නැවතුම්; එහි වහලුන්
වේය විදුලියෙහි, සුළඟෙහි හා වර්ෂාවෙහි

අඳුරෙන් එය කැටයම් කළේය මිනිසාගේ හදවත,
මන්දස්මිත කබලින් එය මැවීය වලිකුකුළාගේ සිහින් දිගු ගෙළ,
නිබඳව වෙහෙසෙමින්; එය සුන්දරත්වයට ගෙනෙන්නේය
සියලු පොරණ උරණ හා සුන්බුන්.

රන්පැහැ හිරු කුරුල්ලාගේ කූඩුවෙහි අලු පැහැ බිත්තර
එහි සම්පතය, බිගුන්ගේ සය පැති බිල
වන්නේය එහි මී පැණි කලය; කුහුඹුවා දන්නේය එහි නියාය,
සුදු පරෙවියෝ ද දනිති ඒ සියල්ල මනාව.

එය විහිදුවන්නේ රාජාලියාගේ පියපත් පියඹන්නට.







ඇය තම නිවසට ගොදුරු සොයා එන වේලාව, එය යවන්නේය
වෘක ධේනුව ඇගේ පැටවුන් වෙතට, ආදරය නොලබනා දේවල්වලට
එය සොයා දෙන්නේය අහර හා මිතුරන්.

පාච්චිය නිසා එය පලුදු නොවන්නේය නොරුදෙන්නේය,
සියල්ල කැමතිය එයට, එය ගෙනෙනා සුදු කිරට
මවකගේ ලැම, එය ගෙනෙන්නේය සුදු බිංදු ද,
තුරුණු නාගයන් විස සේ විදිනා.

පෙලසැදී යන මණ්ඩලයන්ගේ අනුක්‍රම වූ සංගීතය
එය මවන්නේය ආකාසයේ අදශීන උඩුවියනෙහි;
පොළවෙහි ගැඹුරු ආගාධයෙහි එය සඟවන්නේය රුවන්,
රතුකැට, නිල් කැට, ඉඳුනිල්.
නොනැවතීම ගෙනෙමින් රහස් පෙරටම,
එය හිඳ සිටින්නේය වන වදුළෙහි කොළ වෙත
පෝෂණය කරමින් අරුම වූ බිජුවට දේවදරුවෙහි මුල්වෙත,
මවමින් කොළ මල් සහ තණපත්.

එය විනාශ කරන්නේය, මුදගන්නේය, කිසිසේත් නැත කම්පිත වන්නේ
නියතියෙන් ගැලවෙන මගට හැරෙන්නට;
එහි හුයවන්නේ ආදරය හා ජීවිතයයි; මරණය හා වේදනාව
එහි ආවාපනයෙහි තිරස් දඬුය.

එය නිර්මාණය කරන්නේය බිඳ දමන්නේය, සියල්ල අලුත්වැඩියා කරමින්;
එය යළි මවනා දෙය කලින් තිබුණාටත් වඩා යහපත් වන්නේය;
එය යොදා ගන්න අත්‍යලංකාර මෝස්තරය සෙමින් වැඩෙන්නේය
එහි සමාහිත දෑත අතර.

ඔබ දකිනා සියලු දෙය මත ඇත්තේ එහි වැඩ කටයුතුය,
නොදකිනා දෑ ඊටත් වැඩිය, මිනිසුන්ගේ හදවත්, මනස්,
මිනිසුන්ගේ සිතුවිලි, ක්‍රියා හා අධිෂ්ඨානයන්,
මේ සියල්ල ද මහා ධර්මය බැඳ තබන්නේය.






අනාථපිණ්ඩික සිටාණෝ ජේත කුමරුට අයත් භූමි භාගයක් මිලයට ගෙන එහි ජේතවනාරාමය
තැනවූහ. ඒ සිටුවරයා ජේතවනාරාමය බුදුහිමියන්ට හා ශ්‍රාවකයන්ට පූජා කළේය.




නොපෙනී එය උදව් කරන්නේය ඔබට බැතිබර දැතින්,
නොඇසී එය කථාකරන්නේය කුණාටුවටත් වඩා ශක්තියෙන්.
දයාව හා ආදරය මිනිසා සතුවන්නේ ඉතා දිගු පීඩාවන්
වාත්තු කළ නිසාය අන්ධවූ සමූහය හැඩයකට.

හෙලා නොදකින්නේය එය කිසිවෙකුවත්
එයට බාධා කරන්නා පරදින්නේය, එයට සේවය කරන්නා ලාභ
ලබන්නේය,

එය ගෙවීම් කරන්නේ සාමය හා සතුට වැනි සැගවුණු යහපතෙනි,
වේදනාව නම් වූ සැගවුනු අයහපතෙනි,
සියලු තැන් දකිමින් එය සියල්ල සටහන් කරගන්නේය,
හොඳ කරන්න - එය ප්‍රතිඵල දෙන්නේය! එක් වරදක් කරන්න-
එයටද සමාන විපාක ලැබිය යුත්තේය.
ධර්මය දිගටම බලාපොරොත්තුව සිටින්නේය.
උදහස හෝ සමාව එය නොදන්නේය සැබවින්ම
එය මිනුම් බෙදන්නේය, එහි නිවරද තුළනයයි බර මනින්නේ,
කාලය එයට වැදගත් නොවේ, හෙට එය තීන්දුව දෙන්නේය,
ඒ නැත්නම් දින ගණනාවකට පසුව විය හැකිය.

මෙනයින් ඝාතකයා තම පිහියෙන්ම තමාට ඇනගන්නේය,
අධර්මිෂ්ඨ වූ විනිශ්චයකරුට තම රැකවලා අහිමි වන්නේය,
බොරු කියන්නා බොරුවෙන්ම විනාශ වන්නේය, හැංගි හොරා ද
කොල්ල කරුවාද සොරකම් කරන්නේ නැවත දෙන්නටය.

යුක්ති ගරුකව ගමන් ගන්නා ධර්මය මෙසේ වන්නේය
කිසිවෙකුටත් එයට පිටුපා යන්නට හෝ මග හැරයන්නට නොහැකිය.
එහි හදවත නම් ආදරයයි, එහි අවසානය නම්
සාමය හා සොඳුරු බව ක්ෂයවීමයි, අවනත වන්න!

පුස්තක මනාව පෙන්වන්නේය, මා සොයුරෙනි! හැම මිනිසාගේම







ජීවිතය
වන්නේ පෙර ජීවිතයේ ප්‍රතිඵලයයි,
පෙර කළ වරද ගෙනෙන්නේ දුක් වේදනාවන්ය
පෙර කළ හොඳ ප්‍රමෝදය මවන්නේය.

ඔබ වපුරන දේය නෙලාගන්නේ. බලන්නෑ අර කුඹුරු!
තලවලින් එන්නේ තලය. ඉරිඟු පෙර දී ඉරිඟුය
නිසලතාවයත් අඳුරත් එය දන්නේය!
එසේය උපදින්නේ මිනිසාගේ දෛවය.

පැමිණෙන්නේය ඔහු, නෙලාගත් ඇත්තා තමා වැපිරූ දෙය,
තල, ඉරිඟු ඉමහත් පමණක් නෙලා පෙර බවයන්හිද,
ඒ අතර තවත් ප්‍රමාණයක් වල්පැල හා විස ඒවා පලුදු කරන්නේය
ඔහුව සහ ඇඳුම් කන පොළවද,

හෙතෙම නිසිලෙස ක්‍රියා කරන්නේ නම්, උදුරමින් ඒවා,
වපුරමින් යහපත් බීජුවට ඒ තැන්වල,
පලබර හා පැහැපත් හා නිමලවේය පොළෝතලය,
ඉසුරුමත් වේය අස්වැන්න ද.
යමෙක් ජීවත් වෙයි නම්, උගෙණීමින් දුක් වේදනා උපදිනා අයුරු,
ඉවසමින් සන්සුන්ව, විරිය දරමින් ගෙවන්නට
තම සියලු ණය පෙරදී සිදුවූ නපුරට කරුණාවෙන් සහ සත්‍යතාවයෙන්
සියලු කල්හි;

මෙසේ නැතිව අය වූ කිසිවෙකුත්, ඔහු මනා ලෙස පවිත්‍ර කරමින්
බොරුව සහ ආශාවන් මමත්වයේ තම රුධිරයෙන්
යටහත්ව විඳුවමින්, එරෙහි වන්නා වූ සැම දෙයට යහපතින් පෙරලා
දෙමින් කරුණාව සහ හොඳම පමණක්;

දිනක් දිනක් පාසා ඔහු ජීවත් වෙයි නම් කරුණාබරව,
පවිත්‍රව, යහගුණයෙන්, මෛත්‍රියෙන්, සත්‍යයෙන්; උපුටා
ආශාවන් ඒවා අල්ලා සිටින තැනින් රුධිරමය මුල් ඇද
අවසන් වෙන තුරු ජීවිතයට ඇති සියලු ආශා;






බුදුහිමියන් ආගිය සෑම තැනකම මල්පහන් සුවඳදුම් චීවර ආදිය ගෙන පිරිස බුදුන් බැහැ දකින්නට ආහ. බුදු හිමියෝ ඒ ඒ අයට සුදුසු පරිදි දම් දෙසූහ.




ඔහු - මියෙද්දී - තබා යන්නේ තමාගේ එකතුව පරිදි
වැසූ ජීවිත ගිණුමකි, එහි නපුර සියල්ල මැරී සිඳී ගොසිණි,
එහි හොඳ කඨිනම්ය, බලවත්ය, ඈත හා නොදුරේ,
ජ්වායේ එල හඹා එන්නේය නිතින්.

අවශ්‍යතාවයක් නොවේ එවිට ජීවත්වන්නට අප ජීවිතය යැයි නම් කරනා සේ,
ඔහු ඇරඹෙද්දී ආරම්භ කළ දේ
අවසන්ය, තම අරමුණ වියා අවසන්ය මෙහිදී
ඔහුව මිනිසෙකු කළා වූ.
නැවත කිසිවිටෙක ආශාවන් වද නොදෙන්නේය ඔහුට,
කෙලෙසුන්
නොවේ කිලුටු කරන්නට, නොමැත වේදනා ලෝක ප්‍රීතියේ හෝ ශෝකයේ
හෝ බවයන් යළිත් ගෙවන්නට. ඔහු සපැමිණෙන්නේය
නිර්වාණයට. ජීවිතය හා එකක් වන්නා වූ ඔහු
යළිත් ජීවත් නොවන්නේය. ආශිර්වාද ලද හෙතෙම, තවදුරටත්
නොවන්නේය.
ඕම් මනි පද්මේ, හුම්! පිනි පොද ඇද වැටෙන්නේය
දිලිසෙන සාගරයට!

කර්මයෙහි ධර්මතාවය මෙයයි, උගෙන ගන්න!
අකුසලයෙහි සියලු යබොර ඉවත් කළ විට පමණි
ජීවිතය මියෙන්නේ ධවල ගිණි සිලුවක් සේ වැය වී
මරණය ද මැරෙන්නේය ඒ සමග.

නොකියන්න "මමය" "මම වීමි" හෝ "මම වන්නෙමි" යැයි
මාංසයෙහි නිවසින් නිවසට ගමන් ගන්නට නොසිතන්න
මගීන් සේ මතක තබා ගනිමින් හා අමතක කරමින්,
නොහොඳ තැනක නවාතැන් ගන්නා හෝ හොඳ තැනක නවාතැන්
ගන්නාහෝ.







නැවුම්ව පතිතවන්නේය විශ්වය මත්තෙහි ඒ එකතුව අන්තිමටම වූ
ජීවිත කාලයන්හි. එය ලැගුම් ගන්නේය
පණුවෙකු වියන්නා සේ සේද කෝෂයක්
එතුළ රැඳෙන්නට. එය ගන්නේය,

කායජීයන් හා ධාතූන් හරියටම නාග බිජුවට බිඳී
ගන්නා සේ කොර පොතු හා දළ, පුලුන් පියාපත් සහිත තණ ඇට
පියඹන්නා සේ ගල් උඩින් හා මැටි පස් හා වැලි ඉහළින්,
සොයා ගන්නා තුරු සිය වගුරු බිම බෝවී වැඩීමට.

තවද එය නික්මෙන්නේය පෙරටම උපකාර කරන්නට හෝ රිදවන්නට.
මරණය නම් වූ කටුක මරුවා පහර දුන් කල්හි,
රක්තව ඉබාගාතේ යන්නේය පවිත්‍ර නොවූ කැබෙලි ඔහුගේ, පාවෙමින්
පියාපත් මත ව්‍යසනයේ හා නිස්සාරයේ.

නමුත් සෞම්‍ය වූ හා ධම්මිෂ්ඨ වූවන් මිය ගිය කල්හි, මිහිරි සුසුම්ය
හෙලන්නේ
ලෝකයම වැඩෙන්නේය වඩාත් සාරවත්ව, හරියටම කතරක දිය දහර
ගිලී යන්නා සේ යළිත් දිදුලන්නට
නිමලව වඩාත් පුළුල් වූ කාන්තියකින්.

මෙසේ කුසලය දිනන්නේය වඩාත් ප්‍රීතිමත් අවදියක්
යළි අකුසලයෙන් එය නැවතෙන්නේය සැබෑ අවසානයට පෙර,
නමුත් මේ කරුණාවේ ධර්මතාව රජයන්නේය සියල්ල
කල්පය අවසාන වන්නට කලින්.

කිමෙක්ද පමාව? සොයුරෙනි! අඳුරයි පමාව! එයයි උපදවන්නේ
අවිද්‍යාව, එයින් ව්‍යාකූලව ඔබ සිතන්නේය මේ දසුන්
සැබෑවයි, පිපාස වන්නේය තව ලබන්නට, ලබමින් එල්ලෙන්නේය
ආශා රාගයන්හි ඔබට වේදනා ගෙන දෙන්නාවූ

යන්නා වූ ඔබ මැදුම් මාවතෙහි, එහි මාර්ගය වූ






අම්බපාලි බෞද්ධ උපාසිකාවකි. ඇ බහුශ්‍රැත කාන්තාවක් වූවාය. ඇ බෞද්ධ ධර්මයේ ගැඹුරු
තැන් පිළිබඳ සාකච්ඡා පැවැත්වූවාය. බුදු සසුනේ පැහැදුනු ඇය තමන්ගේ අඹවනය පූජා කළාය.




දීප්තිමත් විමශීනය මං සලකුණු සොයන්නේය, මුදුවූ නිසලතාවය සිලුටු කරන්නේ
ගන්නාවූ ඔබ නිර්වාණ මාර්ගය,
නැඹුරු වන්නේය චතුරාර්ය සත්‍යයට.

මුල්ම සත්‍යය දුකයි. නිෂ්ප්‍රභා නොකරන්න!
ඔබ අගය කරනා ජීවිතය නම් ඉතා දිගු තාපයකි:
රඳ පවතින්නේ එහි වේදනා පමණී, එහි සැපත
ඉගිලී පියඹා යන කුරුල්ලන් සේය.

උපතේ වේදනා, අසරණ දවස්හි වේදනා
ගිණියම් වෙන යෞවනයේ වේදනා, තාරුණ්‍යයේ උච්චයේ වේදනා
සීත ධූසර වසර වල වේදනා හා හුස්ම හිර කරනා මරණයේ වේදනා
මේවාය පුරවන්නේ ඔබගේ දුක්ඛිත කාලය.

මිහිරි වේය සුරතල් ආදරය, නමුත් අවමගුලෙහි ගිණිසිළු සිප ගතයුතුය
හිසට පුළුන් බඳු වූ ලැම හා ඇලී ගැලෙනා දෙතොල,
වික්‍රමාන්විතය යුද්ධමය වූ බලය, නමුත් ගිජුලිහිණී උපුටන්නේය
මහාධිපතියන්ගේ හා රජුන්ගේ සිරුරු සන්ධි.

අත්‍යාලංකාරය මිහිතලය, නමුත් එහි සියලු වනාන්තර වල සත්හු
උපායේ යෙදෙන්නේ එකිනෙකාගේ ඝාතනයටයි, ජීවත්වීමේ ක්ෂුධාවෙන්,
ආකාශය නිල්මිණී වේය, නමුත් මිනිසුන් හඬද්දි
නියගයේ එය බිඳක්වත් නොහෙලන්නේය.

අසන්නැ රෝගීන්ගෙන්, වැළපෙන්නවුන්ගෙන්, අසන්නැ
සැරයටියක වාරුවෙන් ගාටන්නෙකුගෙන්, තනිවූ අනාථ වූ,
"ආශා දැයි ඔබ ජීවිතයට?" - ඔවුහු කියන්නෝය
ඉපැදුන නිසා හඬන්නා වූ බිළිඳ නෑණැතියෙකු බව.

දෙවැනි සත්‍යය නම් දුකට හේතුවයි. කිනම් දෝමනස්සයන්
උපදින්නේද ස්වීයව, උපදින්නේ ද ආශාවන් නිසා නැතිව?







ඉන්ද්‍රියයන් හා ග්‍රහණය කරනා දෑ මුසුව් දල්වන්නේය
රාගයේ කඩිනම් ගිණි පුපුරු මහා ගින්නක:

මෙසේ ඇවිලේය තෘෂ්ණා, ආශා සහ නොයෙකුත් දේ වෙන පවස,
දැඩි ඇලුම් වන්නේය ඔබ අඳුරු ජායාවන්ට, ආලය කරන්නේය
සිහිනයන්ට;
ඒ මැද ඔබ සිටුවන්නේය ව්‍යාජ වූ ආත්මාර්ථය, මවන්නේය
ඒ වටා ලෝකයක්

අන්ධ වූ එපිට ආලෝකයට, බිහිරි වූ හඬට
මිහිරි වූ සුලගට හමා එන ඉන්ද්‍රගේ ආකාශයට එපිටින්
ගොළුවන්නේය හඬ ගැමට සැබෑ දිවියට
ඇත් කොට තබනා ව්‍යාජ මායාවෙන්.

මෙසේ වැඩෙන්නේය ආරවුල් හා ආශා රාග මිහිමත යුද මවනා,
මෙසේ වැළපෙන්නේය දුක්ඛිතව වංචාවට හසුවූ හදවත් හෙලමින් ලුණු
කඳුළු,
මෙසේ වැඩි වෙන්නේය අනුරාග, ඊර්ෂ්‍යා, ක්‍රෝධ, වෛර;
වසර අඹා එන්නේය ලේ තැවරුණු වසර

වියරු රත් දෙපයින්. මෙසේ ධාන්‍ය වැඩිය යුතු තැන,
පැතිරී යන්නේය බිරණ වල් පැල පච්චු මුල් සහිතව
විසකුරු මල් සහිතව, යහපත් බිජුවට අපහසුවෙනි සොයා ගන්නේ
පසක් වැටී දළු ලන්නට,

විස පානයෙන් මත්වී ආත්මය වෙන්ව යන්නේය,
තව තවත් බොන්නට දැඩි පවසින්, කර්මය පෙරළා පැමිණෙයි;
ඉන්ද්‍රිය ලැබ යළිත් තැවෙනා මමත්වය යළි ඇරඹෙයි,
එකතු කර ගනිමින් අලුත් ව්‍යාජයන්,

තෙවැන්න නම් දුක නැතිවීමය. මෙයයි සාමය -
මමංකාරයට ඇති ආලය ද ජීවිතයට ඇති ආශාව ද ජයග්‍රහණය කිරීම,






ශ්‍රාවකයන් වහන්සේ බුදුහිමියන්ගේ විනය දේශනයකට සවන් දෙති. බුද්ධ ශාසනය කාලාන්තරයක් පැවතෙන්නේ සඟ පරපුරෙහි විනය ගරුකත්වය නිසායි.




ගැඹුරට මුල් බැසගත් රාගයන් මුලිනුදුරා දැමීම,
අචල කිරීමට ඇතුළත අරගලය,

ලබන්නට දයා කරුණාව, ග්‍රහණය කරන්නට සදතනිකව වූ සුන්දරත්වය සමීපව,
ලබන්නට ශ්‍රී විභූතිය, වෙන්නට තමාගෙම අධිපති, තෘප්තිය ලබන්නට,
ජීවත් වෙන්නට දෙවිවරුන්ටත් ඔබ්බෙහි, මිණිය නොහැකි තරම් සම්පත්
ගොඩනගන්නට නිත්‍ය වූ නිධානය

පිදූ පිරිපුන් සේවයේ, කළ ක්‍රියාවන්ගේ
පින් පිණිස, මුදු වදනේ හා කෙලෙසුන් තොර දිනයන්හි:
මෙම වස්තූන් මිලින නොවන්නේය ජීවිතයේදී,
මරණයේදී පවා නොවන්නේය අපවාද.

අවසන් වේය සියලු දුක, මන්දයත් ජීවිතය හා මරණය නිරුද්ධ වන්නේය;
පහනක සිලුවක් නලියන්නේ කෙසේද තෙල් සියල්ල වැය වූ පසු?
ඉහත පැරණි ශෝකී වූ ගිණුම නිරවුල්ය, නවමුව නිමලය;
මෙසේය මිනිසා ලබන්නේ ශාන්තිය.

සතර වැනි සත්‍යය නම් මාර්ගයයි. එය විවරවේ පුළුල්ව,
පහසුවෙන් හැම පයකටම ඇවිද යා හැකි සේ, පහසුය සමීපය,
මෙයයි ආර්‍ය අෂ්ඨාංගික මාර්ගය, ඍජුව යන්නේය එය
සාමයට හා පිළිසරණට. අසන්නැ!

නොයෙකුත් මං පෙත් ගමන් ගන්නේය අර පෙනෙනා සොයුරි කඳු මුදුන් වෙතට
ඒ හිම වටා කැරලි ගැසෙමින් ඇදෙනා වළාකුළු සහිත වූ,
කඳු නගින්නා වඩාත් බෑවුම් වූ හෝ මෘදු වූ මාර්ගයෙන් පැමිණෙන්නේය
අර අනික් ලොව පෙනෙනා මුදුනට.

ශක්තිමත් වූ දෙපා නිබයව නගින්නේය කුණාටුවන් රළු මග,







ඉහළටම ඇදෙන්නා වූ භයානක වූ, කන්දෙහි පපුතුර;
දුබලයන් නැගිය යුත්තේ සෙමිනි වැටියෙන් වැටියට.
නවතිමින් මග නොයෙක් තැන.

මෙසේ වන්නේ ආර්‍යය අෂ්ටාංගික මග ගෙනෙන්නා වූ සාමය;
පහත් වූ හෝ උසස් වූ ශිඛර ඔස්සේ .
දැඩි වූ ආත්මය කඩිනම් වන්නේය, දුබල වූවෝ තාවරවන්නෝය.
සියල්ලෝම කෙසේ හෝ සැපත් වන්නෝය හිරු දිලෙන හිමයට.

මුල්ම යහපත් තලාව නම් නිසි ශික්ෂාවයි, පියමං කළ යුතුය
ධර්මයට ගරුකව, අත්මිදෙමින් සියලු දෝෂයෙන්;
සැලකිලිමත් වෙමින් කර්මයට, එයයි මවන්නෙ මිනිසාගෙ දෛවය;
ඉදුරන්ට ඉහළින් අධිපතිව.

දෙවැන්න නම් නිසි අභිප්‍රායයි. ඇති කරගන්න කරුණාව හොඳ හිත
හැම සත වෙත, නැසෙන්නට හරිමින් අකරුණාව
තණ්හාව හා රෝෂය, කෙරෙමින් ඔබේ ජීවිත
හමායන සුලග තරම් සැහැල්ලුව.

තෙවැන්න නම් නිසි කථාවය. පාලනය කරන්න ඔබේ දෙතොල
ඒවා මාලිගයක දෙරටු ලෙසින් සිතා, ඇතුළත රජු වෙසෙනා;
ශාන්ත, යහපත් හා සුශීල විය යුතුය සියලු වදන්
ඒ අබිමුව ජයගන්නා.

සතර වැන්න නම් නිසි හැසිරීමයි. හැම ක්‍රියාවක්ම විය යුතුය
වලලන්නට වරද හා උපකාර කරන්නට පින් කිරිය වඩන්නට.
හරියටම පළිගු පබළු තුළින් පෙනෙන්නා සේ ඒවා එක්කරනා රිදී හුය
සියලු යහපත් ක්‍රියාවන් තුළින් පෙන්වන්න කරුණාව.

ඇත්තේය උසස් වූ සතර මාර්ගයන්. ඒ මත පා තබා
යා හැක්කේ පහත සඳහන් ලෞකික වූ දෑ කළා නම් පමණි -
හරි පවිත්‍රතාව, හරි සිතුවිලි, හරි හුදකලාව,






බුදුහිමියන් අවසාන භෝජනය පිළිගත්තේ චුන්දකර්මාර පුත්‍රගෙනි. ඔහු විසින් පිළිගන්වන ලද ආහාරය සූකර මද්දව නමිනි. මේ ආහාරය නිසා බුදුහිමියෝ රෝගාතුර වූහ.




හරි ප්‍රමෝදය, නොවිහිදන්න පියපත්

හිරු කරා යන පියාසරයක, පියපත් රහිත ආත්මයට යා හැකි මුත්
පෙරට!
මිහිරිය පහත ඇති වා ගැබ සුරක්ෂිතය, හඳුනන්නේය
නේවාසික වූ තලාවන්: ශක්තිමත් වූවන් පමණී හැරයන්නේ
තමාම ගොඩනගනා කූඩුව.

හිතේ සිය කරුණාව ආදරය, දනිමි මම, බිරිඳ හා දරුවාගේ;
ප්‍රසන්නය මිතුරෝ සහ කෙළි සෙල්ලම් ඔබගේ වියෙහි;
යහපත් ජීවිතයේ සෞම්‍ය පින් කිරිය පලබරය;
දැඩි වූ මුත්, එහි සංවේගයන් ව්‍යාජය.

ජීවත් වන්න - එසේ ජීවත් විය යුතු වූ අය:
නංවන්න රුවන් හිණිපෙළ ඔබගේ දුබලකම්වලින්; නැගෙන්න
දිනපතා ප්‍රවාසයෙන් ඒ සිහින මායා තුළින්
වඩාත් සොඳුරු වූ සත්‍යයන්

ඔබ ගමන් ගන්නේය වඩාත් පැහැදුල් වූ ඉහළට,
ලබමින්  වඩාත් පහසු නැග්ම හා වඩාත් සැහැල්ලු වූ අකුසල් පොදි,
වඩාත් විසල් වීරිය ඇතිවේය බිඳින්නට ඉඳුරන්ගෙ බන්ධන,
අවතීර්ණ වෙමින් මාර්ගයට එසේ දිනන්නා

එවන් තත්වයකට පහස ලබන්නේය මුල්ම අවස්ථාවෙහි,
ඔහු දන්නේය ආර්‍ය සත්‍යයන්, ආර්‍ය අෂ්ටාංගික මාර්ගය;
සුළු හෝ බොහෝ පිය සටහන් වලින් ඔහු අත්කර ගන්නේය
නිර්වාණයේ උතුම් නිවස්න.

දෙවැනි අවස්ථාවට පත්වෙන්නා, මිදෙන්නේය
සැකයෙන්, වැරදි කල්පනාවෙන් හා අභ්‍යන්තරයේ ආරවුලෙන්,
සියලු ආශාවන්ගේ අධිපතිගෙන්, මිදෙන්නේය සියලු පූජකයන්ගෙන් හා
පුස්තකයන්ගෙන්, ජීවත් වන්නේය ඔහු තව එකම එක් දිවියක්.







මෙයටත් ඉදිරියෙන් ඇත තෙවැනි අවස්ථාව, සියල්ලෙන් සේදී නිමලව
මෙහිදී වැඩී ඇත්තේය උතුම් වූ විඥානයක්, එය නැගී ඇත
ආදරය කරන්නට සියලු සතුනට පරිපූර්ණ වූ සාමයෙන්.
ඔහුගේ ජිවිතය අවසානයේ, ජිවන සිපිරිගෙය

බිඳී යන්නේය. තවද ඇත්තේය ඇතැමුන් සැබවින්ම යන්නාවූ
ජිවත්ව පෙනි පෙනීම අත්‍යන්ත වූ අරමුණට
සතර වැනි අවස්ථාවෙන් උතුම් වූවන්ගේ - බුදුවරයෝය ඔවුහු -
නිමලය ඔවුන්ගේ ආත්මය.

බලන්නෑ! රෞද්‍ර වූ සතුරන් මරා දැමුවාසේ යම් රණ විරුවෙකු,
මේ යන මග දුවිල්ලෙහි වැතිරෙති දස අකුශලයන්,
මමත්‍වයට ඇති ආශාව, ව්‍යාජ භක්තිය, සැකය යන තුන ද
තවත් දෙදෙනෙක් වූ වෛරය හා රාගය
මේ පහ ජය ගන්නා ගමන් කර ඇත්තේය
අවස්ථා තුනක් සතරින්: නමුත් තවමත් ඇත්තේය
මිහිපිට ජීවිතයට ඇති ආශාව, සුරලොවට ඇති ආශාව,
ආත්ම වර්ණනාව, ප්‍රමාද දෝෂ සහ උඩගුකම.

අර පෙනෙනා හිම මුදුන මත සිටගත්තෙකු සේ
කිසිවෙකුත් නැතිව ඉහළින් ඉම නැති නිල හැරෙන්න,
මේ අකුසලයන් වැනසූ පසු, මිනිසා පැමිණෙන්නේය
නිර්වාණයේ දෙරටුවට.

ඒ අයට දෙවිවරු පවා ඊර්ෂ්‍යා කරන්නෝය ඔවුන්ගේ පහත් අසුන්හි සිට
ගරා වැටෙනා තුන් ලොවට පවා නොසෙල්විය හැකිය ඔහුව;
සියලු ජිවිත ඔහු ජීවත් වී අවසන්ය, සියලු මරණය මැරී ගොසිණි;
කර්මය තවදුරටත් ඇති නොකරන්නේය.

අලුත් නිවහන්, නොසොයමින් කිසිත්, ඔහු ලබන්නේය සියල්ල;
මමත්‍වය අභිබවා යමින් විශ්වය වැඩෙන්නේය "මම" යන්නට;






බුදු හිමියන් පිරිණිවන් පෑ බව අසා අනන්ද හිමියෝ අතිශයින් දුකට පත් වූහ. බුදුහිමියන් නොබෝ දිනකින් පිරිණිවන් පාන බව දැන්වූයේ ආනන්ද හිමියන්ටයි.




කෙනෙක් කියත් නම් නිර්වාණය යනු නිරුද්ධවීම යැයි ඔවුන්ට පවසන්න
එය සාවද්‍ය බව.

කෙනෙක් කියයි නම් නිර්වාණය යනු ජීවත්වීම යැයි,
කියන්නැ ඔවුන්ට ද එය වැරදි බව; නොදන්නෝය ඔවහු
ඔවුන්ගේ බිඳුණු පහන්වලට ඔබ්බේ දැල්වෙන ආලෝකය
නොදන්නෝය ඔව්හු ජීව රහිත වූ කාල රහිත වූ ප්‍රමෝදය.

අවතීර්ණ වන්න මාර්ගයට! වෙනත් පරිතාපයක් නොමැත වෛරය තරම්!
වේදනාවක් නොමැත රාගය තරම්, රැවටීමක් නොමැත ඉඳුරන් තරම්!
අවතීර්ණ වන්න මාර්ගයට! ඉතා දුර ගොස් ඇත්තේය හෙතෙම
එකම ආල බැඳි දෝෂයක් හෝ පයින් පාගා දැමූ.

අවතීර්ණ වන්න මාර්ගයට! එහි උනන්නේය නිරෝගී කරනා ජල දහරා
සිඳිමින් සියලු පවස! එහි පිපෙන්නෝය සඳතනික වූ පුෂ්පයෝ
බුමුතුරුණක් සේ එක දිගටම ප්‍රමෝදයෙන්! එහි තෙරපෙන්නේය
හනික වූ සොඳුරුම වූ හෝරාවන්!

සියලු මිණි මුතුවලට වඩා නිදන් ඇත්තේය ධර්මයෙහි;
පැණි වදයකටත් වඩා මිහිරිය එහි මිහිර; එහි ආනන්දයන්
සමකළ නොහැක කිසිදු ප්‍රමෝදයකට. මේ නිසා ජීවත්වීම උදෙසා
අසන්න මෙම පංචශීලය නිසි ලෙස :

පරපණ නොනසන්න - ඇතිව දයානුකම්පා - ඔබ අතින් නොමියෙන
ඉතාම පහත් වූ සත්වයා පවා සිටින්නේ උගේ ගමනේ ඉහළට යමිනි.

නිදහසේ දෙන්න පිළිගන්න, නමුත් කිසිවෙකුගෙන් නොගන්න
ගිජු බවින් හෝ බලාත්කාරයෙන් හෝ වංචාවෙන්. අනුන්ගේ වූ දෙය.

මුසාවෙන් වැළකෙන්න, අනුන් හෙලා කථා නොකරන්න, බොරු
නොකියන්න;
සත්‍යය නම් අභ්‍යන්තර පවිත්‍රතාවයේ වදනයි.







මත්ද්‍රව්‍යයන්ගෙන් හා මත් පැනින් වලකින්න ඒවා සිහිය මොට කරන්නේය,
පැහැදිලි මනස්, පවිත්‍ර සිරුරුවලට අනවශ්‍යය සෝම ද්‍රව.

ඔබ අසල්වැසියාගේ බිරිඳට ඇලුම් නොකරන්න,
කාමයෙහි වැරදි හැසිරීම්වලින් වලකින්න.

මෙම වදන් හිමියන් වදළේ යුතුකම් ලෙසින් ඉටුවිය යුතු
මවට, පියාට, දරුවන්ට, සගයන්ට, මිතුරන්ට;
උගන්වමින් මෙබඳු වූ අයට නොහැකි වූ එතරම් කඩිනමින් බිඳින්නට
බැඳී සිටිනා ඉඳුරන්ගෙ යදමින් - දුබල වූ දෙපා සහිත ඔවුන්ට
යා නොහැකි වූ ඉහළ මාර්ගයක - ඔවුන් සාදාගත යුතුය
මේ ඉඳුරන් පිරි ජීවිතය වරදින් තොරව
නිති දන් දීමෙන් ද, ආර්‍ය අෂ්ටාංගික මාර්ගයේ මුල්ම පිය සටහනින්ද;
නිමලව ජීවත් වෙමින්, බැතිමත්ව, ඉවසීමෙන්, කරුණා බරව,
සියලු සතුන්ට එකසේ ආදර කරුණාව දක්වමින්;
මන්දයත් නපුරෙන් ලැබෙන්නේ නපුරු ඵලමය
පෙරදී කළා වූ, හොඳින් ලැබෙන්නේ යහපත් ඵලමය,
ගෘහ වාසිකයා තමන්ගේම දොස් ඉවත් කරමින්
ලෝකයාට උපකාර කරන්නාවූ තරමටය;
ඊළඟ අවස්ථාවේ දි සතුට ප්‍රීතිය ලබන්නේ,
වඩාත් හොඳ බවයක් ලබන්නේ. මෙසේ දෙසුවේය ඔහු
පෙරදී මෙන්, අප මහසත් ඇවිද යද්දි
රජගහ නුවර වේළුවනයේ:
එක් අරුණක ඔහු සක්මන් කරද්දී දුටුවේය
සිගාල නම් ගෘහ මූලිකයා, නා පිරිසිදුව
මුඩු හිසෙන් නැමී වඳිනු පොළවට,
අහසට, හා සතර දිසාවට, විසි කරමින් දෑතින්ම
සහල්, රතු සහ සුදු. "කුමකටද කාට ද ඔබ
ඔය වඳින්නේ සොයුර?" යැයි විමසීය සමිඳු; සිගාල
පිළිතුරට දුන්නේ "මෙයයි මාර්ගය උතුමෙනි! අපේ පිය මුතුන් මිත්තෝ
උගැන්වූයේ හැම අරුණකම, වෙන වැඩක් කරන්නට පෙර,






බුදුහිමියන් නොබෝ දිනකින් පිරිණිවන් පාන බව අසා මහජනයා අතියින් ශෝකප්‍රාප්ත වූහ.




නැවැත්විය යුතු බව නපුර අහසින් එන
පහත පොළවෙන් එන, හැම දෙසින්ම සුලඟින් එන."
ලොවින්ම පුද ලද වුන් මෙහිදි මෙසේ කීහ: "සහල් නොවිසුරුවන්න,
ඒ වෙනුවට දෙන්න කරුණා සිතුවිලි හා ක්‍රියා සැම සතවෙත.
දෙගුරුන්ට නැගෙනහිරට සේ හිරු නැගෙනා;
ගුරුවරුන්ට දකුණට සේ සියලු වස්තු සම්පත් ගෙනෙනා;
බිරිඳට සහ දරුවන්ට බටහිරට සේ සියලු ආලෝක දිලෙනා
ආදරයේ හා සන්සුන්තාවයේ, සියලු දින නිම වෙනා;
මිතුරන්ට සහ නෑදෑ හිතවතුන්ට සහ සියලු සතහට උතුරට සේ;
යටහත්ව මිහිතලය යට වෙසෙනා ජීවීන්ට, රහතුන්ට;
සුරදූතයන්ට, මිය පරලොව ගිය සැමට;
මෙසේය සියලු නපුර වසා ඉවත් කළ හැක්කේ, මෙසේය
සදිසාව සුරක්ෂිත කළ හැක්කේ."

නමුත් තමාගේම වූ - කසාවත් දරන්නවුන්ට -
අවදිවූ රාජාලියන් සේ, සරණා,
මිදී ජීවිතයේ පහත් මිටියාවතෙන්, හරවා සිය පියපත් හිරුවෙත -
මේ අයට ඔහු කියා දුන්නේ දස ශීලය
ශ්‍රමණයන් දත යුතුදේ තුන් දොර, තුන් සිතුම්;
මනසේ හයක් වූ අවස්ථා, පස් වැදෑරුම් වූ බල;
පවිත්‍රතාවයේ උතුම් වූ ද්වාර අට, අවබෝධයේ විධි -
ඉද්ධි, උපේක්ෂා,
පස් මහා භාවනා, මේවාය අහර
අමෘතයටත් වඩා මිහිරි වන්නා වූ උතුම් විඥානයට,
ජාන සහ ප්‍රධාන වූ තුන් සරණ.
තවද තම සංඝයාට ඔහු කියා දුන්නේය ජීවත් විය යුතු ආකාරය;
නිදහස් වී ආදරයේ හා වස්තු සම්පත්වල දැල් වලින්;
කෑමට බීමට ගත යුතු දේ හා ගෙන යා යුතු දේ - සරල වූ රෙදි කඩ
තුනක්;
කසාවත් වූ කැබලි මුට්ටු කොට මැසූ, උරයක් විවරව -
බඳ පටිය, පාත්‍රය හා පෙරහන් කඩ. මෙසේ ඔහු
තැබිය අඩිතාලමක් අපගේ මහා සංඝයාටද,







ආයශී වූ චීවර ධාරීන්ය ඔවුහු
අදත් නැගී සිටින්නා වූ උපකාරකරන්නට ලෝකයා හට.

මෙසේ මේ රාත්‍රිය පුරා ඔහු දෙසුවේය දහම්:
කිසි නෙතක නොවී නින්ද - මන්ද යත් ඇසූ හැම දෙන
ප්‍රමුදිත වුවෝ විඩා නොවූ ප්‍රීතියෙන්. මහ රජු ද,
මෙය අවසන් වූ කළ, නැගිට සිය අසුනින්
වහන්රහිත දෙපයින් නැමී සිය හිස තම පුතු ඉදිරියේ
සිප ගනිමින් ඔහුගේ සළුපට කෙළවර, කීය ඔහු මෙසේ., "පිළිගන්න මාව,
මා පුතුනි! මමය ඔබගේ සමාගමයේ පහත්ම වූ අඩුම වූ ඇත්තා."
සොඳුරු යශෝධරාව ද, දැන් තුටුව, -
හැඬුවාය "උතුමාණෙනි! මේ රාහුලට ද දෙන්න
ඔබගේ වදන් රාජ්‍යයේ සම්පත
ඔහුගේ උරුමය සේ." මෙසේ ඔවුන් ද ඇතුළ් වූහ
මාර්ගයට.

--------------------------------

මෙතැනින් අවසන් වේය මා ලියනා දේ
ආදරය කරනෙමි මම හිමියන්ට ඔහු අපට වූ ආදරය නිසාම.
මදකි මා දන්නේ, මදකි මා සටහන් කළේ
ගුරුන් පිළිබඳව හා සාමයේ මාර්ගය ගැන.

මෙයින් පසු පන්සාළිසක් වසර තුළ කියා දුන්නේය ඔහු
නොයෙක් දේශයන්හි, නොයෙක් බස් දොඩන්නවුන්ට, පිළිගන්වමින්
අපගේ ආසියාවේ ආලෝකය, තවමත් අත්‍යලංකාර වූ
ප්‍රබල වූ කරුණා මහිමයෙන් තවමත් ලොව ජය ගන්නාවූ:
උතුම් වූ පත පොත ලියා ඇත ඔහු දෙසූ දේ,
ඔහු ගමන් ගත් මාර්ග, ප්‍රෞඪ නිරිඳුන්
සටහන් කළේ ඔහුගේ මිහිරි වදන් ශිලා ලිපිවල හා ලෙන් තුළ
තවද සඳහන් වේය - කාලයාගේ සපිරුමෙන් -






බුද්ධශාසනයේ මහණ වූ අවසාන භික්ෂුන් වන්නේ සුභද්‍ර නම්. බුදු හිමියන් රෝගාතුරව වැතිර
සිටින කල්හි සුභද්‍ර පැමිණ බුදුහිමියන්ගෙන් කරුණු විමසන්නට අවසර පැතිය. බුදු හිමියෝ




බුදුන් පරිනිර්වාණයට පත්වූ අයුරු - ඒ මහා තථාගතයන් වහන්සේ,
මිනිසුන් අතර මිනිසෙකුව සියල්ල සපුරමින්:
මෙයින් පසු ද දස දහස් ලක්ෂ ගණන් වූ පිරිසක්
ගමන්ගෙන ඇත ඒ මාර්ගය ඔහු ගිය අතට ගමන් කරනා
නිර්වාණයට නිසලතාවය රජයන්නාවූ.

----------------------------------

අහෝ! උතුම් වූ මහ සතුනි! අහා! උසස් වූ ශාන්තිනායකයාණෙනි!
කමා කරන්නැ මේ දුබල ලියමනට, එයින් වරදක් වී නම් ඔබට,
තැත් කළෙම් ඔබේ මහා කරුණාව මනින්නට මා සුලුවූ ශක්තියෙන්.
අහෝ! කරුණාවන්ත! සොහොයුර! මාර්ග උපදේශකය! ධර්මයේ පහන!
ඔබගේ නාමයෙහි හා ඔබගේ සරණයන්නෙම් මම!
ඔබගේ පවිත්‍ර වූ ධර්මයෙහි සරණ යන්නෙම් මම!
ඔබගේ සංඝ රත්නයේ සරණ යන්නෙම් මම! ඕම්!
පිනි බිඳු ඇත්තේය නෙලුම මත! නැගෙන්න මහා සූර්යය!
ඔසවන්න මගේ පාත්‍රය මුසු කරන්න මා මහා සයුරට.
ඕම් මණී පද්මේ හුම්, එළඹෙන්නේය හිරු උදව!
ගිලිහී වැටෙයි පිනි බිඳුව දිලිසෙන සාගරයට!






බුදුහිමියන් පිරිණිවන් පෑවේ කුසිනාරා නුවර මල්ලව රජුන්ගේ සල් උයනෙහිය. ගිහි පැවිදි සියල්ලෝම ශෝකයෙන් ඇලලී ගියහ.




## බුදු සමය අසදෘශයි

බෞද්ධ හා අබෞද්ධ කම් පිළිබඳව නොතකා මෙම ලෝකයේ හැම සාමයික ක්‍රමයක් ම විමසා බැලුවෙමි. බුදු හිමියන් විසින් දේශනා කරන ලද ආර්ය අෂ්ඨාංගික මාර්ගයත්, චතුරායර්‍ය සත්‍යයත් සතු විභූතිය සහ පෘථුල බව ඉක්මවා යන කිසිම දහමක් මට ඒ අනික් ආගම් එකක වත් දැකිය හැකි නොවේ. බුදුහිමියන්ගේ මාර්ගයට අනුව මගේ දිවි පෙවෙත සකස් කොට ගැනීමෙන් මම තෘප්තිමත් වන්නෙමි.

මහාචාර්‍ය රිස් ඩේවිස්

## ලෝකය හා විශ්වය

## අතෘප්තිකර ලෝකය

බුදු හිමියෝ ලෝකය හා සමග කෝප නොවූහ. ලෝකය අතෘප්තිකර ස්ථානයක් වශයෙන් උන් වහන්සේ දුටු සේක. බුදුහිමියන් ලොව දුටුවේ අනිත්‍ය ස්ථානයක් වශයෙන් මිස නපුරු ස්ථානයක් වශයෙන් නොවේ. මෝහයෙන් පිරි ස්ථානයක් වශයෙන් මිස විප්ලවකාරී ස්ථානයක් වශයෙන් නොවේ. සිය වදන් නොඅසන අය ගැන බුදු හිමියෝ කලබලයට පත් නොවූහ. ඒ ගැන කෝපයට ද පත් නොවූහ.

මහාචාර්‍ය එලියට් "බුදුසමය හා හින්දු සමය" නම් පොතින්







## දෙවියෙකුගෙන් තොර විමුක්තිය

ලෝක ඉතිහාසයේ ප්‍රථම වරට බුදුහිමියන් විසින් දේශනාකරන ලද්දේ තමාගේ විමුක්තිය තමාටම ලබාගත හැකි බවයි. එමෙන්ම මෙම ජීවිත කාලය තුළදීම එම විමුක්තිය ලබාගත හැකි බවද බුදුහිමියෝ දෙසූහ. ඒ සඳහා දෙවියෙකුගේ හෝ දෙවියන්ගේ හෝ පිහිට අනවශ්‍ය බවද බුදුහිමියෝ දෙසූහ. ආත්ම විශ්වාසය, පාරිශුද්ධිය, ශීලය, ප්‍රඥව, සාමය හා මෛත්‍රිය පිළිබඳ දහම උන්වහන්සේ ප්‍රබල ලෙස උගැන්වූහ. බුද්ධිය, ප්‍රඥාව අත්‍යවශ්‍ය බව උන්වහන්සේ දැඩිලෙස කියා සිටියහ. මක් නිසාදයත් ප්‍රඥවෙන් තොරව මේ ජීවන කාලය තුළදී විදර්ශනාව ලබාගත නොහෙන හෙයිනි.

මහාචාර්‍ය එලියට් "බුදුසමය සහ හින්දුසමය" යන ග්‍රන්ථයෙනි







## ආගම් උමතුවක් නැත

ආගම් උමතුවෙන් තොර එකම ආගම වශයෙන් සැලකිය හැක්කේ බුදුසමය පමණි. බුදුසමයේ හරය නම් ආත්ම විජයයෙන් ආධ්‍යාත්මික විප්ලවයක යෙදෙන පුද්ගලයන් බිහිකිරීමයි. ඒ නිසා සිය ආගමට මිනිසුන් හරවා ගැනීම පිණිස බුදුසමය මිල මුදල් හෝ පොළඹවාලීම් හෝ බලය හෝ භාවිත කරන්නේ නොවේ. බුදුහිමියෝ විමුක්ති මාර්ගය පෙන්වූ සේක. ඒ මඟ ගමන් ගැනීමට තීරණය කිරීම එක් එක් පුද්ගලයාට අයත් කාර්යයකි.

**මහාචාර්ය ලක්ෂ්මී නරසු "බුදුසමයේ හරය" නම් ග්‍රන්ථයෙන්.**







## ආත්මය

## සියළු වැරදිවලට මූල ආත්මය පිළිබඳ විශ්වාසයයි

*ආත්මයක් නැතැයි යන ප්‍රකාශය නිසා බුදුසමයට මානව චින්තනයෙහි අසහාය ස්ථානයක් හිමිවේ. බුදුහිමියන්ගේ ඉගැන්වීමට අනුව, ආත්මයක් පිළිබඳ අදහස මනඃකල්පිතයකි, මිථ්‍යා විශ්වාසයකි. එවැන්නක් යථා තත්ත්වයෙහි නොමැත. මේ හේතු කොටගෙන "මමය, මාගේය," වැනි අදහස් උදහස් සහ ආත්මාර්ථකාමය, තණ්හාව, ආශාව, බැඳීම්, ක්‍රෝධය, ද්වේශය, මාත්සය්‍ය‍ීය, උද්ධච්ඡ බව, ආත්ම මානය ආදී කෙලෙස් වගී හා අපවිත්‍රතාත් අර්බුදත් හටගනී. පෞද්ගලික ගැටුම්වල පටන් ජාතීන් අතර යුද කෝලාහල දක්වා සියලුම අවුල් වියවුල්වලට මූල එයයි. කොටින් කිවහොත් ලෝකයේ සියළුම නරක නපුරුකම්වලට මූලික හේතුව මේ මිථ්‍යා විශ්වාසයයි.*

***පූජ්‍ය ආචාය්‍යී වල්පොල රාහුල මහා ස්ථවිරයෝ "බුදුහිමියන්ගේ ඉගැන්වීම" නම් පොතිනි.***







**Callers jam for Buddhist book.**

*Straits Times, 19 March, 1994*

## "Treasury of Truth - Illustrated Dhammapada"

by Ven. W. Sarada Maha Thero

Among the greatest publications in the history of Buddhism, "Treasury of Truth - Illustrated Dhammapada" is a monumental work.

* Over 900 pages of A4 size.
* Adorned with 423 illustrations in full-colour, at the rate of one especially commissioned illustration for each stanza.
* Weighs 4 kg.
* Each copy is encased in a slip-cover.
* Distributed free (A donation of S$100 is stipulated for each copy to enable the continuation of the Publishing Programme).
* Included in the text are Pali stanza in Roman Characters - literal translation of stanza - Popular translation - original story out of which stanza stems and commentaries on words, expressions and concepts.

Each home should have a copy for perpetual reference.

## Life of the Buddha in Pictures

by Ven. W. Sarada Maha Thero




Consisting of more than 300 colour illustrations, this book narrates the life of the Buddha, for Buddhists, non-Buddhists, for young and old alike.

* The discourse on downfall is depicted here in pictures.
* Religious and social morals are underlined in a series of especially commissioned full-colour illustrations.
* The book is available in English, Sinhala, Chinese, Japanese and Korean.

PREVIEW OF ILLUSTRATED JĀTAKA TALES



## Illustrated Jātaka Tales

by Ven. W. Sarada Maha Thero

This book is perhaps the most ambitious Buddhist literary effort ever undertaken.

* It is being published in three volumes - each consists of about 1000 pages.
* The text is supported by over a thousand especially commissioned illustrations.
* All the Jataka Tales are accommodated in this advanced illustrated edition.
* The most impressive collection of stories of the world is presented with illustrations for the first time in the history of Buddhism.

A massive investment is necessary for the completion of this publishing effort. The work should be generously supported both as a meritorious activity of the highest order and as a service to mankind. A page can be sponsored for S$350 in one's own name or in memory of a near and dear departed person. A page can even be dedicated to some organization, institute or some individual.

*For details please enquire* **Ven. Weragoda Sarada Maha Thero,** Chief Resident Monk, Singapore Buddhist Meditation Centre, No.1, Jalan Mas Puteh, Singapore 128607. Tel: 7783330 Fax: 7730150






## සම්පාදක ස්වාමීන්ද්‍රයන් වහන්සේ



සිතුවම් සහිත "පෙරදිග පහන" නම් පොතෙහි සංස්කාරකයන් වහන්සේ ගරු වේරගොඩ සාරද මහා ස්ථවිරයන් වහන්සේයි.

උන්වහන්සේ උපත ලැබුවේ 1941 දී ශ්‍රී ලංකාවේයි. බෞද්ධ භික්ෂුන් වහන්සේ කෙනෙකු වශයෙන් එතුමන් පැවිදි බව ලැබුවේ 1953 දිය. එවකට, උන්වහන්සේගේ වයස අවුරුදු 12 කි.

ශ්‍රී ජයවර්ධනපුර විශ්ව විද්‍යාලයේ උන්වහන්සේ උපාධි ලැබුවේ 1964 දිය. පාලි, සංස්කෘත, සිංහල සහ බුදු සමය පිළිබඳ හසළ බුද්ධියකින් හෙබි උන්වහන්සේ 1965 සිට 1967 දක්වා ඉඳුරුපන්විල පිරිවෙන් විද්‍යාලයේ පරිවේනාධිපති පදවිය හෙබ වූ සේක. එසේම, 1967 සිට 1969 දක්වා ඒ ස්ථවිරයන් වහන්සේ අවිස්සාවේල්ලේ සුධර්මාරාම පිරිවෙන් විශ්වවිද්‍යාලයේ අධිපති පදවිය ද ඉසිලූ සේක.

ජාත්‍යන්තර බුදු සමය උදෙසා සාමයික සේවයට කැපවෙමින් උන්වහන්සේ සිය ජගත් ව්‍යාප්ත ධර්මදූත මෙහෙය ආරම්භ කළේ මැලේසියාවේ පිනෑං නගරයේදිය. ගරු වේරගොඩ සාරද ස්ථවිරයන් වහන්සේ එහි මහින්දරාම ඉරිදා පාලි පාසලේ විද්‍යාලයාධිපති පදවිය ඉසිලූහ.

1979 දී ගරු වේරගොඩ සාරද ස්ථවිරයන් වහන්සේ සිංගප්පූරුවට සැපත්ව එහි බෞද්ධ භාවනා මධ්‍යස්ථානය පිහිටුවාලූහ. දැනටත් ගරු වේරගොඩ සාරද මහ ස්ථවිරයන් වහන්සේ ඒ භාවනා මධ්‍යස්ථානයෙහි අධිපති ධුරය දරති.

ඇමරිකානු - ශ්‍රී ලංකා බෞද්ධ සමිතියේ සමාරම්භක සාමාජිකයෙකු වන සාරද මහා ස්ථවිරයන් වහන්සේ දැනටත් ඒ සමිතියේ අධ්‍යක්ෂ පදවිය හොබවති.

ජපන් - ශ්‍රී ලංකා බෞද්ධ සමිතියේ සමාරම්භක සාමාජිකයෙකු වන සාරද මහා ස්ථවිරයන් වහන්සේ දැනට එම සංවිධානයේ මහලේකම් වරයායි. ගරු වේරගොඩ සාරද මහා ස්ථවිරයන් වහන්සේ දකුණු සිරිලක අම්බලන්ගොඩ, වේරගොඩ ජයන්ති විහාරයේ අධිපතීන් වහන්සේයි.

ගරු සාරද හිමියන් විසින් බුදු සසුනට ඉටු කෙරෙන ඉතාම විශිෂ්ඨ මෙහෙය නම් බුදු සමය පිළිබඳ පත - පොත මුද්‍රණයෙන් ප්‍රකාශ කිරීමයි. උන් වහන්සේ විසින් මුද්‍රිත පොත්වලින් පිටපත් දශ ලක්ෂයක් පමණ මුදල් අයකිරීමකින් තොරව ලොව පුරා ප්‍රචාරය කොට ඇත්තේය. දැනට එතුමන් විසින් ප්‍රකාශිත පොත් ගණන 105 කි. ඉන් හයක්ම පළවී තිබෙන්නේ එතුමන්ගේ කර්තෘත්වයෙනි. ඒ හය නම් 1. බුද්ධ වචනය, 2. බෞද්ධ භාවනා මාර්ගය, 3. මෛත්‍රී භාවනාව, 4. ආධුනිකයන්ට බුදු දහම, 5. මරණයට බිය වන්නේ ඇයි? 6. බුදු සිරිත සිතුවමින් යන කෘතීන්ය. බුදු සිරිත සිතුවමින් කෘතිය ගරු සාරද මහා ස්ථවිරයන් වහන්සේගේ කෘති අතර දැනට ඉතාමත්ම ජනප්‍රිය ප්‍රකාශනයයි. ගරු වේරගොඩ සාරද ස්ථවිරයන් වහන්සේගේ උදරතම කෘතිය නම් "ධර්ම භාණ්ඩාගාරය", නම් වූ සිතුවම් සහිත ධම්ම පදයයි.

**එඩ්වින් ආරියදාස**





**සිංගපූර් බෞද්ධ භාවනා මධ්‍යස්ථානය**
අංක 1, ජලන් මාස් පුටේ, සිංගපූර් 128607
දුරකතන: 7783330, ෆැක්ස්: 7730150

**ISBN NO. 981-00-7929-X**